# දෙවැනි මුද්‍රණයට පෙර වදනක්...

මට හින්දු ආගම පිළිබඳව දැනුමක් නැත. නමුත් අපේ පවුල සමඟ ඉතා කිට්ටු සම්බන්ධකම් පවත්වන ගුලාති පවුලේ උෂා හින්දු දර්ශණය මැනවින් දත් හොඳ හින්දු කාන්තාවකි. ඉන්දියාවේ පවත්නා ආගමික නොසන්සුන්තාවය ගැන අප කතාකල අවස්ථාවක ඇය මෙසේ කීවාය, ''ජේසුස් වහන්සේ ධනපතීන්ට විරුද්ධව සටන් කරපු හැටි තවම බයිබලෙත් අයින් කරල නෑ. ජේසුස් එක වරක් වෙළඳ පොළකට කඩා පැනල කුට වෙළෙන්දන්ට පහර දුන්නයි කියල පරන තෙස්තමේන්තුවේ සඳහන් කරනව. ඒත් අද කතෝලික පල්ලිය තමයි ලෝකෙ තියන ලොකුම ධනපති ආයතනය. ඒ විතරක් නෙමෙයි. බලගතුම දේශපාලන ආයතනයත් කතෝලික පල්ලියයි. 1992 පෙබරවාරි 24 ටයිම් සඟරාව ශුද්ධවූ ගිවිසුම (The Holy Alliance) මැයෙන් ලිපියක් පලකළා. ඇමරිකාව සෝවියට් දේශය බින්දෙත් නැගෙණහිර යුරෝපයේ කොමියුනිස්ට් හවුල කඩා විසුරුවෙත් පාප් තුමාගෙ ආධාරය අරගෙන බව ඒ ලිපියෙන් කියනව. කතෝලික පල්ලිය හින්දු කුල ක්‍රමයට විරුද්ධව යුද්ධ ප්‍රකාශ කළේ යටත් විජිත යුගයෙයි. ඒ යුද්ධ ප්‍රකාශණය තවම ඉවත් කරගෙන නැහැ. කුල ක්‍රමය අහෝසි කරනවිට හින්දු ආගමත් ඉබේටම නැති වෙන බව අප තේරුම් ගත යුතුයි. අද එංගලන්තෙ රජ පවුල කෞතුකාගාර ගතකරන්ඩ සමහරුන්ට උවමනායි. රජ පවුල නැතිනම් එංගලන්ත සභාව ඉවරයි එතකොට ඒ හිස්තැන පුරවන්ඩ කතෝලික පල්ලිය ඉදිරිපත් නොවෙයිද?

යුරෝපය වැඩ ගැන නොදන ඉන්දියාවේ නොසන්සුන් තාවයන් ගැන කතා නොකල යුතුයි. ඉන්දියාවේ හැම නොසන්සුන්තාවයක්ම පසු පස්සේම සැඟවුන යුරෝපීය කුමන්ත්‍රණකරුවෙක් ඉන්නව. නමුත් අවාසනාව බොහෝ දෙනෙකුට ඇත්ත දැකීමේ ඥාණය නැතිකමයි ඇත්ත දැකීමේ ඥාණය ලැබීම සහජ වාසනා ගුණයක් විදියටයි හින්දු ආගමෙ විස්තර වෙන්නෙ. ඒ වාසනාව හැමෝටම නැහැ.

යුරෝපය විසින් යටත් විජිත සමයේ ලෝකයට බෙදල තියෙන වසංගත ගණනාවක් තියෙනව. ඔවුන් ඇමරිකානු ඉන්දියානුවන්ට කොටු කරපු පුනරුත්ථාපන කඳවුරුවල ජනයාට දීල ඇත්තෙම යුරෝපයේ වසංගත රෝගින් පාවිච්චි කරපු රෙදි පෙරෙදියි. ලක්ෂ ගණන් ඉන්දියානුවෝ මියැදුනේ ආගන්තුක වසංගත රෝග හැදිලයි.

සමහරක් මී වර්ග රට රටවලට බෝ කර ඇත්තෙත් සටන් විජිතවාදීයොයි, කාලයක් මීයා යුරෝපයට වසංගතයක් උනා. මේ නිසා මීයන් වඳ කිරීමට විද්‍යාඥයෝ පර්යේෂණ පැවැත්තුව. එතනදී හොයාගත් දෙයක් තමයි මනුෂ්‍යන්ට නැති අධි සංඛ්‍යාත ශබ්ද තරංග (Ultra Sonic) ලබා ගැනීමේ හැකියාව මීයන්ට තියෙනව. මීයො ජීවත්වන්නෙ රංචු වශයෙනුයි. හැම රංචුවක්ම වෙන වෙනම භූමි ප්‍රදේශ බෙදගෙන ජීවත්වුනා. පිට රංචුවක මීයෙක් භූමි සීමාව පැනල ආවනම් අනිත් රංචුවෙ මීයො උගෙව් මරා දමමා.

මී සමාජයේ ස්වභාවය තේරුම් ගත්ත විද්‍යාඥයින් උපකරණයක් යොදා ශබ්ද තරංග නිකුත් කරවා කිසිගම් භූමි ප්‍රදේශයක ජීවත්වන මීයන්ට බිය වැද්දුව. මී රංචු තමා ජීවත්වූ ප්‍රදේශය අත්හැර වෙනත් ප්‍රදේශ වලට දිව්ව, එවිට ඒ ප්‍රදේශයේ මීයො සංක්‍රමණිකයින් සමග සටනට ආව. යුරෝපයේ රටවල් බොහොමයක් මීයන් වඳ කළේ මේ ක්‍රමයට පරිසරයේ අර්බුදයක් ඇතිකිරීම මගින් මීයන් උන් උන් මරාගන්ට පෙළඹවීමෙනුයි, මීයන් විනාශ කළ මේ සැලැස්ම මනුෂ්‍යයින් විනාශ කිරීමටත් භාවිතා කරනවාද යනවග දැනගත යුතුයි. පසුගිය කාලයේ ආගමික කෝලහල, ජාතිවාදී කෝලහල ඇතිවූ රටවල් ගැන තොරතුරු දැනගද්දී පැටහෙන්නේ හැම රටකම කෝලහල වලට සංවිධානාත්මක පසුබිමක් ඇති බවයි. යුරෝපයේ හෝ ඇමරිකාවේ මුල් තියෙන සංවිධාන විසින් පරිසරයේ අර්බුද ඇති කරවනව, රටක මහා ජාතිය අසරන කරවමින් සුළු ජාතීන් ශක්තිමත් කරවනව. මේ හැම සංවිධානාත්මක වැඩක් පස්සෙම පල්ලියක් ඉන්නවමයි"

උඹාගේ කථාව ලංකාවේ අද පවතිනා දේශපාලන වාතාවරණය තේරුම් ගැනීමට ප්‍රයෝජනවත්ය, ජනතා විමුක්ති පෙරමුණ ගොඩ නැංවූන හැටි, ඒට ශක්තිය සැපයුන පිළිමෙල භික්ෂූන් වහන්සේ ඇතුළු සිංහල බෞද්ධ තරුණ සංහාරය, මවු පෙරමුණ, විකල්ප පත්තර, සිංහලයන් අසරණ කිරීම, බෞද්ධයින් හිලගන්නා අබෞද්ධ ව්‍යාපාර, කෙතන් ප්‍රනාන්දු අගරදගුරු තැන සාපනයට රහසේ රිංගීම හා අනතුරුව කළ ජරා ප්‍රකාශනය, යෝනකයන් බලවත් කිරීම මේ හැම වැඩකම සංවිධානාත්මක පසුබිමක් ඇත.

කරාව කථාව පොතින් පැහැදිලි කරන්නේ සටන් විජිත වාදීන්ගේ සංවිධානාත්මක ව්‍යාපාරයක් පිළිබඳ දීර්ඝ කථාවකි. සිංහල සමාජය බිඳ හෙලා ඇත්තේ ජාතිය සංවිධානයවී ගිවී ශිල්පිය ශ්‍රේනි වෙන් කිරීමෙනි ඉන් අනතුරුව බින්න කළ ශ්‍රේනි කුල බවට

පත්කරයි. ඒ කුල අතර ඇති කරන භේද නිසා මිශන් වඳවූ විදියට සිංහල ජාතිය වඳවී යෑමට පෙර බෞද්ධයින් අබෞද්ධයින් වෙති. යුරෝපයේ විද්‍යාඥයා මීයන් වඳ කිරීමට යොදා ගන්නේ යටත් විජිත වාදියා ජාතීන් වඳ කිරීමට යොදාගත් උපක්‍රමයයි. එම උපක්‍රමයම නව යටත් විජිත වාදියාත් භාවිතා කරයි.

බෞද්ධ ආගම උගන්වන පිළිවෙලට වීර්යය කරන්නේ නම් හැම මනුෂ්‍යයෙකුටම ප්‍රඥාව ලබාගත හැකිය. ප්‍රඥාවන්තව කටයුතු නොකිරීමෙන් තමන්වත්, දරුවන්වත්, රටත් විපතට පත්වේ. ලංකාව දුප්පත් රටක් වූයේ යටත් විජිතයක් වීමෙ විපාක වශයෙනි. යටත් විජිත වාදියා හැමදාම මහන්සි ගන්නේ ලංකාව වහල් කිරීමටය. එමනිසා ලංකාව යටත් කර තබා ගැනීමේ මහන්සිවුන පෘතුගීසි කාරයාගෙන් වේවා ඉංග්‍රීසි කාරයාගෙන් වේවා දයාද කරා කුලී උගතුන්ගේ සහ මිශනාරි පූජකයින්ගේ රුවපිළිය. ලංකාව යළි පොහොසත් කරන්ට හැක්කේ යටත් විජිත වාදියා හඳුනා ගන්ට හැකි ප්‍රඥාවන්ත රටවැසියන්ටය.

උස්වැව කුඩා දූරයලාගේ රත්නාවතී
1993, 03, 01 දින
ලන්ඩන්හිදීය,

# පෙරවදන

සමහරු දුස්මිඳ මොළය වෙහෙසා ලබාගන්නා ආචාර්ය උපාධිය හිස, කඳ, අත්, පා, ආත්මය, මෙහෙවරේ යොදවා ලබා ගැනීමටද හැකියාව තිබේ. මේ කොයි ක්‍රමයකින් හෝ "අසවල් විෂයේ උගතා" කියන සහතිකය ලබාගැනීමට යුරෝපයට එන විද්‍යාර්ථියාට තම රට ගැන ඔත්තු සේවයක යොදවා විශාල ලාභයක් ලබාගැනීමට නව යටත් විජිතවාදීන් සැරසී සිටිති. ආචාර්ය උපාධිය හෝ ඩිප්ලෝමාව උදෙසා පර්යේෂණ නිබන්ධනයක් ලියන්නැයි ඔවුන් විද්‍යාර්ථියාට භාරකරති. නිබන්ධනයේ තේමාව ඔහුගේ රට හා සම්බන්ධ වූවකි. විද්‍යාර්ථියා තමා නොදැනුවත්වම ඔත්තුකාරයෙක් වෙන්නේ මෙතැනදීය. එම රට ගැන විහත් ධනයක්, ශ්‍රමයක් හා කාලයක් වැයකර මානව විද්‍යාඥයෙකුගේ හෝ සමාජ විද්‍යාඥයෙකුගේ සේවය ලබාගෙන නව විජිත වාදියාට සොයා ගැනීමට බැරි සත්‍ය තොරතුරු සම්භාරයක් පර්යේෂණ නිබන්ධනය ලියන විද්‍යාර්ථියා සහතිකය වෙනුවෙන් ඒක්තර දෙයි. මේ අතරතුර සහතික සමාගම් විද්‍යාර්ථියාගේ මොළය කෙලසීමට වග බලාගනිති. යුරෝපයට පැමිණි ඔත්තුකාරයෙක් නොවී මොළ ගෙඩියක් බේරාගෙන සහතිකය ලබාගෙන ඇත්තේ ප්‍රඥාවන්තයින් අතළොස්සකි.

යුරෝපයට හෝ ඇමරිකාවට පැමිණ මොළය කෙලසාගත් උගතුන්ට පොන්න ආචාර්යවරු නැතිනම් පොන්න උගත්තු යන නම ලියා පදිංචි කර ඇත්තේ කියුබානුවන්ය. පොන්නයා වනාහි ගණිකා වෘත්තියෙහි යෙදෙමින් ස්ත්‍රියක් ලෙසින් රඟපාන පිරිමියෙකි. එමනිසා නව යටත් විජිතවාදීන් ජාතක කළ පොන්න උගත්තු යන කියමනේ විශාල අර්ථයක් තිබේ. තේ මුදල්, කීර්ති, ප්‍රශංසා, ප්‍රසිද්ධි, තානාන්තර, විදේශ සංචාර සඳහා කෑදර උගත් මානයෙන් හුදීමුණ අයෙකි. යුරෝපයට වහලෙකි. මවුබිමට කෙරුමෙකි. නව යටත් විජිත වාදීන් මෙවැනි කෙරුමන් බෝකරන්නේ තමන්ගේ උවමනාකම් සඳහාය.

යුරෝපා නිෂ්පාදන සහ මලු ගෙඩි අරක්ගත් ඕනෑම රටක් පිරිහේ. ශ්‍රී ලංකාව පසුගිය කාලයේ ඉතා වේගයෙන් හා ඉතා අවාසනාවන්ත ලෙස පිරිහී ගිය රටකි. ඉන් ඔප්පුවන්නේ යුරෝපය බෝකළ මලුගෙඩි පව්වියක් ලංකාව අරක් ගෙන ඇති බවයි.

මොවුන් හඳුනා ගැනීම පහසුය. වැඩි දෙනෙක් ක්‍රියාත්මකවී ඇත්තේ සිංහල ජාතියට ගරහමිනි. සිංහල බෞද්ධ සංස්කෘතිය හෙළා දකිමිනි. කොමියුනිස්ට් විප්ලවවාදීන් හෝ කළු සුද්දන් ලෙස රඟපාමිනි. ඔවුන් ලියා ඇති පොත් පත් ලිපි ලේඛන පරීක්ෂා කරන්න. මෙබඳු කාරණා දක්නට ලැබේ. "සිංහල කියා ජාතියක්

නැත. සිංහලයා ගෝත්‍රවාදීය. යෝනක ඉතිහාසයක් ඇත. දෙමළ ඉතිහාසයක් ඇත. ජාතියක් නැති සිංහලයින්ට ඉතිහාසයක් නැත. විහාරාංගය හාමුදුරු කෙනෙකුගේ ගජ බින්නයකි. දුටු ගැමුණු මිනී මරුවෙකි. විහාර මහා දේවිය වඳ ගැහැණියෙකි. බ්‍රිතාන්‍යයන්ට යටත් වෙන තෙක් ලංකාව වැඩ වසම් රටකි. එහි රදලයෝය ප්‍රවේණි දාසයෝත් අද තිබේ. වැඩ වසම් සමාජය බිඳ ධනපති සමාජ ක්‍රමය හඳුන්වා දුන් බ්‍රිතාන්‍යයින් රටට ප්‍රජාතන්ත්‍රවාදයත් හඳුන්වා දුන්හ. එත් මහඟු ප්‍රයෝජන ගන්ට බැරිවූයේ ගෝත්‍රවාදී සිංහල බෞද්ධයින් නිසාය. උතුරේ යුද්ධයටත් වගකිව යුත්තන් ඔවුන්මය!

ලංකාවේ අධ්‍යාපන ක්‍රමය පෘතුගීසි මිෂනාරි අධ්‍යාපන ක්‍රමයේ විකාශනයකි. එය හසුරුවන්නේ ඉහතකී රට උගත්තුය. ඔවුන් රටේ ජන මාධ්‍යයන්ටද බොහෝ බලපෑම් කරති. මේ පහසුකම් තිබෙද්දී ඔවුන්ගේ ප්‍රචාරක වැඩට බැලපත්තරද යොදා ගෙන තිබේ. බැලපත්තර දකුණු ඇමරිකාවේ රටවල අත්හදා බලා හොඳ ප්‍රතිඵල ලබාගත් වැඩකි.

අවමඟුල් ගෙවල් වල කුලියට හඬනා මීගමු කරයේ කුලී අඬන්නියන් රටේම ප්‍රසිද්ධය. බැලපත්තරත් කුලියට හඬනා ගෑනුන් වාගේය. තනිකරම කුලී ජනමාධ්‍ය ව්‍යාපාරයකි. රටේ නිදහස හා අදීනත්වය ගැන බෙරිහන් දෙති. වැඩ කරන්නේ හා ජීවත් වන්නේ රට බෙදන්ට වෙහෙසෙන්නන්ගේ පාර්ශවයේය. පන්සල් භික්ෂුන් වහන්සේ සහ බුද්ධ ශාසනය වෙනුවෙන් ලියති. මිෂනාරි ව්‍යාපාරයේම අඩිය. තරුණ සංහාරය ගැන වේදනා වෙලාය. ඒට පසුබිම හැදීම ඔත්තු දීම, මඩ කැසට් නිෂ්පාදන ගැන උන්නාවුන් පිටරටත් සිටිති. විජේවීරට ගාන්ධි දයිනය හමු නොවීම ගැන තම්පා වෙති. විජේවීර සටන්කාමියෙක් නොවන බව කියව උන් විජේවීරට පත්තරය සපයන බව කියාපාමින් කිරි පින්, බෝම්බ ඩප්පි හැදූ සහ ඒවා ගම් වලට ඇතුල් කළ මිනීමරුවන් ගැන කථා නැත. අවාසනාව නුවණ නොමේරූ ඉක්මන් කාරයින් මේ තක්කඩීන්ට රැවටීමයි.

ලංකාව නිදහස ලැබූ රටක් යයි කීවත් අද රටේ හැම වැඩක්ම කෙරෙන්නේ පිටරට වලට ඕනෑ පිළිවෙලටය. උතුරේ යුද්ධය පසුගිය කාලයේ සිදුවූ මහා මනුෂ්‍ය සංහාරය, මපියා පාලනය, ජනතා කරනය, සෝබන වැඩ, මේ හැම දෙයක්ම රට්ටුන්ගේ උපදේශ අනුවය. කූට උගතුන්, බැලපත්තර හා වාල් චිත්තනය එක්වී ලංකාව විනාශ කරන විදේශීය බලවේගය හඳුනා ගැනීමට හා ඇත්ත තෝරා ගැනීමට ජනතාවට ඇති හැම ඉඩකඩක්ම අහුරති. ජනතාව අසරණ කරයි. මේ බාධක මැඩගෙන ඇත්ත දකිනා දෙනෙත් දුර්ලභවේ. ඒ නිසා බුද්ධිමතුන් ඇත්ත කතා කරයිද ජනතාවට කාරනා තේරුම් කර දෙයිද ඔවුන් නිහඬ කිරීමටද විවිධ බලවේග [illegible]

එක් ඉදිරිපත් කළ හැකිවේ. එක්තරා දිය පිරුණු විලක් දුපු රට කොකෙක් විල් බැම්මේ සිදුරක් හැදුවේය. කාන්දුවූ වතුර බැම් බැම්මත් කඩා ගෙන ගිය නිසා විලේ ජලය පතුලට සීමා විය. කොකා විල් බැම්ම උඩ හිටගෙන සිද්දවී තියෙන විපත ගැන දුක් වෙන්ඩ වූයේය. කුඩ මසුන් පිරිසක් කොකා ගැන උනන්දු වූහ. කොකා ඔවුන්ට කථාකර ලඟ පාතක තියෙන ජලයෙන් පිරුණු, පස් පියුමෙන් අලංකාර, ආහාර සුලභ වැවක් ගැන කීවේය. උපකාරයක් වශයෙන් දිය සිඳුණු මඩ පිරුණු විලේ ඉන්න මසුන්ට ඒ වැවට ගෙන ගොහින් දම්මට තමන්ට පුළුවන් බව පැහැදිලි කළේය. කොකාගේ පාටට, උගේ විලාශයට හා වචන වලට වශීවූ කුඩමසුන් පිරිස විලේ පෙරළියක් කරන්ට වන්හ. යාලු මිත්‍රයෝ නෑදෑයෝ දෙමව්පියෝ ගෝලයෝ ඒ සේරම පොළඹවමින් කොකාට එක්ව දිය පිරුණ වැවට යාමට සූදානම් වූහ. මෙය ඇසූ දුටු වෛවාරණ ගෙම්බෝ, මහළු ඉබ්බෝ, ඇස් ලොකු කක්කුට්ටෝ ඔවුන්ට අවවාද, දැනමුතුකම් දෙන්ඩ ගති. ගෙම්බන් කීවේ "අපි රට තොටේ හොඳට ඇවිදල තියෙනව, ඔය කියන විදියෙ වැවක් මේ අහලක නැහැ" කියායි, ඉබ්බන් ලුණුවරන කථාව ඇතුළු තවත් කතන්දර ගොඩක් කියා දෙමින් කීවේ "කොක්කු කවරදාක වත් මාළුන්ට අනුකම්පා කරල නැහැ. ඉක්මන් කාර, නුවණ නොමේරූ, නාම්බො හින්ද දෙමව්පියො නෑදෑයො, යාළු මිතුරියො අඩුදරුවො විපතේ වැටුණ අවස්ථා ගැන හිතපල්ලා. ඔය සිද්ධ කරගන්ට යන්නෙ නම් මහ විනාශයක්" කියලයි. හීතල හුළං ආව. "අන්න ඒ වැවෙන් හමන හුළං" කොකා කිව්ව. කැළෙන් මල් සුවඳ හැමුව. "අන්න වැවේ නෙළුම් මල්වල සුවඳ" කොකා අත්තටු ගසමින් කිව්ව. "ඔය හරම්පිකාර ඉබ්බන්ගෙ, හුළං ගෙම්බන්ගෙ, කෙළින් ඇවිදගන්ඩ බැරි කක්කුට්ටන්ගෙ කථා අහන්ඩ එපා. උන් ජීවත් වෙන්නෙ වැඩ වසම් යුගයෙ" යි කියපු කොකා ඉංග්‍රීසියෙන් හිනාවුනා. කුඩමසුන් මඩ යට සැඟවෙන්ඩ ගත්ත. කොටයක් වැවට යන්ඩ හිතා ගෙන කොකාගෙ හොට්ට ඇතුල් වෙලා උගෙ ගොදුරු බවට පත්වුනා.

කරුව කථාව පොත මුද්‍රණයට සූදානම් කර තිබෙද්දී කොකාගේ ශෝකය බඳු ශෝක පණිවිඩයක් එක්තරා මිෂනාරි සංවිධානයක් විසින් පුවත්පත් වෙළඳ දැන්වීමක් ලෙසට ජනතාවට ඉදිරිපත් කර තිබුණි. (ඇමුණුම බලන්න.) මෙය නැවත නැවත කියවන්න. අවුරුදු හැටෙන් ඉහළ මහල්ලන් ගැන එහි සඳහන්ව ඇතත් දැන්වීම අනාථයන් සඳහායි. පසුගිය කාලයේ සිදුවූ මනුෂ්‍ය ඝාතන ව්‍යාපාර නිසා වැන්දඹුවූ, අනාථවූ, අසරනවූ දසදහස් ගණනක් රටවාසින් සිටිති. ඒ හැම කොටුකර ගැනීම සඳහා එල්ලූ නයිලෝන් දැලක් නොවෙයිද මේ?

සාරාංශ කළාම පොතින් පෘතුගීසීන් කරව ශ්‍රේණිය ප්‍රධාන සිංහල බෞද්ධ ශක්ති විනාශ කරමින් අඹුවන් සහ දරුවන් වැන්දඹු හා අනාථ කළ සැටින් පෘතුගීසි මිෂනාරීන් ඒ වැන්දඹු අනාථයින්ට දිල එලූ සැටිත් සාධක ඇතුව විස්තර කර දෙයි. 1817/18 නිදහස් සටනට සහභාගී වූ සිංහල නායකයින්ගේ වැන්දඹුවන් සහ අනාථ දරුවන් අනාථ කඳවුරු වලට ගෙනා සැටිය මිෂනාරීන් ඔවුන්ව ග්‍රහණයට ගත් සැටිය නිරවුල් කර දෙයි. ඉතිහාසයේ ලොකුම සරදම තමාගේ මවපියන් මැරූ ගහලයින්ට ජයවේවා කියමින් ඔවුන්ගේ ධජ ඔසවාගෙන යාමට මැරුම් කෑවුන්ගේ දරුවන්ට සිදුවීමයි. තමන්ගේ සැමියන් මැරූ වධකයින්ගේ ඉව්ජ, බස්වලට මුලාවීමට වැන්දඹුවන්ට සිදුවීමයි. රට ජාතිය ආගම මතු පරපුරු වෙනුවෙන් දිවි පිදූ වීරයින් ගැන ලියන කියන අයවලුන්ට එරෙහිව ඒ මුතුන් මිත්තන් මරා දැමූ මිනිමරුවන්ට ආවැඩීමට මඟ ගිය වුන්ගේ මුනුබුරු මිනිබිරියන් ඉදිරිපත් වීමයි.

අද යටත් විජිත වාදීන් නැත. ඔවුන් යටත්කර ගෙන සිටි හැම රටකම ඔවුන් බිහිකළ සේවකයෝ සිටිති. බොහොමයක් රටවල් පාලනය කරන්නේ මෙබඳු සේවකයෝයි. රටවල් සේවකයින් යොදවා පාලනය කිරීම නව විජිත වාදයයි. ලංකාව නව යටත් විජිත ග්‍රහණයට හසුවී සිරවුන රටකි. ඉන්දියාව කැබලි කිරීමේ පරමාර්ථයෙන් විශාල මෙහෙයක් දරන නව යටත් විජිතවාදීන් එම කටයුත්තේ මූලික සැලැස්මක් කරගෙන ඇත්තේ ලංකාව කඩා උතුරේ වෙනම රාජ්‍යයක් පිහිටුවීමයි. ඉන්පසු උතුරේ රට මුල්කර තමිල්නාඩුවේ සහ කේරලයේ නිදහස් ව්‍යාපාර ආරම්භ කිරීමට දැනටමත් සංවිධාන කටයුතු සූදානම්කර හමාරයි.

මෑතකදී ජර්මනියේ ජාත්‍යන්තර විද්‍යා සමුළුවක් පැවැත්වුනා. ඉන්දියාව නියෝජනය කළේ කේරලයෙන් පැමිණි උගතෙකුයි. ඔහුට සභාවේ විශේෂ අවධානයකුත් යොමුකරවා තිබුණා. සමුළුවේ දෙවැනි දිනයේ උදෑසන ඔහු මුණ ගැසෙන සමහරුන් ඔහුව පිළිගත්තේ භාරතය ගැනගිතල නමස්තේයි කියමිනුයි. ඒ හැම විටකම ඔහු නමස්තේයි ප්‍රතික්ෂේප කළා. මම හින්දු අධිරාජ්‍ය-වාදයට විරුද්ධයි කිව්ව. ඔහු කැමතිවුනේ ගුඩ්මෝර්නින් කියනවටයි. මේ තමිල්නාඩු සහ කේරල ප්‍රාන්තවල ගෙනයන රට කැඩීමේ චින්තන ව්‍යාපාරයේ බාහිර ලකුණුය.

පසුගිය වකවානුවේ ලංකාවේ සිදුවූ භය ජනක මනුෂ්‍ය ඝාතන වැඩපිළිවෙල ලංකාවට ආගන්තුක වැඩකි. බෞද්ධ සංස්කෘතියට කොහොමවත් සම්බන්ධ නැති වැඩකි. නමුත් ලෝකයේ කටයුතු ගැන හොයා බැලුවිට මෙබඳු ක්‍රියා ලතින් ඇමරිකානු රටවල සිද්දවී තිබෙන බව පෙනේ. මපියා පාලකයින් බලයට පත්කිරීම, සන්නද්ධ ජනතා නැගිටුවීම සූදානම්වීම, කෲර වධ හිංසා ඇතුව

කෙරෙන දරුණු මනුෂ්‍ය සංහාරය, ජනතාව නිහඬ කරවීම, මවු පෙරමුණු හැදීම, විකල්ප පත්තර ආරම්භ කිරීම, එම පත්තර, මවු පෙරමුණු හා උද්ඝෝෂණ ව්‍යාපාර හැම එකකම මෙහෙයවීමේ බලය මිෂනාරීන් නතුකර ගැනීම එකම සැලැස්මකට හා එකම සංවිධානයකට සිදු කෙරී තිබේ. දස දහසකට වැඩි භික්ෂූන් වහන්සේලා ඇතුළු සිංහලයන් ඉතා කෲර විදියට මරා දමමින් පසුගිය කාලයේ රට බියෙන් බියට පත්කළ පවකාරයින් ලංකාණ්ඩුව පිහිටුවා ගත් අගම් පඩි ඝාතක හමුදාවයි. සැම දෙයක්ම පිට රටවුන්ගේ උපදෙස් අනුවම කරන ලංකාණ්ඩුව රටවැසියන් මරා දමන කුලී ඝාතක හමුදාවක් පිහිටෙව්වේද අහම්බෙන් නොවේ. කලු බළල්ලු, දිවි මකුළුවෝ, මාපිල්ලු මේ මොන නම් වලින් හඳුන්වා ගත්තත් රටවැසියන් මරාදැමීමට ආණ්ඩු හදාගන්නා කුලී ඝාතක හමුදා ආරම්භ වූයේත් දකුණු ඇමරිකාවෙනි. එබඳු හමුදා ඒ රටවල හැඳින්වෙන්ට ගත්තේ පාරා මිලිටරි හමුදා යනුවෙනි.

දැන් පාරා මිලිටරි හමුදා මරා දැමීම් වලින් අනාථවූ අමු දරුවන් හා මහල්ලන්ට සල්ලි ටිකක් දීමට මිෂනාරි සංවිධාන ලැස්තිවේ. යුරෝපයේ ඉවත දමන පරණ ඇඳුම් හා ප්ලාස්ටික් කබල්ද ඔවුන් ළඟ තිබිය යුතුය. මිෂනාරීන් කරුණාව, ආධාර, සල්ලි, පරණ රෙදි මේ හැමදෙයක්ම හුවමාරු කරන්නේ ආගම වලටය. යටත් විජිත යුගයේ සොල්දාදුවන් මරාදමා අනාථකලවුන්ට බලපෑම් කළ මිෂනාරියා නව යටත් විජිතවාදීන්ගේ සේවක ආණ්ඩුවල පාරා මිලිටරි හමුදා මරා දමා අනාථකරන රටවැසියන් ගලවා ගැනීමට සල්ලි ආධාර සපයයි. මේ ඉතිහාසයේ එකම සිද්ධිය යළි යළි සිදුවීමකි.

පසුගිය කාලයේ මරාදැමූ තරුණ තරුණියන් හා මවු පියන් රටේ උස් නිදහස ගැන සිතූ, රට වෙනුවෙන්, අනාගත පරපුර වෙනුවෙන් ඇඟ, මස්, ලේ, ජීවිත දන්දුන් පාරමිතා පූරන්නන්ය. ඔවුන් සමහරෙක් හෝ මරා දැමූ තැන්වල පිහිටි ගස්, ගල්විමාන කරගෙන සිටිනැයි සිතිය යුතුය. එමනිසා තම මව, පියා පුතා, දුව, ඥාතියා, මිත්‍රයා, සොහොයුරා, හිතවතා, රටවැසියා මරා දැමූ ස්ථාන සොයා ගනිමින් ඒ තැන්වල ඇති ගස්ගල්වලට පුද පූජා පවත්වමින්, යාතිකා කරමින්, පින් පමුණුවමින් ඒ තැන් දේවාල කළ යුතුය. සිංහලයන්ගේ හැම දෙවියෙක්ම දේවතාවියෙක්ම රට වෙනුවෙන් නැතිනම් අනාගත පරපුර වෙනුවෙන් මෙහෙයුන එසේ නැතිනම් ජීවිතය දන් දුන් රට වැසියෙක් බව සිංහල දෙවි දේවතාවුන්ගේ ඉතිහාසය පරීක්ෂා කරනවිට පෙනේ.

ලංකාව විනාශ කරන, රට වැසියන් මරා දැමූ නව යටත් විජිතවාදීන් හා මිෂනාරි බලවේග පරාජයවන්නේ රටවැසියන්ගේ

ධාර්මික කවපුළු වලිනි. ඉන් දහම් වල යෙදෙමින් යහපත් සිරිය ලබා ගැනීමෙනි. එවිට රට හැරදා ගිය දෙවි දේවතාවියන් නැවතත් පැමිණෙති.

කලාව සඳාව මොලේ කොලෙසාගත් උගතුන්ගේ මොල ලෙඩි ලෙඩ නැවත සිහියට විජ්තවාදීන්ගේ ඔජස් විරේචනය කිරීමට ඖෂධයක් වේවා. ඇත්ත දකිනා බුද්ධිමතුන්ට බොරුවෙන් මිදීමට ස්වර්ගට ළින්තරයක් වේවා. යහපත් සිතිසෙන් කවපුළු සැදුනැකි හැම රට වැසියෙකුටම පාඩම් පොතක් වේවා.

**ලැන්සිව අබේසිංහ**

ඕස්ට්‍රේලියන් ශ්‍රී ලංකා මානව හිමිකම් සුරැකීමේ සංවිධානය වෙනුවෙනි

ඇමුණුම 1




# දුගී දුප්පත් වැන්දඹුවන් හා වැඩිමහලු අය වෙත කෙරෙන ආරාධනයයි.

ඔබ වයස අවුරුදු 16 ට අඩු දරුවන් සිටින දුප්පත් වැන්දඹුවක්ද?

නැතහොත්

විවාහක හෝ අවිවාහක එහෙත් දරුවන් නොමැති වයස අවුරුදු 60 ට වැඩි වයසක පුද්ගලයෙක්ද?

ශ්‍රී ලංකාවේ පවුල් ආධාර වැඩසටහනේ ශාඛා පිහිටා ඇති පහත දක්වෙන ප්‍රදේශයක් තුළ පදිංචිකරුවෙක් වන්නේ නම් :

කොළඹ දිස්ත්‍රික්කය :

දෙමටගොඩ, ග්‍රෑන්ඩ්පාස්, මෝදර, මරදාන, කොරලවැල්ල, කටුකුරුන්ද හා බත්තරමුල්ල.

ගම්පහ දිස්ත්‍රික්කය :

ඔටගම, බොල්ලත්ත, බෝපිටිය, දළුගම, දෙගියාගාත, කඩවත, කඳාන, කණුවන, කැලණිය, කැපුන්ගොඩ, කිරිමැටියාගර, මතුමගල, නාගොඩ, නායකකන්ද මීගමුව, පමුණුගම, පිටිපන, පැලියගොඩ, රාගම, තුඩැල්ල, උස්වැටකෙයියාව, වත්තල, වැලිවේරිය, වැලිගම්පිටිය, වැවල, කලාඑළිය

කුරුණෑගල දිස්ත්‍රික්කය :

ඔක්මිගොල්ල, දූනකදෙණිය, ගල්ගමුව, ගිරිපිටිය, ගිරිපොකුණ, ඉරබද්දගම, කර්විමහර, කටුපොත, කුලියාපිටිය, කුරුණෑගල, මල්පිටිය, මාවතගම මැල්සිරිපුර, නලවලාන, නිකවැරටිය, පන්නල, පැල්ලන්දෙනිය, පොල්ගහවෙල, සිරිගල, තලගහපිටිය.

බදුල්ල දිස්ත්‍රික්කය : බදුල්ල.

ඔබට දැන් ආධාරයක් නොලැබෙන්නේ නම්, වැන්දඹුවන්ට මාසිකව රු. 600/- ක් හා වයස්ගතවූවන්ට රු. [illegible]00/- බැගින් ආධාර කිරීමේ හැකියාවක් තිබේ. කුලය, ජාතිය, ආගම නැතහොත් දේශපාලන හිතවත්කම් ආයතනයේ කොන්දේසි අනුව වැදගත් නොවේ

වැඩි විස්තර සඳහා අපගේ මූලස්ථාන කාර්යාලයට
කෙළින්ම ලියන්න.

## ශ්‍රී ලංකාවේ පවුල් ආධාර වැඩසටහන

දේවස්ථාන පරිශ්‍රය,

පැමිණීම අනවශ්‍යයි - 1992 නොවැම්බර් මස 30 වැනි දින දක්වා

මෙම දීමනාව වලංගුයි,

## සර්වඥයින් වහන්සේට නමස්කාර වේවා

මා විසින් මෙසේ අසන ලදී. එක් සමයෙක්හි මහාසේනයෝ ජර්මනියේ වාසය කළහ. එම කාලයෙහි ජර්මනියේ පදිංචිකාර සෙහෙලියන් දෙදෙනෙක් එක්තරා සැන්දෑවක මහාසේනයන් ඔවුන්ගේ නිවසට කැඳවා මිහිරි ආහාර පානාදියෙන් සතුටු කරවා මෙබඳු සුහද සංවාදයක් ආරම්භ කළහ.

අප දෙදෙනාම අයිතිවන්නේ කරාව වංශයටයි. කරාව වංශික මිනිසුන් සිංහල සමාජයට අයිති වුවත් ඔවුන් බොහෝවිට කැපී පෙනෙන්නෙ සිංහල සමාජයට පිටස්තරයින් විදියටයි. ලංකාවෙ ජීවත්වෙන කාලයෙදී ඒ වෙනස අප නුදුටුවත් යුරෝපා ජාතිකයින් හා විවාහවී මෙහි පදිංචියට පැමිණි පසුව අප ජීවත්වූ කරාව සමාජයේ විශාල අඩුපාඩුවක් ඇතිබව අපට පෙනෙනව. අප දෙදෙනාම කරාව වංශයෙ කතෝලික කාන්තාවොයි. ජීවත්වූයෙ බස්නාහිර වෙරළබඩ ප්‍රදේශයෙ එකලග ගම් දෙකකයි. ඒ විසූ පරිසරයෙන් හෝ සමාජයෙන් සිංහල සංස්කෘතියට අගත් කිසිම උරුමයක් අපට ලැබුණෙ නැහැ. අපි සිංහල අවුරුද්ද වෙනුවට නත්තල් කෑව. දෙසැම්බර් තිස් එක්වෙනිද රෑ නොදන්නා යුරෝපයකට ශුභ පතමින් යුරෝපය දිනේවා කිව්ව. බෙර සද්දෙ නොසලකා බැන්ඩ් වුන් ඇහුව. පිරිත් පදයක් නොදන්න බයිබලය පාඩම් කළා.

අපගේ ජර්මන් පුරුෂයින් ඔවුන්ගේ රට ජාතිය සංස්කෘතිය ගැන බොහොම උජාරුවෙන් කථා කරනව. ඔවුන් ජර්මනියෙන් බැහැර ජීවත්වෙන ජර්මන් ජාතිකයන් ගැන උදාහරණයකට කිව්වොත් වොල්ගා ජර්මානුවන් ගැන පවා උනන්දු වෙනව. සිල්වෙස්නර් දිනයද රෑ ජාමෙ එනකොට හැම්පේන් විදුරු පුරවාගෙන ඔවුන්ගේ රටට ජාතියට සෞභාග්‍ය පතනව. අපිත් ඔවුන්ට එක්වෙලා මහ හයියෙන් ශුභ පැතුම් ගී ගායනා කරනව. එහෙම අනුකාරකයින් වෙන්නෙ භාගෙවත් බලපෑමකට නොවෙයි. ලංකාවෙ ගැහැණු වගේ අපි පිරිමින්ගෙ බුදල් වෙලා නැහැ. අපි නිදහසට ආදරය කරන ගැහැණු. සිංහල ගැහැණුන් වශයෙන් අපේ අවුරුද්ද දවසට අපේ මිනිසුන් හා මිත්‍රයින් සමග එක්වී අපේ රටට ජාතියට සෞභාග්‍ය පතල අවුරුදු චාරිත්‍ර කළහම එහි වරදක් කියන්න කාටවත් බැහැ. ඒත්, ඇයි අපට අපේ උරුමය අමතක වුනේ?

අපි සාමිචියක යෙදී හිටි දවසක කොලොම්බස් ඇමෙරිකාවට ගිය ගමන පිළිබඳව ටෙලිවිෂන් චිත්‍රපටයක් පෙන්නුව. කොලොම්බස් ඇමරිකාවට යන කාලෙ මෙක්සිකෝවෙ ඒතරම් හිටිසලු මිලියන හයකට වැඩි ජනගහණයක්. ඔවුන්ට ඉතාම දියුණු සමාජ සංවිධානයක් තිබිල තියනව. මායාවරුන්ගෙ අගනුවර ප්‍රමාණයෙන් හා අලංකාරයෙන් අද ලංඩන් නැත්නම් පැරිස් නුවරට සමානවුනා යයි කියද්දී මට ඇස්දෙක අදනාගන්ඩ බැරිවුනා. අමෙරිකාවේ හා කැරිබියානු රටවල පැතිරිලා තිබුණු ඒ ශිෂ්ටාචාරයන් මොන තරම් සාහසික විදියටද විනාශ කරලා තියෙන්නෙ. ස්පාඤ්ඤ, ඉංග්‍රීසි, ප්‍රංශ ආදී යුරෝපිය හමුදා මිලියන ගණනකටත් වැඩිවූ ස්වදේශිකයින්ගෙ ජනගහණය දහය ගුණනකට පහළ බැස්සුවලු. මේ මහා අපරාධයට නියාමකය වෙලා තිබෙන්නෙ පල්ලියයි.

කොලොම්බස් අමෙරිකාවට ගිය ගමනට 1992 අවුරුද්දෙ අවසන් වන විට වර්ෂ 500 ක් පිරෙනව. මේ නිමිත්තෙන් ඒ මහා අපරාධය අනුමත කරන ජනයා කොලොම්බස්ගේ ඇමෙරිකානු ගමනේ පන්සිය වැනි සංවත්සර උළෙල පවත්වන්නට සූදානම් වෙනව. එහි අකාරුණික භාවය පැහැදිලි කළ ඉන්දියානුවෙක් 'යුරෝපිය ආක්‍රමණිකයො මැස්සො වගේ සලකල ඉන්දියානුවන්ව මරා දැම්ම. හොඳ ඉන්දියානුවා කියන්නෙ මියගිය ඉන්දියානුවයි යන උධෘතයේ පිහිටා කටයුතු කළා. ඉන්දියානුවන්ට අයිති හැම දෙයක්ම විනාශ කළා. ඔවුන්ගෙ උරුමය කොල්ලකා ගෙන යුරෝපයට ගොඩ නැංවුව. අලුත් ඇමෙරිකාව හැදුව. අපේ මහ පොළොව උදුරා ගත්තා. සතා සීපාව නසා දැම්ම. ඇමෙරිකාවෙ උරුමක්කාරයා අනාථයෙක් කළා. අද අපි අසරණයො. ඒ තරම් විනාශයක් කරලත් යුරෝපීන්ට ඉතිරිවූ ඉන්දියානුවන් කිහිප දෙනාගෙ ඉන්දියානු ආත්මය මරන්ඩ බැරි වුණා. මරණයෙන් ගැලවුන මුතුන් මිත්තන් කිහිප දෙනා ඒ ශ්‍රේෂ්ඨ ඉන්දියානු ආත්මය ඔවුන්ගෙ දූ දරුවන්ට පවරලයි හුස්ම . හෙලුවෙ. අපි ඒ උරුමයට පනපොවල අපේ දරුවන්ට බාර දෙනව''යි බොහොම වේදනාවෙන් කිව්ව.

චිත්‍රපටිය නරඹමින් හිටිය අපගේ පුරුෂයෙක් හරිම උද්වේගයකින් යුතුව මෙහෙම කිව්ව. ''පෘතුගීසි ලංකාවට එන්ඩ ඇත්තෙත් ඔය ආකාරයටමයි. උන් උඹලට උන්ගෙ සංස්කෘතිය, ආගම පටවන්ඩ ඇත්තෙ මොන තරම් අකාරුණිකවද? ඒවට අකමැත්තෙන් කී දහක් නම් මැරුම් කන්ඩ ඇද්ද? මඩ වේදනා විඳින්නට ඇද්ද? ඇයි උඹලා ඒව ගැන නොකියන්නෙ? ඇයි උපන් ගෙයි වහල්ලු වගේ ජීවත් වෙන්නෙ? නැමැටම උඹලගෙ

රටේ මිනිස්සුන්ට ගමක් වටහා දෙන්ඩ පුළුවන් නම් තියෙන බුද්ධිමත් නායකයො නැද්ද? උඹලගෙ හැම එකක්ම ලොකු කම පෙන්නන්ඩ හදන්නෙ සුද්ද වාගේ ඇඳලයි. උඹලගෙ රටේ මිනිස්සුන්ට ඉංග්‍රීසි පිස්සුවත් තියෙනව. කොණ්ඩෙ කපල, ටයි කෝට් දාල. ඇමෙරිකන් පැටන් ගෙවල් හදල සුද්ද කරන වැඩ කරල පෙන්නන එක ලොකුකම කියලයි හිතන්නෙ. අනේ ගෑණුනේ උඹල ඒ විදිගට හැසිරෙනව දකින යුරෝපාකාරයින් වන අපිට හිතෙන්නෙ මුන් මොන තරම් නීචයොද කියලයි. තොපි නැති නම් අනුකරණය කරන එකා හැම තිස්සෙම නීචයෙක්. මානසික රෝගියෙක්.

ඇයි උඹල යටත් විජිත මානසිකත්වයෙන් ගැලවෙන්ඩ මහන්සි නොගත්තේ. අපි නම් කවරදාවත් උඹල වාගෙ නීච වෙලා ඉන්නෙ නැහැ. පෘතුගීසින් උඹලගෙ ඔළුවට දමල තියෙන ජරාව අහකට දමල තමන්ගෙ උරුමය හොයපල්ල. අපි ජර්මන් කාරයො වශයෙන් උඹලට කියන්නෙ උඹලගෙ උරුමය හොයාපල්ලකො.

අකුණක් ගැහුව වගේ ඔහු කරපු කථාව ඇසූ අපි බිරාන්ත වුනා. එදා පටන් අපි දෙදෙනා ඒ කථාව ගැන කිසිවාරයක් නම් කථා කලාද දන්නේ නැහැ. මේ මිනිහා අපේ ඇස්වලට ඇඟිල්ලෙන් ඇනල පෙන්නනකං අපි අහක බලන් හිටිය. ඒත් අපට ප්‍රශ්නයක් ඇතිවුනා. කොහොමද අපේ උරුමය හොයන්නෙ කියල. ඒ ගැන දන්නා හඳුනන ලාංකිකයන් කිහිප දෙනෙක් සමගම කථා කලා.

ඇත්තටම අපට හමුවූ දනමුත්තන්ගෙ කථා වලින් අපි කම්පා උනා. දවසක් අපිට හමුවූනා තමා සිංහලයෙක් වශයෙන් හඳුන්වනවාට අකමැති කොමියුනිස්ට් වාදියෙක්." ජර්මන් කාරයින්ගෙ ඔළුවල තියෙන්නෙම නාසි අදහස්. ඔය ඉදිරිපත් කරල තියෙන්නෙත් නාසි චින්තනයක්.,' අපේ කථාව සාවද්‍යනව අසා සිපි ඔහු කීව. නමුත් එය අපේ ප්‍රශ්නයට පිලිතුර නොවෙයි. මේ පුද්ගලයා සමාජවාදී කඳවුර නමින් ප්‍රසිද්ධ කරගෙන සිටි නැගෙනහිර යුරෝපයේ රටක අධ්‍යාපනය ලැබීමට ආපු ලාංකිකයෙක්. බටහිර ජර්මනියට ආපු විටකදී තමා හිටි රටේ අගුණ කියා මෙහෙ නවාතැන් ගෙන තිබෙනවා. දැන් ජර්මන් කාන්තාවක් සමග විවාහ වෙලා. එම නිසා ජර්මන් ජාතිකයන්ට විරුද්ධව එබඳු කථාවක් කීමේ හැකියාව ඔහුට නැහැ.

තවත් විටක මුන ගැහුන පඬියෙක්. පඬියයි කිව්වෙ කාලයක්ම මේ පුද්ගලයා උගතෙකු ලෙසින් තමා ජීවත් වූ කුඩා සිංහල කණ්ඩායම තුළ රඟපාල ඇති නිසයි. අපගේ ආරාධනාව පිළිගෙන අප හමු වීමට පැමිණි ඔහු හිස කෙළින් කර ගැනීමට බැරි වෙන

තාක් චිර බී රහසක් කියං පානා ලෙසින් ''කාරාව කියන්නෙ ලංකාවෙ මාලු අල්ලන මිනිසුන්ව හඳුන්වන නාමයයි. ඒ ජනතාව සිංහල සමාජයෙ පහත් කුලයක් ලෙසයි සැලකුවෙ. එම නිසා කුල භේදය නොසැලකූ පෘතුගීසීන් හමුවේ ඔවුන්ගේ පක්ෂය ගත් කරාව කුලය සිංහල බෞද්ධ සමාජයට විරුද්ධව නැගී සිටිය'' යයි කිව්ව. එතනදී අපට ප්‍රශ්නයක් ඇති වුණා. ලෝකයේ කොයිම රටකවත් ධර්මාවබෝධයෙන් කතෝලික ආගම වැළඳ 'ගත් ජන කොට්ඨාසයක් ! නැහැ. එය තුල ප්‍රශ්නය නිසා මේතනදී හරි ගියත් ලංකාවෙ දකුණු පළාතෙ බෞද්ධ කරාව වංශිකයො ඉන්නව. ඔවුන් සමාජයේ පහත් ජන කොට්ඨාසයක් නොවෙයි. එම නිසා මේ කථාව ප්‍රබන්ධයක්, මෙබඳු කථාවක් මගින් පෘතුගීසීන්ට විරුද්ධව සටන් කරපු ජීවිත පූජා කරපු ලක්ෂ සංඛ්‍යාත ධීවර ජනයාට අවමානයක් වෙනව. හිස රැවුල පැහුණු පමණින් බඩ නෙරනකන් කිව්ව පමණින් මොංවු පඩිවරයෙක් නොවෙයි කියල තීරණය කළා.

මෙන්න මේ ආකාරයෙන් අපේ උරුමය ගැන වැටහීමක් ලබා ගැනීමට වෙහෙසෙන අපට එක්තරා සිංහල මිතුරියක් කිව්ව මහා සේනයන් ගැන. අපි එදා පටන්ම මහා සේනයන් හමුවීමට උත්සාහ කළා.

'එබැවින් මහා සේන අයියන්ඩියනී, අපට පැහැදිලි කරදෙන්න කුලය කියන්නෙ කුමක්ද? සිංහල සමාජයෙ කුල භේදයක් ඇති වුණේ කොහොමද? කරාව කුලයෙ වැඩි දෙනා කතෝලිකයන් වුනේ. ඇයි?

එවිට මහා සේනයෝ ඒ ගෑහෙලියන් අමතා මෙසේ කීහ. නැගණියනි ඉස්සර ඉන්දියාවෙ සාගල කියල නගරයක් තිබුණා. එහි මිනැන්ඩර් නමින් [illegible]ජෙක් හිටිය. එතුමා දර්ශනිකයෙක් වගේම තර්කයේ අති දක්ෂ ප[illegible]රයෙක් වුනා. තමාගේ රාජ්‍යයේ වාසය කරන සහ ඒට පැමිණෙන දර්ශනිකයින්ව හමුවීම එතුමාගේ සිරිතක් කර ගත්තා. තමා මුණ ගැහෙන දර්ශනිකයා වාදයට පටලවා ගෙන තර්කයෙන් ඔහු පරාජය කිරීමෙන් රජතුමා සතුටක් ලැබූට දිනක් රජ තුමාට ආරංචි වුනා තමන්ගෙ රාජධානියට නාගසේන හාමුදුරුවෝ කියන ශ්‍රේෂ්ඨ බෞද්ධ දර්ශනිකයා පැමිණ සිටිය වග. මේක මගේ පණ්ඩිත කම පෙන්වන්ට හොඳ වෙලාවක් යයි හිතූ රජු වහාම නාගසේන හාමුදුරුවන් සොයා ගිහින් ඇහුව ''ඔබ වහන්සේටද නාගසේන කියන්නෙ.'' නාගසේන හාමුදුරුවෝ

කිසිම කලබලයක් නැතිව කිව්ව. "මගෙ ආචාරීන් වහන්සේලා එදසුම නමකින් මාව හඳුන්වනව තමා. ඒත් නාගසේන කියන්නෙ සංඛ්‍යා, සංඥා, ප්‍රඥප්ති, ව්‍යවහාර නාමයක් විතරයි."

රජ්ජුරුවො කොහොමටවත් බලාපොරොත්තු වුනේ නැතැ ලම් වාගෙ උත්තරයක්. හාමුදුරුවන් එක්ක ටික වෙලාවක් කථා කරලා වාදයට පටලව ගන්ඩ හිතාගනයි රජ්ජුරුවො ආවෙ. දැන් වුනේ නාගසේන හාමුදුරුවො රජ්ජුරුවන්ව වාදයට ඇදල ගැන්මයි. "මොකක්ද හාමුදුරුවනේ ඔය කථාව හාමුදුරුවන්ගෙ නම නාගසේන් නෙමේද? එහෙනම් කවුද නාගසේන නමින් බණ කියන්නෙ. මහණ දම් පුරන්නෙ. සිව්පසය ගන්නෙ. හොඳයි හාමුදුරුවො නාගසේන නෙමෙ නම් කිසියම් ඝාතකයෙක් හාමුදුරුවන්ව මරා දැම්මොත් ඔහුට චෝදනා කළ යුත්තේ කාට මැරුවයි කියලද?" රජ්ජුරුවො දිහා පිරිවර බලා ඉන්නව. හාමුදුරුවරුන් එතනට ඇවිත් ඉන්නව. එක පාරටම රජ්ජුරුවන්ට තේරුනා නාගසේන හාමුදුරුවන්ගෙ උත්තරෙන් තමා කලබලවූ වින්තිය. ප්‍රතිවාදියා කලබල කිරීම තර්ක ශාස්ත්‍රයට අයිති එක ධර්මයක්. මම කලබල වෙන්ඩ හොඳ නෑ. රජ්ජු කලබලය මැඩගෙන ඇහුව "හොඳයි හාමුදුරුවනේ ඔබ වහන්සේ කිව්වනේ ආචාරීන් වහන්සේලා ඔබ වහන්සේව නාගසේන නමින් හඳුන්වනව කියල, නාගසේන කියන්නෙන් මොකකටද? රූපයටද, ශබ්දයටද, ශරීරයටද විඳනයටද, කඳටද, බඩටද, සිවුරටද. රජ්ජුරුවො නාගසේන හාමුදුරුවන්ව කලබල කරන්ඩ බැලුව. හාමුදුරුවො කලබල වුනේ නැහැ. ඒ ප්‍රශ්න වැලෙන් මොහොතකට පිට පැනල. රජ්ජුරුවනේ ඔබ වහන්සේ මෙතනට ආවෙ මොකෙන්දයි ඇහුව.

"රථයෙන් ...... අර මගෙ රථය අතන." රජ්ජු රථය පෙන්නුව. නාගසේන හාමුදුරුවො ඒ දිහා ඉතාම උනන්දුවෙන් බැලුව. මහරජ තුමනි රථය කියන්නෙ මොකකටද? අර රූපයටද? එතන තියෙන විශාල චක්‍ර දෙකටද? දිග ලී බෝන් වලටද? අඹරාවටද? "ඒව ඔක්කොටම, සියල්ලම එකතු වුනාහම රථය කියන සංඥා, ප්‍රඥප්ති, ව්‍යවහාර මාත්‍රය හැදෙනව" නාගසේන හාමුදුරුවන්ගෙ උගත්කම පිළිගත්ත රජ්ජුරුවො පිළිතුරු දුන්න. එතකොට නාගසේන හාමුදුරුවො පැහැදිලි කළා — මහ. "රජ්ජුරුවනේ නාගසේන කියන්නෙත් ඒ වගේම සංඛ්‍යා, සංඥා, ප්‍රඥප්ති ව්‍යවහාර නාමයක් බව ඔබ තුමා පිළිගන්නවනේද"? රජ්ජුරුවො නාගසේන හාමුදුරුවන්ගෙ තර්කයට එකඟ වුනා.

සිංහල ජාතිය කියන්නෙත් ප්‍රඥප්ති ව්‍යවහාර මාත්‍රයක් පමණයි. සිංහල ජාතිය කියන්නෙත් ප්‍රඥප්ති ව්‍යවහාර මාත්‍රයක් පමණයි ඒ බව නොසිතන සිංහල කියා ජාතියක් නැතැයි කියාපාන උගතුන් කිහිප පොළක් ලංකාවෙ ඉන්නව. ඔවුන්ට අන්තේවාසිකයො පිරිසකුත් ඉන්නව. උන්නැහේල ඇත්ත වචහා ගන්නවුන් නොවෙයි. නිකන්ම සහතික උගත්තුයි. ඔවුන්ට සහතික කියන ප්විකර් සපයල තියෙන්නෙ යුරෝපයෙන් නැතිනම් යුරෝපයෙන් පිහිටවපු අධ්‍යාපන ආයතන විසිනුයි. ඉංග්‍රීසි කියල ජාතියක් නැහැ. එංගලන්තය ඉංග්‍රීසින්ගෙ නොවෙයි. ප්‍රංශ කියා ජාතියක් නැහැ. ප්‍රංශය ප්‍රංශ කාරයින්ගෙ නොවෙයි කියා නොකියන ඔවුන් සිංහල කියා ජාතියක් නැහැ කියනව. සිංහල කියන්නෙ අනුරාධ පුර රජ පවුල් කීපයක් ව්‍යවහාර කළ නමක් පමණයි කියා දෙඩවනව. ලංකාව බහු ජාතික රටක්. බහු ආගමිකයන්ගෙ කොදෙව්වක්. ආදී කරා ඇද බානව.

අද ශ්‍රී ලංකාව නමින් හඳුන්වන රට පුරාණයේ හඳුන්වල තියෙන්නෙ සිංහල දීපය නමිනුයි. ලංකාවෙ වංශ කථාවල පමණක් නොවේ ග්‍රීක, රෝම, පර්සියානු අරාබි, චීන, ඉන්දියානු වාර්තා වලත් සිංහල දීපය හා එහි සිංහලයන් ගැන සඳහන් වෙනව. ඒ කාලෙ ලංකාවෙ වනාන්තර වල වැද්දෙ ගිවිය. ඒත් රට ද්විජාතික රටක් කියල හඳුන්වල නැහැ. සිංහල රටට ආසන්නයේ භාරතයේ දකුණු කෙළවරේ දෙමළ රටක් තිබුණ. ඒරටේ දෙමළ නොවන වෙනත් මිනුස්‍ය වර්ගත් වාසය කළා. ඒත් රට දෙමළ රට නමින් පිළිගත්ත, අද ඒ පැරණි දෙමළ රට එනමින්ම තමිල්නාඩු යනුවෙන් හැඳින්වෙනව. තමිල්නාඩුව බහු ජාතික රටක් කියල කවුරුවත් කියන්නෙ නැහැ. අප වාසය කරන, ජර්මනියේ තුර්කින් ඉන්නව. ඒත් ජර්මනිය බහු ජාතික රටක් කියන්නෙ නැහැ. ප්‍රංශයෙ අප්‍රිකානුවො හරියට ඉන්නව. ඒත් ප්‍රංශය බහු ජාතික රටක් නොවේ.

හැබැ බහු ජාතික බහු ආගමික රට බ්‍රිතාන්‍යයයි. බ්‍රිතාන්‍ය කියන්නෙ ඉංග්‍රීසි කාරයා එංගලන්තය අවට රටවල් යටත් කර ගෙන ගොඩ නගා ගත් ඉංග්‍රීසි අධිරාජ්‍යයයි. ඉන් නිදහස් වෙන්න අයිරිෂ් ජාතිකයො ගෙන යන නිදහස් ව්‍යාපාරය ලෝකයේම ප්‍රසිද්ධයි. රටවල් යටත් කර ගෙන ඉංග්‍රීසි අධිපත්‍යය යටතේ බහු ජාතික රටක් හදා ගත් ඉංග්‍රීසි කාරයා ජාතීන් කීපයක් වාසය කරන රටක අභ්‍යන්තර තත්වය ගැන වැටහීමක් ලැබුවා. එම නිසා යටත් විජිතයන්හි ජාති භේද, ආගම් භේද, කුල භේද ආදී භේද ඇති කරමින් බෙද පාලනය කිරීම නැමති යටත් විජිත ප්‍රතිපත්තියක් අනුගමනය කළා,

7

ඊට කාලයෙදි නම් ලංකාවෙ සහතික උගත්තු විජිතවාදිය කියා දුන් බෞද්ධ කථා විශ්වාස කළේ හාම්පුතාගෙ කෛරාටික කම ගැන වැටහීමක් නැතිවයි. නමුත් සමහරක් බුද්ධිමතුන් විජිත වාදියාගෙ වංක කම් පෙන්නුම් කර දුන්නා. එවිට එම බුද්ධිමතුන්ට අවලාද කියන්න තවත් සහතික උගතුන් පිරිසක් ඉදිරිපත් වුනා. එම නිසා මුල් යුගයෙ විජිත ගැති සහතික කාරයින් නාගරිකයො ලෙසටත් දෙවැනි යුගයෙ පරගැති සහතික කාරයින් බඩගෝස්තර වාදියො නමිනුත් හැඳින්විය යුතුයි. මොවුන්ට ජර්මන් ජාතිකය ප්‍රිය නැහැ. ඊටත් හේතුවක් තියෙනව.

විජිතවාදිය ගිවිසුමක් අනුව ලංකාවෙ බලය පවරාගෙන පසු කාලයකින් විශාල කුමන්ත්‍රණයක් කර රටේ ජනතාව කැරැල්ලකට පෙළඹෙව්ව. කැරැල්ල හේතුවකට අරගෙන සිංහල සමාජ සංවිධානය පොඩි පට්ටම් කළා ලක්ෂ සංඛ්‍යාත ජනයා මරා දැම්ම, ගම් පලාත් පාළු කළා. ඉන්පසුව සිංහලයන්ගෙ ගම්බිම් කොල්ලකෑව. වැද්දන්ගෙ වනාන්තරය, වන සතුන්ගෙ වනාන්තරය විනාශ කළා. ඒව කොටු කර ගත්තා. රටේ වහල් පාලනයක් ආරම්භ කළා මේ වහල් පාලන සමයෙ රටට තවත් යුරෝපීන් ආව, විශේෂයෙන්ම වෙළ හෙළඳාම කටයුතු සඳහා පැමිණි ඒ ජාතීන් අතර ජර්මන් ජාතිකයොත් වූවිය. ඔවුන්ගෙන් ලංකාවෙ සිංහලයින් ගැන දත අසාගත් උගත් ජර්මන් ජාතිකයන් පිරිසක් පසු කාලෙක ලංකාවට පැමිණිය මොවුන් ස්වකීය ජීවිත කැපකළේ පීඩාවට පත්වී අසරනවී සිටි සිංහල ජාතියේ යහපත සඳහායි. ඔවුන් සිංහල බෞද්ධයින් සඳහා පාසැල් ආරම්භ කළා. කාන්තා අධ්‍යාපනය ආරම්භ කිරීමේ පුරෝගාමීන් උනා, මහාවංශය බඳු සිංහලයන්ගෙ ඉතිහාස ග්‍රන්ථ සොයාඒව විදේශීය භාෂාවලට පෙරලමින් ශ්‍රේෂ්ඨ සිංහල ඉතිහාසය ගැන ලෝකයාට දැනුම් දුන්නා. බෞද්ධ පුනර්ජීවනයක් ඇති කිරීමට වෙහෙසුනා. මෙන්න මේ කාලයෙදි දෙවැනි ලෝක සංග්‍රාමය ඇතිවුනේ,

ලෝක යුද්ධය ආරම්භවීමත් සමගම විජිතවාදිය බියෙන් බියට පත්ව බොහෝ අසරණ වුනා. බ්‍රිතාන්‍යයට විරුද්ධව ජර්මනිය යුද්ධ ප්‍රකාශ කිරීම බ්‍රිතාන්‍ය යටත් විජිතවලට ශුභදායක ආරංචියක් උනා. ඉන් අදහස් කරන්නෙ ඉංග්‍රිසි යටත් විජිතවල ජනතාව හිට්ලර්ගෙ නාසි ව්‍යාපාරයට පක්ෂවුනා. කියනඑක නොවෙයි, ඔවුන්ට පෙනී ගියා ඉංග්‍රීසි විජිතවාදියාගෙන් නිදහස දිනාගැනීමට මෙය හොඳ අවස්ථාවක් බව. සුභාෂ් චන්ද්‍රබෝස් වැනි නායකයින් විජිත කාරයට විරුද්ධව ඉන්දියානු ජනතාව සංවිධානය කරන්ට උනා.

ලංකාවෙ පොදු සිංහල ජනතාවගෙ විශ්වාසය හැදිල තිබුණෙත් ජර්මන් ජාතිකයට පක්ෂවයි. ඊට හේතුව මුලින් පැහැදිලි කළා. සිංහල රට විනාශ කළේ විජිතවාදීය. සිංහල ජනතාව මැස්සො මදුරුවො වගෙ මරාදැම්මෙ විජිතවාදීය. ඒ රට යටත් කර ගෙන ඉන්නෙ විජිතවාදීය. එමනිසා විජිතවාදීන්ව අප්‍රිය කිරීමත් තමන්ගෙ රටේ ජාතියෙ පුනර්ජීවන කටයුතුවලට උදව්කළ ජර්මන් ජාතිකයට ආදරය කිරීමත් හරිම නිවැරදියි. ලංකාවේ ජනතාවට වැටහුනේ නැහැ. යුරෝපයෙ මොනවද වෙන්නෙ කියල. රටතුළ ජීවත්වුන ඔවුන් තම තමන්ගෙ ප්‍රශ්න ගැන උනන්දු වුනා,

යටත් විජිතයන්හි ඇතිවෙගන යන ඉංග්‍රීසි විරෝධී ජාතික ව්‍යාපාර විජිතවාදීන්ට වැටහී ගියා. ඔවුන් ඉතා ඉක්මන් තීන්දුවක් ගත්තා. විජිතයන්හි තමන්ට පක්ෂ ස්වදේශිකයින් බලයට පත් කිරීම බලය රැක ගැනීමේ එකම මග බව ඔවුන්ට පෙණුන. ඔවුන් ඉන්දියාව දෙකඩ කඩා ඉන්දියාවටත් පකිස්ථානයටත් නිදහස දුන්න. ඒ සමගම ඉංග්‍රීසින් සමග පාලන කටයුතු වලට හවුල් වෙමින් සිටි දේශීය අනුකාරකයින් පිරිසකට ලංකාවෙ රාජ්‍ය බලය පැවරුව. මින් ඉදිරියට ලංකාව පාලනය කිරීම පිළිබඳ උපදෙස් ලේඛණයක්ද හදදී ලංකාවෙන් ඇත්වුනා,

මේ අතරෙදි හිට්ලර්ගෙ හමුදාව රුසියානු මහජන හමුදාව අතින් පරාජය ලැබුව. පසුබසින ජර්මන් හමුදාවට පහර දෙමින් රුසියානු හමුදාව ඉදිරියට ආව. කඳ කෙලින් කරගත් විජිතවාදීයන් යුද බිමට ඇතුල් උනා. ඔවුන් තම යටත් විජිතයන් තුළ යුද්ධයේදී ජර්මන් හමුදාවට විරුද්ධව සටන් වැදී සිටින අනභිභවනීය හමුදාව ඉංග්‍රීසි හමුදාවයයි බෙරිහන් දුන්න. යුද්ධය අවසන් වීමත් සමගම අපි දෙවන ලෝක යුද්ධය ජයගත් වීරයෝ අපි ලෝකය නාසිවාදයෙන් බේරාගත් වීරයෝයි කියා යටත් විජිත ඇතුලේ හඬ තැලීමට ඔවුන්ට පුළුවන්වුනා. ලෝක යුද්ධය සහ විජිතවාදීන් ගේ හපන් කෑම් සැබෑ තත්වය පෙන්නා දීමට පුළුවන්කම ඇත්තෝ ඉංග්‍රීසි විජිතයන්හි සිටියෙ නැහැ.

ලෝක යුද්ධය ආයුධයක් කරගෙන තම විජිතයන්හි සිටි ජර්මන් ජාතිකයින්ව විනාශ කිරීමට ආණ්ඩුව සමත්වුනා, ඔවුන් ලංකාව තුළ ජර්මන් විරෝධී චින්තන ව්‍යාපාරයක් ගෙනගියා. විජිතයා නිදහස දීම යන වචනයෙන් රමටමත් බලයට පත්කළ අනුගාමික රැල හාම්පුතුන්ගේ ව්‍යාපාරය නිදහස් ලංකාව තුළත් ගෙන ගියා. නිදහසෙන් පසුව ලංකාවෙ පෙන්වපු කයි කබල් ඉංග්‍රීසි

බුද්ධ චිත්‍රපටි සම්භාරය මීට එක උදාහරණයක් ලෙසින් පෙන්වන්ට හැකියි. බොහොමයක් චිත්‍රපටිවලින් දුෂ්ට මෝඩ ජර්මන්කාරයෙක් සහ වීර්යවන්ත ජනහිතකාමී විජිතකාරයෙක්වයි පෙන්නුවෙ. හැම විටකම දුෂ්ට ජර්මන්කාරයා පරාජයවුනා. ජනහිතකාමියි කියපු විජිතවාදියා දිනුව. විජිත සමයේ ආරම්භවුන ජර්මන් විරෝධී ව්‍යාපාරය අදටත් ලංකාව තුල ක්‍රියාත්මක වෙනව. එය අප විසින් පසුව කථා කල යුතු වැදගත් මාතෘකාවක්. යටත් විජිත චින්තනයෙන් මිදෙන්න, අදීනයන් ලෙස කටයුතු කරන්නැයි ඔබලාව දිරිගැන්වූ ඒ ජර්මන් පුරුෂයින් ලංකාවේ නිදහස් සටන සඳහා ආධාර කල ශ්‍රේෂ්ඨ ජර්මන් ජාතිකයින්ගේ පරපුරට අයත් වෙන්නෝයි. එම උතුම්වූ අදහස් නාසි චින්තනයක් ලෙසින් පැහැදිලි කරන්නා විජිතවාදියා පැහැරු වර්චස් මොලේ තවරාගෙන තිබෙනව.

"සිංහල සමාජයේ කුල ක්‍රමය" සිංහල ජාතියට නින්දා කිරීමට වෙහෙසෙන උගතුන් ඉතාම උනන්දුවක් දක්වන මාතෘකාවයි. එය අද විමුක්ති දේව ධර්මය පතුරුවන බැලසිනුත් අල්ලාගෙන තිබෙනව. ජනතාව වෙනුවෙන් පෙනීසිටින බව කියන මේ බැලයින් විකල්ප පුවත්පත් නමින් පත්තර හා සඟරා කිහිපයක්ම ප්‍රසිද්ධ කරනව. මොවුන් නඩත්තු කරන්නෙ යුරෝපීය සංවිධාන විසිනුයි. ඔවුන් කරන්නෙ සිංහල බෞද්ධ සමාජය විනාශකිරීම සඳහා ජනතාව නොමඟ යැවීමයි. එනිසා මුලින් කී උගතුන් බැලයන් පිරිසත් සිංහල බෞද්ධ සමාජය කුලභේදය සැලකුබවත් එමඟින් එක්තරා මිනිස් කණ්ඩායමක් පොදුවේ රටේ බහුතර, ජනතාව පහත්තර සලකා කටයුතුකර ඇතැයි පැහැදිලි කරන්ට වෙහෙසනවා. කුලභේදය සිංහල බෞද්ධ සමාජයේ වංකබව හෙලි කරන ගඩුවක් යයි පෙන්වා දෙනව. ඒ අතර සමහරුන් සිංහල සමාජයේ නින්දාවට ලක්වූ කරාව කුලය ගැනත් විස්තර කරනව.

පුරාණ සිංහල සමාජයෙ කරාව නමින් කුලයක් හෝ වංශයක් තිබිල නැහැ. එපරිද්දෙන්ම කුලභේදය නමින් විශේෂ සමාජ ප්‍රභේදයක් වූයේය යන කථාවත් ඇත්තක් ඇසරෙන් උපන් බොරුවක් පමණයි. කුලභේදය හා කරාව වංශය සිංහල සමාජයට ඇතුල්වී ඇත්තෙ අභිමානවත් සිංහල සමාජය පිරිහී ගිය පසුකාලවලදීයි.

තම්බපණ්ණියේ සිංහල රාජධානිය ආරම්භ කළේ ඉන්දියාවේ ලාට දේශයෙන් ආව විජය නම් කුමාරයා විසින්යයි කියල මහා වංශයේ සඳහන් වෙනව. වයඹ දිග ඉන්දියාවෙන් ආව සිංහල කියන සෙන්පතියා විසින් සිංහල රාජ්‍යය ඇරඹුවායයි පරම්පරා පුස්තකය

නම් පැරණි ඉතිහාස ග්‍රන්ථයක් කොටා තියෙන සෙල්ලිපි සාධක ඉදිරිපත් කරපු මහාචාර්ය පරණවිතාන පෙන්නා දෙනව. මුනිදාස කුමාරණතුංග දකපු ලෙසට රාක්ෂ, දේව, නාග සහ යක්ෂ යන සිව් හෙළයන්ගෙ එකතුවීමෙනුයි සිවහෙල නැතිනම් සිංහල ජාතිය හැදුනෙ.

ලංකාවෙ පුරාණ ඉතිහාස තොරතුරු පරීක්ෂා කරද්දී පෙනෙන්නෙ සිංහල ජාතිය කියන්නෙ සම්මුතියක් බවයි. වයඹදිග ඉන්දියාවේ සිට කලින් කලට පැමිණ පදිංචිවූ ගෝත්‍ර ගණනාවක් එක්ව එම සම්මුතිය ඇතිකර ගත්තා යයි පෙනෙනවා. තම්බපණ්ණියේ සිව් හෙළ ගෝත්‍රත් පසුව පැමිණි සිංහරුත් වයඹ දිග ඉන්දියාවටයි සම්බන්ධ වෙන්නෙ, සම්මුතිය ඇතිකරගත් කාලය අපැහැදිලි වුවත් වනාන්තරයේ විසූ වනවාසී ගෝත්‍ර හැරුන විට දිවයිනේ සිටි සියලුම ගෝත්‍ර හෝ මනුෂ්‍ය කණ්ඩායම් සිංහල ජාතියට නැතිනම් සම්මුතියට අයිතිවුනා. එම නිසා සිංහල කියා ව්‍යවහාර කර තිබෙන්නෙ පොදුවේ වනාන්තරයෙන් බැහැර ලංකාව පුරා සංස්ථා පිහිටුවාගෙන සිටි රටවාසීන්වයි. විටින්විට සිංහල ජාතියට අලුතින් මනුෂ්‍ය කණ්ඩායම් එකතුවුනා. නමුත් එකතුවෙන සෑම ජනකණ්ඩායමක්ම නැතිනම් පුද්ගලයෙක්ම සිංහලයන්ගේ පොදු ප්‍රඥප්තියක් පිළිගෙන ඊට අනුව ජීවත්වුනා.

විජය අනුරාධපුරයේ ප්‍රධාන රාජධානිය පිහිටුවන තෙක් රට වැජසත් මහාරාජ්‍යයන් පිළිබඳව කිසිවක් නොදන සිටිවග විජයගේ රාජාභිෂේකය පිළිබඳ මහාවංශ කථාව කියවනවිට පෙනෙනවා. විජය ඒ සඳහා උවමනා සියලු කලමනා සපයා ගත්තෙ දකුණු ඉන්දියාවෙ ඥාති රාජධානි වලිනුයි. ඒ තාක් තම්බපණ්ණියෙ ජනප්‍රියව තිබුණෙ සිංහල ගෝත්‍රවල මුල්බිමවූ වයඹදිග ඉන්දියාවේ ඉතා ජනප්‍රියවූ සමූහාණ්ඩුයි. බෞද්ධ සාහිත්‍යයේ මෙබඳු සමූහාණ්ඩු හැඳින්වෙන්නෙ සංඝ යන නමිනුයි. පුරාණ ඉන්දියාව බැබලවූ දාර්ශනිකයන් ගණ රාජධානි ගැන බොහොම වර්ණනා කරල තියෙනව. නමුත් ගණ රාජධානි ගැන වඩාත්ම ඓතිහාසික තොරතුර ඇත්තෙ බෞද්ධ සාහිත්‍යයෙයි. බුදුහාමුදුරුවො භික්ෂු ශාසනය ගොඩනැංවූවෙ භික්ෂූන් හා භික්ෂුණීන් ගණ නැතිනම් සංඝ යන ආයතනයට ඇතුලත් කරමිනුයි.

ගණ රාජධානියක් හැදුනෙ කුඩා ග්‍රාම පාලන සභා විශාල සංඛ්‍යාවක් එකතු වෙලයි. ලිච්ඡවි ගණ රාජධානි හැදුන හැටිත් ලිච්ඡවි රජ්වරු කටයුතු කලසැටිත් බෞද්ධ සූත්‍රයක ඉතාම නිරවුල් ලෙස පෙන්නල දීල තියෙනව. ප්‍රබල අනුරාධපුර රාජධානිය

බිහිවුන පසුවවත් ලංකාවෙන් ගණ රාජධානි නැත්තටම නැතිවෙලා ගියෙ නැහැ. පණ්ඩුකාභය රජු එබඳු ගණ රාජ්ජයක් මහා රාජධානියට එක්කළ බව පණ්ඩුකාභය කථාවෙන් කියවෙනව කතරගම දසබෑ රජුන්ගේ රාජධානිය තවත් කාලයක් යනතෙක්ම රුහුණේ ගණ රාජධානියක් පැවතුන වගයි පෙන්නල දෙන්නෙ. ගණ රාජධානියක් හැදුනෙ ගණ නැතිනම් ග්‍රාම රාජ්ජයන් කීපයක් එක්වීමෙනුයි. ශිල්පීය ශ්‍රේනි ගණනාවක් එකතුවෙලා ග්‍රාම රාජ්ජයක් හැදුනා. එබඳු ග්‍රාම රාජ්ජයක නායකයට කිවෙ ග්‍රාමිණී කියලයි. ග්‍රාම රාජ්ජයන්හි ග්‍රාමිණීවරු එක්වී ජ්‍යේෂ්ඨ ග්‍රාමිණී තෝරා ගත්ත. දුටුගැමුණු යන්නේ අර්ථය දුෂ්ඨ ගාමිණී නොවන බවත් දෙටු නැත්නම් නායක ගාමිණී යන්න බවත් මහාචාර්ය පරණවිතාන පැහැදිලි කරදීල තියෙනව. තම්බපණ්ණිය සිංහලද්වීපයේ අනුරාධපුරය අගනුවර වී ලංකාව එකම රාජධානියක් වුන පසුවවත් සිංහලයින් ගණ රාජධානිකෙරේ දක්වූ ඇල්ම අතහැරියේ නැහැ. ඔවුන් පුරාණයේ පරිදිම ගම් පාලනය කරගත්ත. ඉංදියානු බලපෑමට හසුවන තෙක්ම කීර්තිය හුවා දක්වන නම් භාවිතා කරන්ඩ සිංහල රජවරු කැමතිවුනේ නැහැ. දේවානම්පියතිස්ස රජ්ජුරුවන්ට මහින්ද හාමුදුරුවො කථා කළේ තිස්ස කියලයි. අනුරාධපුරේ රජකම් කරල තිබෙන්නෙ තිස්ස, සේන, අභය, නාග ආදී නම් දරපු රජවරුයි. ඔවුන් කුඹුරු කෙටුව, සී සෑව, වැව් බැන්ද, සිල් ගත්ත. ගැමියන් විදියට චාම් ජීවිත ගතකළා.

පුරාණ ගම හා ගම්පාලන ක්‍රමය අවබෝධකර ගැනීමට තිබුණ හොඳම අවස්ථාව මෑතක් වනතුරුම සුරැකි තිබුණ නුවර කලාවියේ කැලෑ ගම්මානයි. යටත් විජිත කාලයේත් විනාශ නොවී නොයෙකුත් බලපෑම් යටතේ හෝ නටසිය හැක්කෑ ගණයේ දක්වා ඉතිරිවී තිබුණ ඒ ගම්ද දැන් විනාශ වී අවසානයි. නමුත් ඒ ගම්වල ජීවත්වූ ගම්මුන් ස්වල්පයක් හෝ තවමත් ජීවතුන් අතර ඉන්නව. ඔවුන් සමග ජීවත්වීමේ පින තිබුණ අයෙකුට නුවර කලාවියේ කැලෑගමක් පාලනය වුන හැටි විස්තර කරන්න පුළුවන්.

නුවර කලාවියේ කැලෑගමක් කිව්වෙ හතර වටින්ම කැලෑවෙන් වටවුන ගම් තට්ටුවක්. නැතිනම් ගම් හය හතක එකතුවක්. ඒ හැම ගමක්ම නැතිනම් ගම් දෙකතුනක්ම පැරණි වැවක් යටතේ ජීවත්වුනා. වැවෙන් අස්වැද්දූ කුඹුරු ප්‍රමාණයක්ද තිබුණ. *පොදුවේ *තට්ටුමාරු ක්‍රමයට හේන් ගොවිතැන්ද කළා. බොහෝ විට කැලෑගම පන්සලක්ද නඩත්තු කළා. මෙය තවත් පැහැදිලි කළොත් ප්‍රධානගම පරණ වැව නම් ඒට මහගම කිව්වා. මහගමට නුදුරින් කුඩාක් වැව තිබුණ, ඒ අසල තිබිරි වැව තවත්

ගමක්. ඒ ඒ ගම්වල ඒ ඒ ශිල්පිය ශ්‍රේණියට අයත්වූ ගම්මු ජීවත් වුනා. ඔවුන් අතර උස් පහත් භේදයක් තිබුණේ නැහැ. එනමුත් ගම ආරක්ෂාකර ගැනීමේ උවමනාව කාටත් තිබුණා. ඒ සඳහා ශිල්පිය ශ්‍රේණි රැකගත්ත. බොහෝවිට විවාහ කෙරුනෙ ශිල්පිය ශ්‍රේණි ඇතුලේමයි. අන්තර් ශ්‍රේණි විවාහ කැලෑගම ඇතුලෙන් පිටගමක් සමගත් සිදුවුනා

ගම පාලනය වුනේ ව්‍යවස්ථා නැති වාර්තා නොලියපු වැඩිහිටියන්ගෙ සභාවක් මගිනුයි. ඒට තොවිල්පහ යයි කිව්ව. තොවිල්පහ හැදුනෙ පන්සලේ හාමුදුරුවො, වෙදනො, විල්ලබූආත හෙවත් වින්නඹුව, හේනමාම සහ වතුරමංකඩ එක්වෙලයි. වතුරමංකඩ නමින් හැඳින්වූයෙ වෙල්විදානෙවයි. තොවිල්පහ කටයුතු කලේ සම්ප්‍රදාය හා ව්‍යවහාරය අනුවයි. තොවිල්පහ නිතර හමුවුනා. වැව්බැම්මක, ගහක්යට නැතිනම් පන්සලේදි රැස්වූනා. සාකච්ඡාකරා විසිරී ගියා. ඉතින් ගමේ යමෙක් ලොකු වරදක් කළා නම් තොවිල්පහ විශේෂයෙන්ම රැස්වුනා, වරද ගැන කතා කළා. වැරදි කරුවෙකුට දියහැකි බරපතලම දඬුවම වුනේ තොවිල්පහ තහනම් කිරීමයි. එවිට වැරදිකාරයට පන්සල තහනම් වුනා. විල්ලබූ ආතා පිහිට වෙන්නැහැ. හේන මාමගෙ සේවය නැහැ. වතුර මංකඩ නැති නම් පොදු වැව් මංකඩවල් තහනම්වුනා. වෙදනො පිහිට නැතුව. ගියා. සමහරක් ගම්වල තොවිල් සංඛ්‍යාව ඊට වඩා වැඩිවූ අවස්ථා ගැනද අහන්ඩ තියෙනව.

මෙබඳු ගැමි සමාජයක තුල භේදයක් ඇතිවන්නේ එවන් සමාජයක ශ්‍රේණි අතරෙ උස් පහත් භේදයක් ඇතිනම් පමණයි. තොවිල්පහ යටතෙ ගමේ බලතල හා වගකීම් ශ්‍රේණි අතරෙ බෙදී ගියා. ශ්‍රේණි අතර සම්බන්ධය වලක්වන කුල නීති තිබුණේ නැහැ. එනමුත් ශ්‍රේණි බිඳ වැටුනොත් ගම විනාශ වෙන ; බව දන්නා ගැමියා ශ්‍රේණි ආරක්ෂාකර ගත්ත.

පැරණි සිංහල සමාජයේ තිබී ඇත්තෙත් තොවිල් පහට සමාන ශිල්පිය ශ්‍රේණි ක්‍රමයකුයි. එයතමා රටේ ආර්ථික හා සමාජ සංවිධානයේ සැලැස්ම වුනෙත්. එබඳු සැලසුම් සමාජයකින් රටවැස්සාගේ වෘත්තිය හා ව්‍යාපාර අයිතිය රැකදුන්නා. පුද්ගලයෙකුට හෝ පුද්ගලයින් සමූහයකට උවමනා ලෙස තැකිනම් උරුමය කොල්ලකෑමට තිබුණු ඉඩකඩ අහුරල දැම්මා,

යුරෝපයේ තිබුණේ මීට වඩා හාත්පසින්ම වෙනස් සමාජ හා ආර්ථික ක්‍රමයක්. වැඩ වසම් පාලනය කියන්නෙ එයටයි. වැඩ වසම් පාලනය යටතෙ ගමක නැතිනම් ගම් පලාතක අයිතිකාරයෙක් හිටිය. ඔහු කුලවතා නැතිනම් වංශවතා කියන අර්ථය දෙන ඇරිස්ටෝක්‍රැට් වරයයි. ගම හෝ ගම්වරය සේවය වෙනුවෙන් රජ්ජුගෙන් වංශාධිපතියට ලැබුණු ත්‍යාගයක්. පරම්පරාවට අයිති වූන ඒ ගම්වරය හෝ නිලකාර පංගුව තමන්ට උවමනා විදියට පාලනය කරන්ට වංශාධිපතියට පුළුවන් වුනා, නිලපංගුවක නැතිනම් නිලපංගු කිහිපයක වංශාධිපතීන්ට ආධාර කිරීමට පාදිලිවරු හිටිය. පාදිලිය දෙවියන්ගෙ නියෝජිතයයි. එමනිසා ගම පාලනය කළේ රජ්ජුගේ නියෝජිතයා හා දෙවියන්ගේ නියෝජිතය එක්වෙලයි.

වංශාධිපතීන්ගේ නිලපංගු නැතිනම් ප්‍රවේණි පාලනය කරන පිළිවෙලක් තිබුණා. ඒ පිළිවෙල සකස්කර තිබුණේ රටේ අර්ථ ක්‍රමය සුරැකි පාලන ක්‍රමය ආරක්ෂාවන පිළිවෙලටයි. ඒට වැඩ වසම් පාලනයයි කිව්ව. වැඩ වසම් ක්‍රමය අනුව ප්‍රවේණියක වැසියන් ප්‍රවේණියට කොටුවෙලා හිටිය. කිසිම කාරනාවක් සඳහා වංශාධිපතියාගේ අවසරය නැතිව ප්‍රවේණියෙන් එළියට යාමට ඔවුන්ට තහනම්වුනා. ප්‍රවේණියක දූරියකට ප්‍රවේණියේ ඇතුලෙ මිනිහෙක් සමග විවාහ වන්ඩත් වංශාධිපතියගෙන් අවසර ගතයුතු වුනා. සාමාන්‍ය නීතිය අනුව හැම කෙල්ලක්ම වංශාධිපතියන්ගෙ නිවාස වල කඹුරමින් සිට වංශාධිපතියන්ට අවශ්‍ය පරිදි ප්‍රවේණි දාසයකුට විවාහකර දුන්න. ප්‍රවේණියක දාසයින්ට වෘත්තිය නැතිනම් ඔවුන්ට පවරල තිබු වැඩඅනුව වර්ගකර තිබුණා. ඔවුන්ව ලේඛණගත කරල තිබුණෙත් ඔවුන්ව හඳුන්වල ඇත්තෙත් ඒ වෘත්තිය අනුවයි. මේ වෘත්තිය වර්ගකිරීම ජර්මනියටත් පෘතුගාලයටත් ස්පාඤ්ඤයටත් එංගලන්තයටත් එකවිදියටම වලංගුවුනා. අදටත් යුරෝපීන් භාවිතා කරන වාසගම්ගැන උනන්දු වෙන්න. ප්‍රවේණිදාස වෘත්තීන් හඳුනාගන්ඩ පුළුවන්. ලංකාවට පුරුදු ඉංග්‍රීසි වැඩවසම් සමාජයෙන් නිදර්ශන සපයුවොත් මෙබඳු දාසයින් ප්‍රවේණිවල හිටිය.

| | |
|---|---|
| ක්ලාක් | ලිපිකාර |
| මිලර් | ධාන්‍ය අඹරන |
| ස්මිත් | කම්මල්වැට |
| බේකර් | පාන්හදන |
| ඩෝබි | ඇඳුම්පිරිසිදු කරන |
| පාමර් | ගොවිතැන්කරන |
| පිෂර් | මාලුකාර |

| | |
|---|---|
| හන්ටර් | දඩයක්කාර |
| සිංගර් | සිංදුකියන |
| කාපෙන්ටර් | වඩුකම්කරන |
| පොටර් | වලංසදනා |
| ප්ලේයර් | නැටුම්නටනා |
| ටේලර් | වියමන්කරනා |
| බාබර් | කොණ්ඩකපනා |

මෙබඳු ප්‍රවේණිදාස ක්‍රමයක් ලංකාවෙ නම් කවරදාකවත් තිබිල නැහැ. ගම කිසිම දවසක වංශාධිපතියෙකුගෙ නැතිනම් සමින්දර් වරයෙකුගෙ බුදලයක් වුනේ නැහැ. ගම කිව්වෙ හරිම සංකීර්නවූ ස්ථානයකටයි. එය ගැමියන්ට පමනක් සීමාවුනේ නැහැ. එහෙම කියන්නෙ ගමේ අයිතිය සතුන්ට පක්ෂින්ට පවා නිත්‍යානුකූලව පැවරිලා තිබුණ නිසයි. මහ පොළව පුද්ගලයින් අතරෙ බෙදල ඒවට ඔප්පු ලියල තිබුණෙ නැහැ. කිසිවෙකුට ගම් ප්‍රදේශයෙ ස්ථිර ගොඩනැගිලි හදන්ඩ බලය හිමිවුනේ නැහැ. කාටවත් හිතුමතේට ගහක් වැලක් කපන්ඩ අයිතියක් තිබුණේ නැහැ.

පන්සල කිසිම හාමුදුරු කෙනෙකුගෙ නැතිනම් නිකායක බුදලයක් වුනේ නැහැ. පන්සල් වල අයිතිවාසිකම් සංඝ සභාවලටත් හිමිවුනේ වලගම්බා රජ්ජුරුවො අභයගිරිය තනා එය භික්ෂූන් වහන්සේ නමකට පූජාකල පසුවයි. එනෙක් විහාරය සතර දිගින් වඩිනා ඕනෑම භික්ෂූන් වහන්සේ නමකට අයිතිවුනා. ඒ නවාතැන් ගැනීමට, ශාසනික සේවයට, පින්වැඩ කිරීමට මිස පෞද්ගලික උරුමයක් කරගැනීමට නොවෙයි. එමනිසා තමයි මහා විහාරයේ හාමුදුරුවරු අභයගිරිය පිළිගත් භික්ෂූන් වහන්සේ විනය විරෝධී ක්‍රියාවක්කල අයෙකු ලෙස තීරණය කලේ, අභයගිරියෙන් ආරම්භ කල මේ ක්‍රියාවෙන් පසුවත් පන්සල පිළිබඳව ගමට තිබුණ අයිතිය සම්ප්‍රදාය වෙනස් වුනේ නැහැ. හාමුදුරුවො කවරදාවත් දෙවියන්ගෙ දූතයෙක් වුනේ නැහැ.

පන්සලට ගම අයිති වුනේ නැහැ. ගමට පන්සල අයිති වෙලා තිබුණ. ඒකෙ වැඩවසපු හාමුදුරුවො නඩත්තු කලේ ගම විසිනුයි. පන්සලේ වැඩ වාසය කරන්ඩ පැමිණ සිටින හාමුදුරුවො ගමට ගැමියන්ට දක්වන කරුණාව ගැමියො දැනගෙන හිටිය. එමනිසා පන්සල නඩත්තු කරන්ඩ ගැමිය ඉදිරිපත් වුනේ බොහොම චිත්ත ප්‍රීතියකිනුයි. කිසිම ශිල්පිය ශ්‍රේනියක් කිසිම ගමකට කොටුකරල හිටියෙ නැහැ. ගැමියෙකුට ගමෙන් පිටවී

ගාමට කාගෙන්වත් බලපත්‍ර ගන්ඩ උවමනා වුනේ නැහැ. නාගදීපෙ පුවඟුදීපෙ සිංහලයො රුහුණෙ වන්දනාගමන් ආව. රුහුණෙ නැතිනම් අනුරාධපුරේ සිංහලයො නාගදීපෙ සේරුනුවර ගෝකර්ණයෙ වන්දනා ගමන් ගියා. ඉන්දියාවටත් ගියා. භික්ෂු භික්ෂුනී ශාසනය හැම ශ්‍රේණියකටම විවෘත වෙලාතිබුණ.

ප්‍රවේණිදාස ක්‍රමයක් සිංහල සමාජ ඉතිහාසයට සම්බන්ධ කළේ යටත්විජිත සමයෙ එංගලන්තයට ඉගෙනීමට ගිහින් ආපු සිංහල සමාජය ගැන කිසිවක් නොදත් ඒ වාගේම දැනගැනීමට කිසිම ඕනෑකමක් නොතිබුන මාක්ස්වාදී උගතුන් විසිනුයි. මොවුන්ට එංගලන්තයේදී කලුහමසහ ගිතමාතය නිසා මාක්ස්වාදී ව්‍යාපාරය කෙරේ ඇලුම් කරන්ඩ සිද්දවුනා. ඒ සම්බන්ධයේදී මාක්ස්වාදයේ සේල්ස්මන්වරු නැතිනම් වෙළඳ ප්‍රචාරකයින් ලවා මොළේ සෝදාගත්ත, සමසමාජ රාජ්‍යයක් ඇති කිරීමට හිතාගෙන ලංකාවට පැමිණියා. මොවුන් ලාංකිකයන්ට මාක්ස්වාදය දේශනා කරද්දී ලංකා ඉතිහාසය මාක්ස්වාදී න්‍යායට අනුව තේරුම් කළා. ඔවුන් කියපු විදියට මුලින්ම රටෙ පැවති ඇත්තේ මිලේච්ඡ සමාජයි. ඊළඟට වහල් සමාජය බිහිවුනා. තුන්වනුව ඇතිවුනේ වැඩවසම් සමාජයයි. එවිට අනුරාධපුර අවධියේ පටන් ඉංග්‍රීසින් ලංකාව යටත් කරගන්නාතෙක්ම රටේ පැවතුනේ වැඩවසම් සමාජයයි. ඒ සමාජයේ හිටිය දුටුගැමුණුල, මහවිජයබාහුල, කැප්පෙටිපොළල, ආදී සියල්ලෝම වංශාධිපතීන් හෙවත් රදලයොයි. ඔවුන් රදල කුලයක් යයි කිව්ව. ගොවි කුලයට ලූ ගම් නැතිනම් ප්‍රවේණි අයිති වෙලා තිබුණෙ. නොයෙකුත් කුල වලට වර්ග කරපු ප්‍රවේණි දාසයින් ඒ ගම්වල කොටුකාර ගිවියලු. එම ප්‍රවේණි දාසයින් අරගල කොට රදල සමාජය පුපුරවා දැමීමට පෙර බ්‍රිතාන්‍යයො ලංකාව යටත් කර ගන්න කිව්වා. එම නිසා ලංකාවෙ සමාජය වූකලී ස්වභාවික ක්‍රමයට නැතිනම් ඓතිහාසික විදියට උපන්නක් නොව පැරණි වැඩ වසම් සමාජය මත බලහත්කාරයෙන් පටවන ලද්දක් ලෙසට පෙන්නුව. වැඩවසම් සමාජය ස්වභාවික විදියට පුපුරා නොගිය නිසා අළුතින් පිහිටවූ ධනපති සමාජයේත් පැරණි වැඩ වසම් සමාජයෙ අංගප්‍රධාන වශයෙන් කුලක්‍රමය ඉතිරි වුනාලු. මේබදු මතයක් ගාන කියපු මාක්ස්වාදී න්‍යායාචාර්යවරු අතරින් ලංකාව බ්‍රිතාන්‍ය යටත් විජිතයක් වීම හොඳක්යයි කී පඩින් බිහිවීම පුදුමයක් නොවෙයි.

වැඩවසම් සමාජයෙ ප්‍රවේණිදාසය කිව්වෙ වහලටයි. යුරෝපයෙ ඒ ප්‍රවේණි දාස සමාජය විනාශ වෙලා ගියෙ ප්‍රවේණිදාසයින්ගෙ අරගල නිසායයි කීමනම් හරිම බොරුවක්. ප්‍රවේණි දාස සමාජය බිඳිල ගියෙ යටත් විජිත ගින්දයි. යටත් විජිත සොයා ගි

අධිරාජ්‍ය ගොඩනැඟුවෙ යුරෝපයෙ පොදු ජනතාව පාලනය කළ වංශාධිපතියොයි. එම නිසා ලංකාව විනාශ කළ යටත්විජිතවාදීන් යන වචනයෙන් අදහස් කරන්නෙ වංශාධිපතීන් පාලනය කළ ඒ රාජකීය සමාජයයි. නිකම් පොදු ජනතාව නෙවෙයි. පොදු ජනතාව වහල් භාවයෙ තබාගෙන හිටි ඒ පාලක වංශ සමාජය යටත් විජිත සෙව්වා. ඔවුන්ගෙ අප්‍රිකානු ආසියාවෙ ලතින් ඇමරිකාවෙ යටත් විජිත හින්දා යුරෝපයට අප්‍රමාණ ධනයක් සහ වහල්ලු ගලා ආවා. ඒ අසීමිත සම්පත් හා වහල්ලු පාලනය කිරීමට වංශාධිපතිවරුන්ට නොහැකි වුනා. ඔවුන් ප්‍රවේණි දාසයො නිදහස් කරමින් අළුත් සමාජයක් ගොඩ නැංවුවා. ඒ තමයි ධනපති සමාජය කියන්නෙ. එමනිසා මිලර්ස් හන්ටර්ස් ලංකාවට ආවෙ යටත්විජිත නිසා යුරෝපයෙ ප්‍රවේණි දාසයො නිදහස් වුන පසුවයි.

යුරෝපයෙ අළුතින් බිහිකළ ධනපති සමාජය ඉතාම සංවිධානාත්මක ක්‍රමයක් වුනා. ධනේශ්වර සමාජයෙ ස්ථාවරත්වය සඳහා රටවැසියන් වෙනුවෙන් වෘත්තිය හා ව්‍යාපාර රැකවරන සැලසීම එහි ප්‍රධාන ලක්ෂණයයි. අප ඉන්න ජර්මනිය නිදර්ශනයට ගෙන බලන්න. මේ රටේ වෘත්තියක් ව්‍යාපාරයක් තබා පුළු කඩයක් කරන්ඩත් සහතිකයක් උවමනා වෙනව. සහතිකය කියන්නේ වැඩවසම් සමාජයෙ වංශාධිපතිය පැවරූ වෘත්තියට සමාන ධනපති ක්‍රමය විසින් සම්මත කරන සුදුසු කමයි. විෂය පිළිබඳව නිවැරදි දැනුමක් නැතිව සහතිකයක් ලබා ගන්ඩ බැහැ. සමාජ ජීවිතයේදී කිසියම් වෘත්තියක් පිළිබඳව ශාස්ත්‍රපතියා තමයි මයිස්ටර් නමින් හැඳින්වෙන්නෙ. මස්කඩේ කරන්නෙ, ඇඳුම්කඩේ, රූපලාවන්‍යාගාරයෙ, හෝටලේ, නානායමේ කුස්සියෙ ගරාජයෙ අධිපතිය මයිස්ටර් වරයයි. එම ස්ථානවල සේවය කරන්නේ විෂය අධ්‍යාපන ලාභියෝයි, කිසිම සහතිකයක් නැත්නම් නුපුහුණු කම්කරුවායි කියනව, ඔහුට කිසිම ව්‍යාපාරයක් ආරම්භ කරන්ඩ තහනම් වෙනව.

නමුත් මෙතනදී හොඳටම මතක තබාගතයුතු තවත් වැදගත් දෙයක් තියෙනවා. වැඩවසම් යුගයෙ ඉඳලම පැවත එන ගම් ගම් වෘත්තිය පරම්පරා තවමත් යුරෝපයෙ තියෙනව, ඔබලා ඉන්න ජර්මනියෙ තියෙනව. ධනපති සමාජ ක්‍රමය බිහිවූ නිසා විනාශ නොවුන එම ශිල්පීය පරම්පරා යුරෝපයෙ ධනපති සමාජ සංස්ථා විසින් බොහොම උනන්දුවෙන් ආරක්ෂා කරනවා. ඔවුන් ඒ පරම්පරා රකින්නෙ පාරම්පරික ශිල්පීන්ට පිරිනැමිය හැකි ඉහළම වරප්‍රසාද පවරලයි. දිනක් අපට ජර්මනියේ දකුණු ප්‍රදේශයේ

පාරම්පරික මැටි කර්මාන්ත ශිල්පීන් ජීවත්වෙන ගමකට යන්ඩ ලැබුණා. ඒ ගම්මු ප්‍රවේණිදාය අවදියේ පටන් මැටිභාණ්ඩ හදන්නෝ. ඔවුන් ශිල්පීය දැනුමෙන් අග්‍රගණ්‍ය පඬිවරු ලෙසටයි සලකන්නෙ. ඔවුන් අතින් නිපදවෙන මැටිභාණ්ඩයක් කර්මාන්ත ශාලාවකින් නිපදවන භාණ්ඩයකට වඩා විශාල මිලක් දීලයි ගන්ඩ වෙන්නෙ. තාක්ෂණික ශිල්පයේ විශාල ජයග්‍රහණ ලබා ඇති කර්මාන්ත ශිල්පීන් නොලබන ගරු සැලකිලියි ඒ කුඹල්ලු ලබන්නෙ. ඒව පුහු සැලකිලි නොවෙයි. ඔවුන්ගේ ජීවන තත්වය ඒ තරමටම උසස් කරලයි තිබුණෙ. පැරණි සම්ප්‍රදාය රැකගත් ඒ වටිනා පරම්පරා රැකෙගෙන තිබෙන්නෙ ඒ විදිහටයි.

දැන් ලංකාව ගැන බලන්න. අවුරුදු දස ගණනාවක් තිස්සෙ ශිල්පීය ශ්‍රේනි පරම්පරා රැකගත් සිංහල ජාතික විරයින්ට ලැබෙන සැලකිල්ල මොකක්ද? නැකති, ආචාරි, කුඹල්, රජක, හුණු, කින්නර නොයෙකුත් ශිල්පීය ශ්‍රේනි අඩුකුල ලෙසට සලකල නින්දාවට ලක්කරල තියෙනව. මල හේවිසිය ගැසීම නැමති උතුම් සම්ප්‍රදායික සේවාව සඳහා ගෙදරට එන ගුරුන්නාන්සේට ඉඳගන්ට පුටුවක් නොදී අගුවක පැදුරු කැබැල්ලක් එලනම විදිනැන්දට පුටුව තහනම්කර තිබෙනව. කුඹල කියන්නෙ මැටි මෝඩයෙක් කියලයි හිතාගෙන ඉන්නෙ. ආචාරීන් නිකම්ම යකඩ තලන පහත් කුලයක් කර තියෙනව. දේව වංශිකයින්ගෙ එක් ශ්‍රේනියකට භාරවූ හකුරු හැදීමේ වෘත්තියේ නමින් ඔවුන්ව හඳුන්වනව. මේ විදියට උතුම් ශ්‍රේනි හීන කුල බවට පත්කර ඇතුවා මදිවට ඒ ශ්‍රේනි රැකගත් ශිල්පියාව නූගතෙක් ලෙසටත් සලකා කටයුතු කරනව. ප්‍රායෝගික දැනුමක් නැති සහතිකධාරය ශිල්පිය උගතාට උගන්වනව. පාහර දේශපාලනඥයා සහතික උගතාගෙන් පිදුම් ගන්නව.

අප දන්නා ලංකාවෙ එක්තරා තරුණියකට පලාතේ දේශපාලකයා නැතිනම් මන්ත්‍රීවරයා විසින් නැටුම් ගුරු පත්වීමක් දුන්න. අ. පො. ස. විභාගයවත් සම්පූර්නකර නොගෙන සිටි ඒ තරුණිය එම විභාගයෙන් නැටුම් විෂය පමණක් සමත්වෙලා තිබුණ. ඇය මන්ත්‍රීවරයා සමග නැටුම් නැටූ බව පමණයි ගම්මු දනගෙන හිටියෙ. නැටුම් ගුරුවරිට මුල් පත්වීම ලැබුනෙ නැකැති යයි හඳුන්වන කුලයේ ජනයා වැඩියෙන් ඉන්නා ගමක පාසැලකටයි. ඒ ගමේ බෙර ගැසීමේ නිපුනාචාරීන් හිටිය. හොරණෑ පිඹීමේ අතිදක්ෂයො හිටිය. කොල්ලො කුරුට්ටො අඩව් අල්ලන්ඩ ඉගෙන ගන්නෙ යම්තම් මහ පොළොවේ පය ගහල ඇවිදින්ඩ පටන් ගන්න කාලෙ ඉඳලයි. මේ දරුවන්ට නැටුම් ඉගැන්වීමට ගිය

ගුරුවරියගෙන් අළුත් රැකියාව හා ගම ගැන ඇසීමට අපට අවශ්‍ය වුනා. එතුමිය මහත් නිරීක්ෂනයෙන් කථා කරන්ඩ ගත්තා. ගමේ තවතින්ඩ වත් තැනක් නැහැ. ඔක්කොම නැසකි මිනිස්සු ඇය කීව. උගන්වන එක හරිම අමාරුයි. හරිම මෝඩ ලමයි. ඒ වගේම නිතුවක්කාරයි. ගජගා වන්නම උගන්වන්ඩ මට ඕනෑ වුනා අධ්‍යාපන ප්‍රදර්ශනයකට ගෙනියන්ඩ. උන්ට අඩියක් තියන හැටි උගන්වන්ඩ සුමානයක් මහන්සි උනත් බෑනෙ. බෙරේ ගහන්ඩ කිව්වම දෙවියන්ඩ වඳිනව වාගෙ වැඳලයි බෙරේ අල්ලන්නෙ. මම කියනව ඕක බෙන ලී කෑල්ලකුයි ඒකට ගහපු හරක් හමකුයි මිසක් ඔතන දෙවියො නෑ කියල. ඒත් උන්ට බෙරේ අල්ලන්ඩ බැහැ ඒකට වඳින්නෙ නැතිව. ඇය තම අත්දැකීම් කියාගෙන යන්ඩ පටන් ගත්තා.

මට එක පාරටම අපේ ගමේ පන්සලේ සේවාව කරපු සෝබිත ගුරුන්නාන්සෙව සිහිවුනා. පන්සලේ තූර්ය භාණ්ඩ සේරම තැන්පත් කරන්නෙ විහාරගේ ඇතුලෙම ස්ථානයකයි. එතනට බොහොම ගරුසරු ඇතිව උජාරුවට යන සෝබිතා ගුරුන්නාන්සෙ තූර්ය භාණ්ඩ එක එක අරගෙන සේවා කරුවන්ට දෙනව. ශබ්ද පූජාව පටන් ගන්ඩ දවුල ගැසීම අරඹන්ඩ ඉස්සර සෝබිතා ගුරුන්නාන්සෙ දවුලට වඳිනව. බෙර ගසන ගුරුන්නාන්සේ බෙරේට නමස්කාර කරනව. ගුරුන්නාන්සේලා තූර්ය වාදන අතරත් සමහරවිට සාධුකාර අතරෙදිත් ඒ භාණ්ඩ වලට නමස්කාර කරනව. ශබ්ද පූජාව අවසන් කරන්නෙත් ඒ භාණ්ඩවලට වැඳ නමස්කාර කරමිනුයි. ඇයි දවුලට වඳින්නෙ අපි දවසක් ගුරුන්නාන්සේගෙන් ප්‍රශ්න කළා. සංගීත ශාස්ත්‍රේට අධිපති දේවතාවුන් වහන්සෙ වැඩුම් පිදුම් බලාගෙන ඉන්නව උන්නාන්සෙව පේන්න බෙර දවුල් ගහන අපිට විතරයි. අපි වඳින්නෙ උන්නාන්සෙටයි. සෝබිතා ගුරුන්නාන්සෙ චාරිත්‍ර සම්ප්‍රදාය වාගෙ වචන නොකියා පරම්පරා දහමක් කුඩා අපට තේරුම් කරල දුන්නෙ එහෙමයි.

මේක පුළු සිද්ධියක්. මේවගේ තමා හැම තැනකම සිද්ද වෙන්නෙ. ලංකාවෙ අධ්‍යාපන ක්‍රමය ආරම්භ කළේ විජිතවාදීන් විසිනුයි, ඔවුන්ගෙ අධ්‍යාපන ක්‍රමයෙ පරමාර්ථය වුනේ විජිතවාදී උවමනාවයි, එමනිසා පාසැල් ගුරුවරය කියා කියන්නෙ සංඝාත් කෙනෙක් මිස ආචාරීන් කෙනෙක් නොවෙයි. විශ්ව විද්‍යාලයේ කුලපතියා කියන්නෙ දිසාපාමොක් කෙනෙක් නොවෙයි. බෙර පදයක් නොදන්න ජීවිතේට නැටුමක් ඉගෙනගත නැති, සිංදුවක් කියා ඇල් කවියක්වත් කියන්ඩ නොදන්නා ශාස්ත්‍රඥ පිළිබඳම

කිසිම වැටහීමක් නැති එනමුත් විශ්ව විද්‍යාලයක සිංහල උපාධියක් සමත් සහතික උගතා දේශපාලකයට වැදල සෞන්දර්ය ආයතනයෙ අධිපතිය වෙනව. එයා ආචාර්ය මහාචාර්ය ස්වීකාර් අරගෙන තියෙන්නෙ මොනා හරි එකතු කරල පොතක් ලියල. නැතිනම් යුරෝපයට උවමනා කරන තොරතුරු සපයල ලංකාව ගැන වාර්තාවක් දීල උන්නැහෙ සෞන්දර්ය ආස්වාදය කරන්නෙක් හෝ සෞන්දර්ය ගැන දැනුමක් ඇත්තෙක් නොවෙයි.

ලංකාවේ සමාජ ආර්ථික ක්‍රමය ගැන විවරන ලියපු උගත්තු ඕනෑ තරම් ඉන්නව. ඔවුන් ලංකාවෙ සමාජ ක්‍රමය ගැන අපූරු බොරු කථා ලියල තියෙනව. ලංකාවෙ ධනේශ්වර සමාජ ක්‍රමයක් පවතිනා අතර වැඩවසම් සමාජ ලක්ෂණ තවමත් සුරැකී ඇතැයි කීම තමා ඔවුන්ගේ ශ්‍රැතිය වෙලා තිබෙන්නෙ. මෙය ඇත්ත කථාවක් නොවන බව යළිත් කිව යුතුයි. ඉස්සර ලංකාවෙ තිබිල තියෙන්නෙ ගැමි ප්‍රජාතන්ත්‍රවාදී සමාජයක්. ඒ සමාජ ක්‍රමය යටතේ ගමක ජීවත්වුන ජනතාවටයි ගම අයිතිවුනේ. ගමේ වැඩ පාලනය කලේ බැද්ද රැකගත්තෙ ගම්මුයි.

ඔවුන් පින්පව් සලකමින්, ස්වභාව ධර්මයට ගරු කරමින්, ගම්මුන්ට වුවමනා ලෙසට තොවිල් පහ, හත, නැතිනම් දොළහ නමින් හැඳින්වුව ගම්සභාව යටතේ ගම පාලනය කරගත්ත. ගැමියොයි තොවිලය තෝරාගත්තෙ. එමනිසා ප්‍රබුද්ධයොම දක්ෂයොම බහුශ්‍රැතයොම තොවිලයට පත්වුනා. ඔවුන් සම්ප්‍රදයට අනුව යුක්තියට අනුව, අෂ්ට ලෝක ධර්මයට අනුව තීරන අරගත්ත;

යටත්විජිත ආණ්ඩුව ගමේ බලය, නගරෙ බලය, රටේ බලය උදුරා ගත්ත. ඉන්පසුව ගම, නගරය, රට පාලනය කරන්ඩ ගත්තෙ ආණ්ඩුවට උවමනා ලෙසටයි. යටත්විජිත ආණ්ඩුව කටයුතු කලේ බ්‍රිතාන්‍ය යටත්විජිත කාර්යාලය බ්‍රිතාන්‍ය ආණ්ඩුවට අවශ්‍ය ලෙසටයි. අද ආණ්ඩුව කටයුතු කරන්නෙ ඇමරිකාව වතිකානුව යුරෝපය සහ ඔවුන්ගේ ආදිපත්‍යයෙන් පවත්වා ගෙන යන ලෝක බැංකුව ජාත්‍යන්තර මූල්‍ය අරමුදල හා වෙනත් සංවිධානවලට අවශ්‍ය ලෙසටයි, එමනිසා ඕනෑම කුඩා ගමක් පාලනය කරන්ඩ වගා නිලධාරිය, විශේෂ සේවා නිලධාරිය, පවුල් සෞඛ්‍ය සේවිකාව ආදී සුළු නිලධාරීන්ගේ පටන් පලාත් සභාව, ජාතික රාජ්‍ය සභාව, අධිකරනය, අධ්‍යාපනය ආදී ආයතන රාශියක් ඇතිකරල තියෙනව. ඒ ක්‍රමය මගින් ගැමියා තත්තත්තාරවූ අසරණයෙක් කර තියෙනව,

ගමක හත්මුතු පරම්පරාවක් ජීවත්වුන ගොවි පවුල්වලට වැවේ වතුර ටික පාලනය කරගැනීමේ අයිතිය නැහැ. කුඹුරුයාය, වතුර මාර්ගය නැතිනම් වැව පාලනය කරන්නෙ ගොවිතැන ගැන මෙලෝ හසරක් නොදන්නා වගා නිලධාරියයි. ආණ්ඩුව වගා නිලධාරිය සහ කෘෂිකර්ම නිලධාරිය පත්කරල තිබෙන්නෙ වෙළඳ සමාගම් වල වැඩ කටයුතු කරමින් ගම දුප්පත් කිරීමටයි. ගමට රසායනික වස විස සපයන, ගොවියාව නොමග යවන අසරන කරන ඒ නිලධාරින්ට ආණ්ඩුව පඩි ගෙවනව. හත්මුතු පරම්පරාවක් ජීවත්වුන ගම ගොවිතැන් බත්කල කුඹුරුයාය පාලනය කිරීමට බලයක් නැති, මංමුලාවී සිටින අසරනවී සිටින ගොවියට රට පාලනය කරන්ට අඬගහනව. ඔවුන් ජනාධිපති, ජාතික රාජ්‍ය සභාව, ආණ්ඩුව වෙනුවෙන් මිනී මරා ගන්නව. විජිත වාදියගෙ මේ ප්‍රජාතන්ත්‍රවාදය ප්‍රයෝගයක් පමණයි. අධ්‍යාපනය හා විජිත වාදී උගතුන් විජිත වාදියාගේ ප්‍රජාතන්ත්‍රවාදය ගැන මතුරනව. ග්‍රික් ප්‍රජාතන්ත්‍රවාදය, කොමියුනිස්ට් වාදය ගැන බොරු උගන්න මින් ජනතාව නොමග යවනව. ඒ අතර ආණ්ඩුව ප්‍රජාතන්ත්‍රවාදී සමාජවාදී ශ්‍රී ලංකා ආණ්ඩුව නමින් ලේබල් අලව ගන්නව. මේ සියල්ලම ප්‍රයෝග පමණයි.

ලංකාවෙ නම් කවරදකවත් වැඩවසම් සමාජයක් තිබිල නැහැ. ක්‍රි: ව: 1815 පටන් ලංකාව බ්‍රිතාන්‍යයින්ගෙ යටත් විජිතයක් වුනා. අද රට මුලු යුරෝපයට සහ ඇමරිකාවට යටත් විජිතයක් වෙලා. එම නිසා පැරණි සිංහල සමාජ සංවිධානයට අයිතිව තිබුණ කිසියම් හෝ ලකුණක් ඉතිරිවී ඇත්නම් ඒ සියල්ලම විනාශකර දැම්මයි. දැන් කෙරෙන්නෙ. ඔවුන් බුද්ධ ශාසනය පවා විනාශ කිරීමේ යෙදිල ඉන්නව. එහි ජීවයවූ සංඝ සමාජය බිඳ දැම්මට දරන විරිය මෙපමණයයි කියන්න බැහැ. දේශපාලකයා භික්ෂුවගේ අනුශාසකයා ලෙසින් කටයුතු කිරීමට ඉදිරිපත්වී සිටිනව. පින්දීම භික්ෂුවට බාරදී බණ කීම දේශපාලකයා බාර ගෙන තියෙනව. තමා මෙන්ම භෞතික වස්තූන්ට තානාන්තර වලට කැදරවූ භික්ෂුවකුයි දේශපාලකයාට උවමනාවී තිබෙන්නෙ. එමනිසා විශේෂයෙන්ම තරුණ භික්ෂුව නොමගට පෙලඹවීම සඳහා මෛවාරන සැලසුම් ක්‍රියාත්මක වෙනව. ආණ්ඩුව දහස් ගණන් තරුණයන් මහනකර භික්ෂු සමාජය අවුල් කරන්නට අදහස් කරනව. සංඝ භේදය සිදු කරනව. සංඝයා වහන්සේ නින්දාවට ලක්කිරීම සඳහා දේශපාල කයා නිර්භීතව ඉදිරිපත්වීම පැහැදිලිව පෙන්වන හොඳම උදාහරණය ලංකාවේ මුල්ම විධායක ජනාධිපති ලෙස කටයුතු කළ ජයවර්ධන අවාසනාවන්තයා භික්ෂූන් වහන්සේලාව කළ අපහාස කන්දරාවයි,

භික්ෂුව නූගතෙක් කර රටේ ජනතාවටත් ලෝකයාටත් උපන්විමේ වැඩ පිළිවෙලක් ක්‍රියාත්මක වෙනවා. භික්ෂුව පාලි හා සංස්කෘත භාෂා වලින් ඉවත් කර ඉංග්‍රීසි භාෂාවේ වහලෙක් කිරීමට විශේෂ පරිශ්‍රමයක් දරනවා. සිල්වත් විනයවත් උගත් භික්ෂුව වෙනුවට දේශපාලකයින්ට වාලූත්වූ භික්ෂුව ඉස්මතුකර ගන්නවා. ඉතා මෑතකදී යුරෝපයේ රටක ධර්ම ප්‍රචාරයට එවා සිටින භික්ෂුවක් අපට හමුවුනා. උන්වහන්සේ හිස බූගා ඇති චීවරයක් පොරවා එවා ඇති පාදිලිවරයෙක්. උන්වහන්සේට පාලි බැහැ. සංස්කෘත කොහෙ මටවත් බැහැ. සිංහල සංස්කෘතිය ගැන මෙලෝ හසරක දැනුමක් නැහැ. ජාතක කථාවක්වත් දන්නෙ නැහැ.

බෞද්ධ සමාජයේ කුල භේදය මැයෙන් කරන විවේචන බුද්ධාගමට, බුද්ධ ශාසනයට, සිංහල බෞද්ධ සමාජයට එරෙහිව කෙරෙන ශීතල යුද්ධයක එක්තරා අංගයක් ලෙසින් තේරුම් ගත යුතුයි. එහි සැලසුම් ශිල්පින් ඉන්නේ යුරෝපා කරයෙයි. ඔවුන්ගේ අන්තේවාසිකයින් කුලභේදය ගැන නොයෙකුත් කථා ඇදබාමින් සිංහල ජාතිය බින්න කිරීමට වෙහෙස දරනව. එම අවශ්‍යතාවය සපුරා ගැනීමට තමයි විජිතවාදී අධ්‍යාපනය අණ්ඩ දමමින් පවත්වාගෙන යන්නෙ. විජිතවාදී අධ්‍යාපනයේ මූලික පරමාර්ථය වුණේ ක්‍රිස්තියානීන් බෝකිරීමයි. නව යටත්විජිත අධ්‍යාපනයේ පරමාර්ථය මානසික වහලුන් බෝකිරීමයි. විජිත අධ්‍යාපනය නමැති විස පොවා මනස් අන්ධයන් ඇතිකිරීමට අවශ්‍ය සියලු කටයුතු කෙරෙනවා. ඒ අධ්‍යාපනයෙන් බිහිකළ සහතික උගතුන් තමයි සිංහලයාට බෞද්ධයාට විරුද්ධවූ මහා ශීතල සංග්‍රාමයේ ලුතිනන් ධුර කපිතන් ධුර දරා සිටින්නෙ. විජිතවාදී අධ්‍යාපන ක්‍රමය ස්ථාවර කරගෙන ඇත්තෙ පාදඩ දේශපාලන ක්‍රමයකින්. නැවතත් ජර්මනිය දෙස බලන්න. මේ රටේ දේශපාලකයා නම් දේශපාලනඥයෙක් ඔහු එම විෂය හැදෑරුවෙක්. මයිස්ටර්වරයෙක්. විශේෂඥයෙක්. එමනිසා ඒ දේශපාලනඥයාට විනයක් තිබෙනව. හික්මීමක් සම්ප්‍රදායක් හා වගකීමක් තිබෙනව. ලංකාවෙ දේශපාලකයා කියන්නෙ කවුද? දේශපාලකයෙක් වීමට රටේ රාජ්‍ය නායකයෙක් වීමට උවමනා සුදුසුකම මොකක්ද? ශ්‍රී ලංකාවෙ ප්‍රවෘත්ති රාජ්‍ය ඇමතිගෙ කථාවක් ලංකාවෙ පත්‍රයක පලකරල තිබුණා. ඔහු ප්‍රසිද්ධ සභාවක මෙහෙම කියනව. "මම ඇල්සේෂන් බල්ලෙක් වගේ නායකයාට භක්තිය පෙන්වනවා කන්නදෙන අත සපා කන්නෙ නැහැ"

බලන්න ඇල්සේෂන් බල්ලෝ කියන්නෙ බල්ලො අතරින් නීචම බලු වර්ගයක්. කර අඹල හිරකාරයෙක් වාගෙ හදන ඇල්සේෂන් බල්ල මොනා කරන්නෙත් හාම්පුතාගෙ අණකට හෙලවෙන පිළිවෙලටයි. පරබල්ලො කියල කියන ගමේ බල්ලෙක් එක්කල ඇල්සේෂන් බල්ලව සංසන්දනය කරල බලන්න. රෑලේ වැටෙනා කාලයටවත් ගමේ බල්ල ස්වාධීනව කටයුතු කරනව. ඌ හාම්පුතාට තියා කෑම විකටවත් වාල් නොවී බැල්ලියො පස්සෙ දුවනව. ලංකාවෙ ප්‍රවෘත්ති රාජ්‍ය ඇමතිවරය තමාගෙ චරිතෙ සමානකර ගත්තෙ නීච ඇල්සේෂන් බල්ලෙකුටයි.

මේ ඇමතිවරයම කැලණියෙ පැවතුන ප්‍රසිද්ධ සභාවක කල කථාවක් ලංකාදීප පත්තරේ පලකරල තිබුණ, "මම තරුණයෙකු වශයෙන් 1952 ඉස්සෙල්ලාම රක්ෂාව කළේ ජයවර්ධන මහත යටතේ තිබුණ සංස්ථාවක. එතකොට එතුමා තමයි මුදල් ඇමති. එතුමාගේ කැලණිය ආසනේ රැස්වීම් ඔක්කොම සංවිධානය කළේ මමයි. කාන්තා සමිති පිහිටුවන්න මුල්වුනෙත් මමයි. හුඟාක් ලස්සන තරුණියො ඒ රැස්වීම්වලට එනව දැකල එතුමා මට කිව්ව ඔබ ලස්සන තරුණියො හුඟක් ඇසුරු කරනව, නිවාඩු දවස්වලට ඒ ගොල්ලොත් එක්ක වෝඩ් ප්ලේස් එක පැත්තේ එන්න කියල. එතකොට මම කසාද බැඳලත් නැහැ. කාන්තාවන් එක්ක එතුමා හම්බවෙන්න ගියාම අපිට හොඳට කන්න බොන්න දීල කොළඹ පෙන්නන්නත් එක්ක යනවයි" ඔහු කියා තියෙනවා.

මිනිස්සුන්ව සතුටට පත්කිරීමට ගැහැණුන්ව සපයන්නො හඳුන්වන්නෙ පිම්පියො කියලයි. තමා ජූනියස් ජයවර්ධන වෙනුවෙන් පිංපි වැඩේ කළ බැව් ගිවපු ජයවර්ධන ජනාධිපතිවරයා ඉදිරියෙම කියන්නේ ලංකාවෙ ප්‍රවෘත්ති හා රාජ්‍ය ඇමතිවරයායි. ලංකාවෙ දේශපාලනඥයෙකු වීමට ඇමතිවරයෙකු වීමට උවමනා සුදුසුකම ගැන කථා කරනකොට මේව හරිම වැදගත් ආත්ම ප්‍රකාශන වෙනව. අඥානයින්, පාදඩයින්, මිනීමරුවන්, මපියා ඒජන්තවරුන්, පිම්පියන් රටේ බලය හිමිකරගෙන ඉන්නව. ඔවුන් රටට රටවැසියාට මහපොළොවට සත්වයාට කිසිම දේකට දයාවක් දක්වන්නෙ නැහැ. යටත් විජිතවාදියට සේවය කරනව. එම නිසා බ්‍රිතාන්‍ය යටත්විජිත සමයේ සිදු නොවූ ලෙසට රට වැසියා අනාථවී සිටිනව. විදේශිකයො රටේ බලපුළුවන්කාරයො වෙනව.

රටේ කිසිම පිළිවෙලක වෘත්තීය හෝ ව්‍යාපාර රැකවරන ක්‍රමයක් නැහැ. සම්ප්‍රධායික ශිල්පියා නිතිය අනුව නුසුදුස්සෙක් වෙනව. උදාහරණයකට බලන්න වෛද්‍ය ශාස්ත්‍රයේ කෙල පැවිණ

මුළු ජීවිත කාලයම රෝගීන්ට පිහිටවුන ගමේ වෛද්‍යවරයෙකු ගැන. ඔහු නීතියට වෛද්‍යවරයෙක් නොවෙයි. වෛද්‍ය වරයෙක් වෙන්න ආණ්ඩුවෙ හරි, බටහිර රටක හරි ලියාපදිංචි වෛද්‍ය විද්‍යාලයකින් සහතිකයක් තිබිය යුතුයි. හත්මුතු පරම්පරාවක්ම බෙරගහපු පරම්පරාවක බෙර සද්දෙ අහගෙනම උපන්න පොඩි කාලෙ ඉඳලම බෙරගහපු, බෙරවාය කියල කුලයකට්ත් ඇතුල් කරල තියෙන ගුරුන්නාන්සෙ රැකියාවක් කරන්ට සුදුස්සෙක් කියල ආණ්ඩුව පිළිගන්නෙ නැහැ. වෘත්තියට සුදුස්සා සහතිකය හිමිකරුවායි. නමුත් සහතිකය ලැබූ පුද්ගලයාට වෘත්තිය හිමිවන්නේ නූගත් දේශපාලකයාට නැතිනම් ඊටත් බාල දේශපාලකයාගේ හෙංචයියාට අවශ්‍යනම් පමණයි. එම නිසා සම්ප්‍රදායික ශිල්පියාත්, සහතික ශිල්පියාත් දෙදෙනාම නූගත් දේශපාලකයා ඉදිරියේ අසරනකර තිබෙණව. නූගත් දේශපාල-කයා මේඩ් ඉන් ඉන්ග්ලන්ඩ් නැතිනම් යටත්විජිතවාදී නිෂ්පාදනයක්.

ව්‍යාපාර රැකවරන ක්‍රමයක් නැහැ. කිසියම් ශිල්පයක් පරම්පරාවෙන් ඉගෙන, ආණ්ඩුවෙ ආයතන වලින් සහතික ලබා පිටරට ගොහින් වැඩි දැනුමක් ලබාගෙන පැමිණ එම විෂයට සම්බන්ධ ව්‍යාපාරයක් ආරම්භ කරන්න. එය දියුණු වෙයි නම් ඒ කිසිම සුදුසු කමක් නැත්තෙක් එම ව්‍යාපාරයම ඒ අසලින් පටන් ගනීවි. දෙවැන්නා පාදඩ දේශපාලකයාගේ ආධාරය ලැබ මුල් ව්‍යාපාරිකයා මනසා දමාවි. මේ අනවශ්‍ය තරගය නිසා රටේ කිසිම නිෂ්පාදකයෙකුට හිස එසවීමට නොහැකි වෙනව.

කොයි තරම් දක්ෂ ලෙසින් කලත් දේශීය ව්‍යාපාරයක් එක මොහොතකින් විනාශකර දැමීමට විදේශීය සමාගම් වලට ඉඩ ලබා දී තිබෙණව. නෙස්ලේ සමාගම ලංකාවෙ කිරි සමුපාකාර ව්‍යාපාරය විනාශකර දැමුහැටි මීට හොඳම නිදර්ශනයයි. මේඩ් ඉන් ඉන්ග්ලන්ඩ් හැම විටම බහු ජාතික සමාගම් වෙනුවෙන් කටයුතු කරනව.

වෘත්තීය හා ව්‍යාපාර රැකවරන ක්‍රමයක් නැති ඕනෑම රටක් දිළිඳු වෙනව. මේ විදියට වෘත්තීය හා ව්‍යාපාර මංකොල්ලකට යුරෝපයෙ ඉඩ නැහැ. ඇමරිකාවෙ නැහැ. ජපානයේ හෝ කොරියාවෙ ඉඩ නැහැ. ඒ හැම රටකම ශිල්පීය ශ්‍රේණි රැකගන්න ව්‍යාපාර ආරක්ෂා කරන්න නොයෙකුත් උපක්‍රම යොදා තිබෙනව. ක්‍රියාත්මක වෙන නීති තියෙනව. විදේශීය සමාගම් වලින් දේශීය නිෂ්පාදකයා රැකගැනීමට හැම දියුණු රටක්ම කටයුතු කරනව.

මේ නිසා තමයි යුරෝපා හවුල ඇතිවෙද්දීත් ප්‍රංශයට එංගලන්ත ගෙන් මස් ගෙනඒම වැලැක්වීමට ප්‍රංශ ගොවීන් ඉදිරිපත් වුනේ. විවෘත වෙළඳ පොළ ගැන බෙරිහන් දෙන ඇමරිකාව ජපන් නිෂ්පාදන රටට ඒම වලක්වන්ට නොයෙකුත් උපක්‍රම භාවිතා කරනව. නව යටත් විජිතවාදීන් පාලනය කරන ලංකාව නීතියක් සම්ප්‍රදායක් නැති රටක්. රටවාසීන්ට රටේ බලයක් නැහැ. මේ සැබෑ තත්වය තේරුම්කර දෙන පුද්ගලයින් මේ තත්වය වෙනස් කරන්ට හදන බුද්ධිමතුන් නැතිනම් කුමන හෝ බලවේගයක් දුටුකල එය විනාශකර දැමීම සංවිධානාත්මකව සිදුවෙනව. උපාලි විජයවර්ධන බඳු ප්‍රඥාවන්ත ව්‍යාපාරිකයින් ගැන ලංකා ඉතිහාසයේ කොහෙවත් සඳහන් වෙන්නෙ නැහැ. එතුමා යුරෝපය ඩැහැගෙන ඉන්න කොකෝවා ඒකාධිකාරය බිඳ දැමීමට කල යුද්ධයෙන් ජය අත්කර ගනිමින් හිටිය. යුරෝපීන් කුණු කොල්ලයට ලංකාවෙන් ගෙනියන කරාබුනැටි වෙළඳාම නවත්තල යුරෝපයේ ඉහල මිලක් පවතින කරාබු ස්ප්‍රිතු ලංකාවෙන් යැවීමට වෙහෙසුනා. යුරෝපීය ඒකාධිකාරී සමාගම් වලට විරුද්ධව කටයුතු කලා. එතුමාව අතුරුදහන් කලා. ලංකාව විදේශ ආධිපත්‍යයෙන් ගලවා ගැනීමට වෙහෙසුන එකම රාජ්‍ය නායකයා ඇස්. ඩබ්ලිව්. ආර්. ඩී. බණ්ඩාර නායක උතුමාව ඝාතනය කලා. යුරෝපා ඖෂධ ඒකාධිකාරීන්-ගෙන් ආසියාව, අප්‍රිකාව ගලවා ගැනීමට වෙහෙසුන දොස්තර සේනක බිබිලේ මරා දැම්ම. උතුරේ යුද්ධය නිමකර සාමකාමී ලංකාවක් ගොඩනැංවීමට කැපවූ ඩෙන්සිල් කොබ්බෑකඩුව සෙනවියා එතුමාගේ සහායකයනුත් සමග විනාශකර දැම්ම. යුද්ධ නොකරන, භේද රහිත, නීති ගරුක, නිදහස් ලංකාවක් ගොඩ නැංවීමට සිතීම පවා නව යටත් විජිත වාදීයාගේ සැලැස්ම අවුල් කිරීමක් වෙනව. මෙපමණ කාලයක් දැරූ වැයම විනාශවී යනු ඉන්දියාව කැබලි කිරීමේ සැලැස්ම වෙනස්වීයනු, බලය බිඳීයනු, දකින්ට ආධිපත්‍යය ගිලිහීයනු දකින්ට නව යටත් විජිතවාදියා සූදානම් නැහැ. නව යටත් විජිතවාදීයාට අවශ්‍ය දෙකඩ, තුනට කැඩුණු ලංකාවක්, මිය ගිය සිංහල ජාතියක්, මිය යන දෙමළ ජාතියක්, කැබලි කැබලිවන ඉන්දියාවක්, ඔහු ඒ ඉලක්කය සපුරා ගත යුතුයි. ඒ සඳහා හිස්නැති කබන්ධ පාලකයින් පිරිසක් ලංකාවේ පාලකයින් ලෙස තබාගත යුතුයි. ඔවුන් මහජන නියෝජිතයින්, මෝඩයින්, තක්කඩින්, හොරුන්, මිනීමරුවන් වන තරමට වාසිය යටත් විජිතවාදීයාටයි.

සිංහල ශ්‍රේණික්‍රමය සංවිධානය කරල තිබුණේ උස් පහත් කුල භේදයක් ඇති නොවන පිළිවෙලටයි. හැම ශ්‍රේණියකටම වෘත්තිය පිළිබඳව අභිමානයක් හා රැකවරනයක් සපයා තිබුණ. වෘත්තියක්

නොකිරීමයි තීන්දුවට කාරනය වුනේ. එමනිසා රාජ අපරාධකාරයින්ව වෘත්තියක් නැති ශ්‍රේනියකට දැම්ම. ශ්‍රේනියක් නැත්තා අනිවාර්යයෙන්ම වසලයෙක් වුනා. හැම ශ්‍රේනියකටම අභිමානයක් තිබුණ නිසා කිසිම ශ්‍රේනියක සමාජිකයෙකුට හිතුනෙ නැහැ, මගෙ ශ්‍රේනිය උසස්ය හෝ පහත්ය කියල. එමනිසා ශ්‍රේනි කඩා ඉහිරවීමට කිසිවෙකුට උවමනා වුනේ නැහැ. නමුත් සමහරවිටක ප්‍රේම සම්බන්ධතා වැනි ස්වභාවික දේවල් නිසා සමහරුන්ට ශ්‍රේනි පිළිබඳව ප්‍රශ්න ඇතිවුනා. මීට ලස්සනම උදාහරණය සිංහල සාහිත්‍යයේ අතිශයින්ම ජනප්‍රිය සාලිය අශෝකමාලා ප්‍රේම කථාවයි.

දුටුගැමුණු රජ්ජුරුවන්ගෙ එකම පුතා සාලියයි. ඔහු ප්‍රේමකළ අශෝකමාලා තිසාවැව අසල ලෝකුරු ගමක ප්‍රධානියෙකුගේ දුවකැයි පරණවිතාන පෙන්නල දෙනව. මොවුන් දෙදෙනාගේම ශ්‍රේනි එකකට එකක් පහලට යන්ඩ කැමති වුනේ නැහැ. එමනිසා යුවලට විශාල අභියෝගයකට මුහුණ පාන්නට සිද්ද වුනා. ඔවුන් එය ජයගත්තෙ ශ්‍රේනි දෙකම අත්හැරල අනුරාධපුර නගරයේ නගරවාසීන් ලෙසට පදිංචියට යාමෙනුයි. භාරතයේ බමුණු ඉගැන්වීම් අනුව හැම මනුෂ්‍යයෙක්ම උත්පත්තියෙන් කුලයකට අයිතිවුනා. මින් මහා බ්‍රහ්මයට සුත්‍ර මතුරපු බමුණොත් රාජ්‍ය පාලනයේ යෙදුන ක්ෂත්‍රියොත් කුලවතුන් වුනා. කුලහීන වෛශ්‍යයො වෙළඳාමෙ හා ගොවිතැනේ යෙදුන. අනෙකුත් සියලුම වෘත්තීන්හි යෙදුන නීච කුලය ලෙසින් සලකපු ශුද්‍රයො විසිනුයි. ඉන්දියාවෙ මුල්බැසගෙන තිබුණ මේ කුලවාදී බ්‍රාහ්මණ සමාජය පුපුරවපු නිර්භීත සටන්කාමියා බුදුහාමුදුරුවොයි. ක්ෂත්‍රිය කුලයක් වූ ශාක්‍ය වංශයේ රජ පවුලක උපන් උන් වහන්සේ ගිහිගෙය හැර දමා තාපසට ගියා. බුද්ධත්වය ලැබුපසු ලෝක සත්වයා කෙරේ කරුණාවෙන්ම ගමක්, නගරයක් පාසා ඇවිදිමින් ධර්මය කියා දෙමින් තමා උපන් රටේ අගනුවරවූ කපිලවස්තුපුරයට පැමිණියා. සිද්ධාර්ථ තවුසා තවත් තපසුන් කිහිපදෙනෙක් සමග නගරයට පැමිණ ගෙවල් ගානෙ සිගාකන වග ඇසූ මහලු ශුද්ධෝදන රජතුමා කලබලයට පත්වුනා. එතුමා රාජධුරය ගැනවත් නොසලකා සිදුහත් තවුසා සොයා දිවගොසින් ''මේ මොකද කරන්නෙ ඇයි අපට නින්ද කරන්නෙ'' කියා ඇසුවා.

බුදු හාමුදුරුවො කලබල වුනේ නැහැ. පිඬුසිඟා වැඩීම කසාය වස්ත්‍ර පෙරවීම, ඇවිදීම, ධර්මය කියා දීම අපේ වංශයේ සිරිත යැයි බොහොම සැහැල්ලු ලෙසට කියා සිටිය. රජ්ජුරුවන්ට තරහ ආවා ''බොරු කියන්ඩ එපා ශාක්‍ය වංශයෙ කවුරුත් සිගා කාලා නැහැ,

ශුද්ධෝධන රජ්ජුරුවො කෑ ගැහුවා "මම පිළිගන්නව" බුදු හාමුදුරුවො කිව්වා. රජ්ජු මොහොතකට ජයග්‍රහණය කර සංසුන් වුනා. "මම පිළිගන්නවා කාලයක් මමත් එහෙම වංශයක ජීවත් වුනා. නමුත් සත්‍යය අවබෝධ කරගත් විට මට තේරුනා කිසිවෙකුට උත්පත්තියෙන් ජාතියක් හරි කුලයක් හරි නැති බව. ඒ සත්‍යය අවබෝධ කරගත්අපිට අයිති වන්නෙ බුධ වංශයයි," බුදු හාමුදුරුවො පැහැදිලි කළා.

බුද්ධ ශාසනේ ඕනෑම වර්ණයකට අයත් වුවෙක් මහණ කරගන්න බුදු හාමුදුරුවො ප්‍රසිද්ධියෙ කිව්ව. යමෙක් කුලවතෙක් හෝ කුලහීනයෙක් වෙන්නෙ උත්පත්තියෙන් නොවෙයි. කරන ක්‍රියාකාර කම් අනුව යයි කියල. එම නිසා බුද්ධාගම කියන්නෙ උපන් ගෙයින්ම කුල ජාති ආගම් බේද නොසලකපු ආගමක්. දේශ සීමා රටවල් ලෝක නොපිළිගත් දර්ශනයක්. එය ලංකාවෙදි කුල ක්‍රමයක් වැද්ද ගෙන විකාශනය වීයයි කීම විජනවාදී අධ්‍යාපනය විසින් බෝකළ උගතුන්ගෙ ප්‍රබන්ධයක්. බුද්ධ ධර්මයේ ආස්වාදය ලබපු සිංහල සමාජයෙ කවරදකවත් චතුර්වර්ණ ධම් සැලකිලි ලබල නැහැ. එබඳු කුල භේදයක් ඇති නොවන විදියට තමයි හැම ශ්‍රේණියකටම අභිමානයක් දීල ග්‍රාම රාජ්‍ය පාලන ක්‍රමයක් ඇති කරල තිබුණෙ.

සිංහල රාජ්‍යයෙ කටයුතු අංශ තුනකින් ක්‍රියාත්මක වුනා. මින් පළමු වැන්න වනාන්තර පිළිබඳ කාර්යයෝයි. රටට වැස්ස හා ජලය ලබා දුන් සත්ව සම්පතට පිහිටවුන වනාන්තරය පූජා බිමක් ලෙස සැලකුනා. එය සම්පූර්ණයෙන්ම අයිතිවුනේ සහ පාලනය වුනේ ස්වභාවධර්මයේ දරුවන් ලෙසින් ජීවත්වුන වැද්දන්ගෙ මකේටයි. වැද්ද කිසි දිනක වනාන්තරය කොලෑවෙ නැහැ. කැලය හා බැද්ද පමණයි සිංහලයන්ට අයිති වුනෙ. හැබැයි වැද්දන් හා රාජ්‍ය පාලකයින් අතර සම්ප්‍රදායික ගිවිසුම් තිබුණ. වැද්දෙ රටවාසීන්ට දඩමස් හා මීපැණි සැපයුව. බෙහෙත් ද්‍රව්‍ය හා අලි ඇතුන් සැපයුව. තපස් රකින්නො හැර අනවසරයෙන් වනාන්තරයට ඇතුල් වන්නන් අල්ලල රජ්ජුරුවන්ට භාරදුන්න. කඩවත් රැක්ක, රාජ්‍යයෙන් වැද්දන්ට දුනු ඊතල සැපයුව. කතරගම, මහියංගනය, අළුත්නුවර ආදී පෙරහැරවල් සංවිධාන කර දුන්න.

වනාන්තරයේ කටයුතු ඉවත්වුනාහම රටේ කටයුතු කොටස් දෙකකට වර්ග වුනා. ඒ නිෂ්පාදන හා වෙළඳම යනුවෙනුයි. වෙළඳම භාරවුනේ වෙළෙඳ ශ්‍රේණියටයි. එම ශ්‍රේණිය ගැන කථා කරද්දී [illegible]

සිංහල වර්ගය හැඳුනෙ ගෝත්‍ර ගණනාවක් එකතු වෙලා යැයි මුලින් කීව. නාගයො නමින් හඳුන්වන්නෙ ඉන් එක පාර්ශවයක්. නාග වංශය ගැන දෙවනුව දිනක සාකච්ඡා කළ හැකිය, දැන් කිව යුත්තේ නාගයො කිච්චෙ පුරාණයෙ පටන්ම වෙළෙඳ කුලයක් බව පමණයි. ඔවුන් සිංහල ජාතිය නිර්මාණය කළ පසුව වත් මුහුදට සහ වෙළඳමට දක්වපු ආදරය අත හැරියෙ නැහැ. එම නිසා සිංහල ජාතියෙ වෙළෙඳ ශ්‍රේනිය හැඳුනෙ මුහුදට සහ වෙළඳමට ආදරය දක්වපු නාගයො මුල් වෙලයි. ඔවුන් සිංහල ජාතියට අයත් වුවත් නාග වංශයේ අනන්‍යතාවය යම් පමණකට හෝ රැක ගෙනයි කටයුතු කළේ.

සිංහල වෙළෙඳ ශ්‍රේනියට රටේ අභ්‍යන්තර හා බාහිර වෙළඳම පිළිබඳ සියළුම කටයුතු අයිති වුනා. සිංහල වෙළෙන්දෝ ගැන සඳහන් විදේශ වාර්තා බොහොමයි. නාවික ලෝකයේ සිංහල නැව් කොයිතරම් ප්‍රසිද්ධියක් ලබා තිබුණා දැයි අවබෝධ කර ගැනීමට චීන හා ග්‍රීක ලේඛනවලින් දැක්වෙන සාක්ෂි පමණක් වුවත් හොඳටම ප්‍රමාණවත් වෙනව.

නමුත් නාවිකයො තමන්ගෙ ජීවිත වෙළෙඳමට පමණක් සීමා කරල හිටියෙ නැහැ. ඔවුන් ගෙන් තමයි රට ආරක්ෂා කරපු නාවික හමුදාව හැදුනෙ. චූල වංශයෙ මහ පරාක්‍රමබාහු රජතුමාගෙ විදේශ යුද්ධ ගැන විස්තරයක් තියෙනව. එහි සඳහන් වන ලෙසට සිංහල නාවික හමුදා සමග වෛද්‍යවරු පමණක් නොවෙයි සාත්තු සේවිකාවෝ වර්තමාන අර්ථයෙන් නම් හෙදියොත් ඉඳල තිබෙනව. එම නැවියන් හා නැව් ශිල්පීන් අතර විශේෂ තානාන්තර දරපු අයවලුන් සිටිය වග කිවයුතු නැහැ. එබඳු තනතුරු කීපයක් පරුමක, මහනාවික, නාවික, දෙවු නාවික ආදී ලෙසින් සෙල් ලිපි වල සඳහන් වෙනව. එම නැවියන්ට හා නැව් තොටු වලට සම්බන්ධ වෙලා කටයුතු කළ උප ශ්‍රේනි පිළිබඳව තොරතුරු බිඳක් හෝ අදටත් භාවිතා වෙන මහදූවගේ, මරක්කලගේ, මඩිහහේවා ආදී වාසගම් වලින් කියවෙනව.

ඉතිහාසයක් මුළුල්ලෙ නොයෙකුත් පරසතුරු ආක්‍රමණකයින් සමග සටන් කර ඇතත් සිංහල සේනා සහ සටන් ක්‍රම ගැන තොරතුරු ඇත්තේ ඉතාම ටිකයි. උදහරණයකට කීවොත් සිංහලයො පෘතුගීසීන් සමග තීරණාත්මක යුද්ධ ගණනාවක්ම කර ඇතත් මේ යුද්ධ ගැන කිසියම් තොරතුරක් අනාවරණය කර ගැනීමට උත්සාහ දරා ඇත්තේ කවුද කියා අපට නම් කිසියම් තොරතුරක් ලබා ගන්ට හැකි වෙලා නැහැ. ඒ වෙනුවට පෘතුගීසි

පාලනයෙ ප්‍රතිඵල පෘතුගීසි දූශාද, කපිරිඤ්ඤ, පසම්, පාස්කු නාට්‍ය ජෝමාකාර පෘතුගීසි වර්ණනා ලියාපු උගත්තු ඉන්නව. සමහර විට මොවුන් යුද්ධ ගැන සෙවීමට හා ලිවීමට අකමැතිවූ පුද්ගලයන් විය හැකියි. එසේත් නැතිනම් පෘතුගීසීන්ට නින්ද වෙන යුද්ධ ගැන ලිවීම මොවුන්ගේ කාර්ය නොවෙන්ඩ ඇති.

තවමත් අනාවරණයවී නැති සිංහලයන්ගෙ සේනා සහ සටන් ක්‍රම ගැන තොරතුරු පෘතුගීසි ලේඛනවල තියෙනව. ලංකා ඉතිහාසය ගැන උනන්දුවක් දක්වන්නෙකුට ඒ තොරතුරු සේවීම එතරම් අමාරු නැහැ. සිංහලයන්ගෙ නාවික සේනා සහ යුද්ධ කථා කළ නිසා ඒවා සම්බන්ධ එක තොරතුරක් පමණක් කියන්ඩ බලාපොරොත්තු වෙනව.

පෘතුගාල්යේ සුරැකී තිබෙන සිංහල ඉතිහාසය පිළිබඳව තොරතුරු අපට අනාවරණය කර දීමට බලවත් වෙහෙසක් දරන උගතුන් කීපප පොළස්ම අපට ඉන්නව. ඔවුන් අතරින් ප්‍රධානවූ ආචාර්ය ලූසියා ඇලෙක්සැන්ඩරියා දිනක පෘතුගීසි නාවුක ලේඛන ගක සටහන් කර ඇති සිංහලයින්ගේ ලාංජනයක ජායා පිටපතක් සොයා ගෙන පැමිණියා. එය කුමක් දැයි දැන ගැනීමට ඇයටත් අවශ්‍ය වුනා. පෘතුගාලයේ සහ බ්‍රසීලයේ විශ්වකෝෂ ග්‍රන්ථ දෙකක සිංහල ජාතිය විස්තර කිරීම සඳහා මෙම ලාංජනය භාවිතා කර ඇති බවත් ඔවුන් ලාංජනය සපයා ගෙන ඇත්තේ පැරණි පෘතුගීසි ලේඛන වලින් බවත් ඇය කීවා. ලාංජනයේ තිබුණේ කැටයම් පුවරුවක් මැද සැදූන චෛත්‍යක් සහ ඒ අසල සිටගත් හස්තියෙකුයි එහි අර්ථය කුමක් දැයි වටහාගැනීම සිංහල ජාතියේ දර්ශනය වටහා ගැනීමයි.

සිංහලයො සිංහ ධජය භාවිතා කර ඇත්තෙ සටන් වලදී පමණයි. ඔවුන් රට හඳුන්වද්දී ජාතික ධජයත් භාවිතා කර තිබෙනව. එයින් පැහැදිලි වුයෙ බුද්ධාගම මුල්වූ සිංහල සමාජයට බැඳුණු වනවාසීන්ගේ රාජ්‍යයයි. ජීවින් කෙරේ වූ භක්තිය හා ජීවිත පරමාර්ථයයි, සිංහලයන්ගෙ ජාතික ධජය නිර්මාණය වුණේ මහා ථූපය සංකේත කරමිනුයි, මහා ථූපය හැඳුනෙ රත්නමල්ලී නාමය, ස්ථූපය සහ ඇත් පවුර එක්වෙලයි සිංහල ජාතික ධජය නැතිනම් මහාථූපය දක්වෙන දගැබ පැරණි බෞද්ධ ලෝකයේ රටවල් ගණනාවක්ම තිබුණා. ඒවා ගොඩ නංවා ඇත්තේ කරවයන් විසිනුයි. මෙබඳු ථූපයක් Si Satchanalai නමින් අදටත් තායිලන්තයේ WAT CHAN LOM හි සුරක්ෂිතව තිබෙනවා.

# Ceilão



*Armas do Ceilão*

පැරණි පෘතුගීසි නාවුක ලේඛනවල ලංකාව නමින් රටක් නැහැ. **Ceilao** නම් රට ගැන බොහෝ තොරතුරු තිබෙනව. එම රට හැඳින්විමේදී රටේ ජාතික ධජයේ සලකුණද සමහර ලේඛන වල සටහන්ව තිබෙනව.

සතුරු ආක්‍රමණ වලදී රට රැක ගැනීමට කටයුතු කළ ඇතැම් නාවික සේනාපතීන්ට රාජ්‍ය සම්මාන ලැබුණා. රත්නවීර, විජේකුලසූරිය, අබේවික්‍රම, ජයවික්‍රම ආදී පෙලපත් නාම වලින් පෙන්නන්නෙ ඒ සම්මාන පිළිබඳ කථාන්දරයයි. ඇතැම් විට අරාබින් හා පෘතුගීසීන් නොදැනුවත්වම සිංහල නැවියන්ට විරුද පටබැන්ද අපවාද තියෙනව. "වලි" යන පදය මුල්වුන පෙලපත් නාම වලිසිංහ වලිවුණි වැනි පෙලපත් නාම වල ආරම්භය එහේමයි. අදටත් පෘතුගීසි ජාතිකයො භාවිතා කරන වලියන්තේ නමින් කියවෙන්නේ සටන් කාමියා නැතිනම් අගීතයා යන අර්ථයයි.

සිංහල වෙළඳ සමාගම් වලට කියා ඇත්තෙ කරව කියලයි. කරව දේශ දේශාන්තර වල පැතිරිලා තිබුණ නාමයක්. එම නිසා ඉස්සර මහ සාගරයට කරදිය වලල්ල නමවූ ජනවහරක් තිබුණ. එද කරදිය කිව්වෙ ලුණු වතුර යන අර්ථයෙන් නොවෙයි. කරදිය මිරිදිය පසු කාලෙක හැදුන වචන දෙකක්. කරදිය වලල්ල යන්නෙන් අදහස් වුනේ සිංහල වෙළඳ සමාගම් ජයගත් මහා සාගරය යන්නයි. අභ්‍යන්තර වෙළඳාමේ යෙදුන සමාගම් වලට ගොඩ කරවයයි කිව්ව. විදේශ වෙළඳාමේ යෙදුනෙ මුහුදු කරවයයි. අද භාවිතා කරන ගොඩකරය සහ මුහුදුකරය යන වචන හැදිල ඇත්තෙ ගොඩ කරව සහ මුහුදු කරව යන වචන ආශ්‍රයෙනුයි. කරවයන් ඇතැම් විට රටේ අභ්‍යන්තර ඉදිකිරීම් කටයුතු වැනි දේවල පවා යෙදුන. විශාල දාගැබ්, මහා ස්තූප වැනි දේ හැදීමට මුල්වෙලා තියෙන්නෙ කරවයයි. ලංකා පුරාවිද්‍යා දෙපාර්තමේන්තුව නිකුත් කළ ශිලා ලිපි සංග්‍රහයේ පළමු වැනි වෙළුමේ ශිලා ලිපියකින් පෙන්වන පරිදි ඔවුන් නිවාස ඉදිකිරීම් බඳු කාර්යයන්හිත් යෙදී තිබ්බනව. එපමණක්ද නොවෙයි ඔවුන් ලංකාවෙන් බැහැර රට වලද බෞද්ධ ශාසනික සේවාවන් සඳහා වෙහෙසුනා. මාලදිවයිනේ ඉතිහාසය ගැන උනන්දුවක් දැක්වූ යුරෝපීය ඉතිහාසඥයෙකුගෙන් අප දැනගත් පරිදි සිංහල කරවයන් දිවෙහි රාජ්‍යයේද ස්තූප ඉදි කිරීමේ යෙදී තියෙනව. නමුත් එබඳු තොරතුරු ගැන සොයා බැලීමට අපට ඇති ඉඩකඩ ඉතාම සීමා සහිතයි. මාලදිවයින අද මුස්ලිම් රාජ්‍යයක්. එහි දිවයින් වලින් මතුවන පුරාවස්තු සියල්ලම විනාශ කර දමනව. ස්තූප සමතලා කරනව. රටවැසියන්ට තම බෞද්ධ ඉතිහාසය ගැන කථා කිරීමට තබා සිතීමටවත් ඉඩක් නෑ. සමහර විට ඔබලාත් දකින්නට ඇති ජර්මන් රූපවාහිනියෙන් ප්‍රදර්ශනය කළ තෝර්හයර්ඩාල් නමැති ගවේශකයා කොන්ටිකි යාත්‍රාවේ නැගී ගිය ගමනේදී මාල දිවයිනට ගොස් කළ විස්තරය ඔහු ඒ රටේ පුරාවස්තු ගබඩාවක සඟවා තබා ඇති බුදු පිළිම හිස් අරගෙන පෙන්නුව. ගෝණියක බහා තිබුණ එක බුදු පිළිම හිසක්

අනුරාධපුරයේ සමාධි ප්‍රතිමාවේ හිසට සමානයි. ඔහු මාල දිවයිනේ දූපත් කිහිපයක හෝ අදටත් ඉතිරිව ඇති ස්තූප ගොඩනැගිලි පෙන්නුවා. මහා සාගරයේ ඈතට කුඩා කඳු ගැටයක් ලෙස පෙනෙන එක් කුඩා දූපතක පිහිටි දාගැබක් සැබවින්ම බෞද්ධයෙකුට බුද්ධා ලම්භන ප්‍රීතිය උපදවන දර්ශනයක් වෙනවා. හයර්ඩාල් එක් දූපයක් පිහිටි ස්ථානය කනිමින් එහි පාදම පවා පෙන්නුවා. තවත් දූපතක මිනිසුන් බිමට ජලය ලබා ගන්නා ළිඳක් වටා අතුරා ඇති කළු ගල් කැට පෙරලමින් ඒවායේ ඇති ශ්‍රීපාද කැටයම් දක්වූවා. මාල දිවයිනේ කිහිප පොළකදීම ලංකාවට ඉතා සමාන සඳකඩ පහන් හමුවූ බවත් ඒවා කිසිදු අනුකම්පාවකින් තොරව විනාශ කළ බවත් සිද්ධින් සියැසින් දුටුවෙකුගෙන් අපට දැනගන්ඩ ලැබුනා. සංවිධානාත්මක ආගම් නිසා අන්ධවූ මිනිසුන් මේ වනසන්නේ ඔවුන්ගේම උරුමයයි. මේ ලෙසින් මාල දිවයිනේ ඉස්ලාම් ආගම මාල දිවයිනේ ඉතිහාසය වනසා දැම්මේ යෙදී සිටියත් මාල දිවයින නමින් හඳුන්වන්නෙ සිංහලයන්ගෙ ඥාති රටක්. මහා වංශයේ මහිලා දිවයින ලෙසින් සඳහන් වන්නේ මාලදිවයිනයි. විජය සමග පැමිණි කාන්තාවුන් මේ දිවයිනට ගොඩ බැස්සා කීවත් එය සිදුවී ඇත්තෙ ඊට බොහොම කාලයකට පෙරදියි. පසුව තමයි මහිලා දිවයින මාල දිවයින් වුනේ. මාල දිවයින ඉස්සර සිංහලයන්ට ඥාතිවූ ජන කොට්ඨාශයක් ජීවත්වුන හොඳ බෞද්ධ රටක්. එයි වාසීන් කථා කලේ සිංහලයට ඉතා සමීප භාෂාවක්. ඇත්තෙද පැලැන්දෙ සිංහලයන්ට සමාන ඇඳුම් පැළඳුම් ආභරන. ඔවුන් අතර තිබිල තියෙන්නෙ සිංහලයන්ගෙම සමාජ සංවිධානය බඳු සමාජ සංවිධානයක්. ඉස්ලාම් ආගම විසින් ඒ සියල්ල වනසා දැම්මල ඉවරයි. ඒ ගැන පුදුම විය යුතු නැහැ. භාරතයේ බුද්ධ ශාසනය විනාශ කරමින් ලක්ෂ සංඛ්‍යාවක් භික්ෂූන් හා භික්ෂුණීන් වහන්සේලා මරා දමා ඇත්තෙ ඉස්ලාම් ආගම විසිනුයි. භාරතයේ බෞද්ධ මූලස්ථානය තමයි අද පාකිස්ථානය නමැති ඉස්ලාම් රාජධානිය. ලඟකදී බර්ලින් නුවර පැවැත්වුන සංචාරක ව්‍යාපාරයේ උත්සවයකදී පාකිස්ථානය ඒ රටේ කෞතුකාගාරයක ඇති බුද්ධ රූපයක් සංචාරක දැන්වීම් සිතුවමකට යොදල තිබුණ. එම බුද්ධ රූපය දුෂ්කර ක්‍රියාව නමැති බුද්ධ චරිතයේ ඉතාම අනුවේදනීය අවස්ථාවක් පෙන්වන කලාත්මක ප්‍රතිමාවක්. මෙබඳු ප්‍රතිමාවක් ලෝකයේ කොහොනකින්වත් ලැබිල නැහැ. තවත් මේවගෙ වටිනා බුදු පිළිමයක් ඇෆ්ගනිස්ථානයේ තියෙනව. ඇස් ගලවා විකෘති කර ඇති එම පිළිමය ඉතිරිකර තබා ඇත්තේ එය ලෝකයේ විශාලම බුදු පිළිමය නිසා සංචාරක ව්‍යාපාරයේ ප්‍රයෝජනයටයි. බුදු පිළිමය ඇෆ්ගාන් ආණ්ඩුවට විදේශ විනිමය ලබා ගැනීමට ආධාරකයක් වෙලා තිබෙනව. ඉස්ලාම් ආගමේ ආක්‍රමණයට මේ රටවල් හසු වුවත් ඒ රටවල ජනයාට ස්වාධීන උරුමයන් තිබුණ. නිදහසේ

කථා කළ හැකි, නිදහසේ සිතිය හැකි බෞද්ධ. සමාජ සංස්ථා පැවතුනා. ඒව සේරම අද වන විට අවසානයි. ඉතිරි වෙලා තිබෙන ලංකාව ඇතුළු බෞද්ධ රටවල් දෙක තුන විනාශ කිරීමට තමයි අන්තිම සටන ගෙනි යන්නෙ. සිංහලයින්ට විරුද්ධව බෞද්ධයන්ට විරුද්ධව ගෙන යන සියළුම ප්‍රචාර ඒ සඳහායි. පුරාවස්තු විනාශ කරනව. වැරදි ඉතිහාස කථා ලියනව.

අපි පළමුව කථා කරමින් සිටි කාරණාව නම් කරමයක් පිට දේශයන්හිත් ශාසනික කාර්යන්හි යෙදුන වගයි. මේ වැඩ වලින් කරව නායකයන් ලබාගත් කීර්ති නාමයක් තමයි වර්ණකුලසූරිය විඳුකුලසූරිය, කුරුකුලසූරිය ආදී නම් වලින් හෙළිදරව් කර දෙන්නෙ. මේවා වපිනා ඓතිහාසික නම් බව බොහෝ දෙනෙක් දන්නෙ නැහැ.

වෙළඳ ශ්‍රේණියේ මුදල් හා බැංකු කටයුතු වල යෙදුනවුන්ට සෙට්ටින් යයි කිව්ව. අද ව්‍යවහාරයේ හැටියට හෙට්ටි කියන්නෙ ලංකාවේ වෙළඳ බලය අල්ලා ගෙන ඉන්න විදේශීය පිරිසකුයි, නමුත් සෙට්ටි යන්නේ පැරණි අර්ථය එය නොවේ. අදටත් භාවිතා කරන හෙට්ටි ආරච්චි, හෙට්ටිගේ, හෙට්ටි තන්ත්‍රී, ආදිහෙට්ටි ආදී වාසගම් ගැන සොයා බලන්න. වයඹ පළාතේ පැරණි පඬුවස් නුවරට නාලක ව්‍යවහාර කරන්ඩ පටන් අරගෙන තිබෙන්නෙ හෙට්ටිපොළ කියලයි. මේ නගරයට නුදුරින් පිහිටි වර්තමාන ආණමඩුව මැතිවරණ කොට්ඨාශයේ පරමාකන්ද විහාර භූමියේ ගෙල් ලිපියක අනුරාධපුර රාජධානි කාලයේ බැංකු සේවාවක් පැවතුන හැටි පමණක් නොවෙයි බැංකුව පොලී ගත් හැටි පවා විස්තර කර තිබෙණව. ජේෂ කාර්මිකයො අයිති වුනෙත් වෙළඳ ශ්‍රේණියටමයි. වෙළඳ ශ්‍රේණියටම මුතු නිපදවන ධීවර කටයුතුවල යෙදුන ශ්‍රේණිත් අයිති වුනා. ඒ සියල්ල වෙළඳ ශ්‍රේණියට අයිති උප ශ්‍රේණි වෙනව.

වෙළඳ ශ්‍රේණියට අයත් වූවන් වැඩි වශයෙන් වාසය කළේ මුහුදු බඩ පළාත් වල උතුරේ හා නැගෙණහිරයි. ඒ අතර තුර ප්‍රධාන නගර වලත් උප නගරවලත් වෙළඳ ශ්‍රේණියෙ ජනාවාස පැතිරුනා. කෘත්‍රිම ජලාශ වලට විල් කියල භාවිතාකරල තියෙන්නෙ වෙළඳ ශ්‍රේණියට අයත්වුන නාගයොයි. වෙළඳ ශ්‍රේණිය ඉන්දියාව සහ චීනාත් රටවල් සමග බොහෝ සම්බන්ධකම පැවැත්තුව. එම නිසාම වෙළඳ ශ්‍රේණිය විසින් සිංහල සංස්කෘතියට නිතොර නිදහාර අවත් සංස්කෘතික අංග ඇතුල් කළා. නිදසුනක් වශයෙන් දන්වතොස් සිංහල රාජ්‍යයේ ආගම බුද්ධාගම වශයෙන් නිල ලෙස ප්‍රාවුවීමට පෙර නාිබපල්ලියේ බෞද්ධයින් වුනේ නාගයෝයි.

සිංහල රාජ්‍යයේ මහායාන බුද්ධාගම පිහිටුවීමට මූලිකවී ඇත්තෙත් නාගයින් ගෙන් බිහිවුන සිංහල වෙළඳ ශ්‍රේණියයි. ඉස්සර අනුරාධපුරයේ වෙස්සගිරිය වෙළඳ ශ්‍රේණිවලටම විශේෂවූ විහාරයක් බව පරණවිතාන ශූරීන් පෙන්වනව. කුවේර වන්දනාව කර ඇත්තෙත් ඔවුන්මයි. ධනයට අධිපතිවූ කුවේර දිව්‍ය රාජයාගේ ප්‍රතිමා පුරාවස්තුන් අතර තිබී හමුවෙලා තියෙනව. පරණවිතාන පැහැදිලි කරන ලෙසට සීගිරිය ගොඩ නැංවූවේ ආලකමන්දවක් තැනීම ගැන එකල ලෝකයේ පැතිර ගිය සම්ප්‍රදායක් අනුව නම් සීගිරිය ගොඩ නැංවීමටත් පුරෝගාමීව වෙලා තිබෙන්නෙ වෙළෙඳශ්‍රේණියයි.

දෙමළ හා ජාවක ආක්‍රමණ නිසා අනුරාධපුර පොළොන්නරු රාජධානි විනාශ වුනා. ඉන් ඉක්බිතිව යළිත් සිංහල රාජධානිය පිහිටුවීමට වෙරදරා ඇත්තේ සිංහල වෙළඳ ශ්‍රේණිය මුල් වෙලයි. ඇත්තටම ඒ සඳහා ආර්ථික ශක්තිය තිබුණෙත් ඔවුන්ට පමණයි. ජයවර්ධනපුර රාජධානිය ගොඩනැංවූ වීර අලකේශ්වර වෙළඳ ශ්‍රේණියකට අයත් වුන නායකයෙක්. එයින් පැහැදිලි වෙනව පෘතුගීසීන් ලංකාවට එන කාලෙ සිංහල වෙළඳ ශ්‍රේණිය රටේ ඒ මී කරගෙන තිබීයෙ කොබඳු ස්ථානයක්ද කියල. ඔවුන්ගේ ජනාවාස වැඩි වශයෙන් තිබුණ මුහුදු බඩ ප්‍රදේශ වෙහෙර විහාර වලින් ජෝතිමත් වුනා. නමුත් මේ වනවිට වෙළඳ ශ්‍රේණිය අතර වඩාත් ජනප්‍රිය වී තිබුණේ මහායාන බුද්ධාගමයි. ඊටත් කාරණාවක් තිබුණ. මහායාන බුද්ධාගම අනුව මතු බුදුවන අවලෝකිතේශ්වර බෝධිසත්වයෝයි මහා සාගරයට අධිපතිය වුනේ. උන්වහන්සේ නාවිකයන්ව ධීවරයන්ව සහ මුතු කිමිදෙන්නන්ව රැකබලා ගත්ත. වස්තුවත් නීරෝගී සම්පත්තියත් ලබාදුන්න. මට මතකයි කිසියම් ඉතිහාසඥයෙක් පෙන්නල දී තිබුණ අවලෝකිතේශ්වර බෝධිසත්වයාණෝ ශ්‍රී ලංකාවේ ආරෝග්‍ය දෙවියාව සිටියයි කියල.

මහාචාර්ය පරණවිතාන පැහැදිලි කර පෙන්වූ ලෙසට එකල ලංකාවේ හැම නැව් තොටකම අවලෝකිතේශ්වර ප්‍රතිමා තිබුණ. ඉන් අදහස් වන්නේ මුහුදු බඩ හැම නැව් තොටක් සමීපයේම මහායාන බෞද්ධ විහාර තිබුණ වගයි. ඉන් එකක් තමයි අදටත් බෞද්ධයින්ට අයිති දෙවිනුවර උපුල්වන් දේවාලය. පසු කාලයක උපුල්වන් දේවාලය නම් ගත්තත් ඉස්සර දෙවිනුවර අවලෝකිතේශ්වර බෝධිසත්ව දෙවියෝ වැඩවිසූ විහාරය චීනය ස්වර්ණද්වීපය ආදී රටවල පවා මහා අනුහස් ඇති ස්ථානයක් ලෙසට ප්‍රසිද්ධිය ලබා තිබුණ. එම නිසා ඉන්දියානු සාගරය හරහා යන ස්වර්ණද්වීප

චීනය ආදී රටවල නාවිකයෝ දෙවුන්දර දේවරාජ මාළිගාවට පැමිණ බෝධිසත්ව දෙවියන් නැමදු යාමට අමතක කළේ නැහැ. තවත් ප්‍රසිද්ධ අවලෝකිතේශ්වර විහාර තමයි පෘතුගීසි ලේඛනවල පැගෝඩා යනුවෙන් සඳහන් කර ඇති ගෝකණ්ණ හෙවත් ත්‍රිකුණාමල විහාරය. පසුගිය කාලෙ හින්දූන්ට ලියාදුන් හලාවත මුන්නේශ්වරම නැතිනම් මුලසෝම විහාරය. හඳුනාගත නොහැකි තැන්වල පිහිටි කොළොම්තොට විහාරය සහ මට්ටකොටුවේ ආලෝක විහාරය.

පෘතුගීසිකාරයෝ මුහුදු බඩ තිබුණු සියළුම වෙහෙර විහාර විනාශකර දැම්ම. ඔවුන් ඒ මහා විනාශය කළ පිළිවෙල තවමත් ප්‍රසිද්ධකර නැති පෘතුගීසි ලේඛණවල ඉතා හොඳට විස්තර කරල තිබෙණව. ඔවුන් අවලෝකිතේශ්වර බෝසතුන් වන්දනා කලතැන් උදුරා දමමින් එම ස්ථාන මත්තෙගි පල්ලි හැදුව. ඊලඟට අවලෝකිතේශ්වර බෝධිසත්වයා වෙනුවට ශාන්ත අන්තෝනී මුනීන්ද්‍රයව ගෙනාව.

ජේසුස් වහන්සේ කියන්නෙ යුදෙව් ජාතිකයෙක් වශයෙන් යුදෙව් දේශයේ සිට ජම්බුද්වීපයට පැමිණ විද්‍යාඥානය ලබාගෙන තාන්ත්‍රයානික බෞද්ධ නිකායකට සම්බන්ධවී සිටි භික්ෂූන් වහන්සේ නමකටයි. බුදු හාමුදුරුවන්ගෙ ඉගැන්වීම අනුව ලෝකයාට හිතසුව පිණිස ධර්ම ප්‍රචාරය සඳහා උනන්දුවූ එතුමා නමා උත්පත්තිය ලැබූ රටට ගියා. එහි ධර්ම දූත ව්‍යාපාරයක යෙදුනා. වරක් එතුමා කුඩා ධීවර ගම්මානයක නැවතී සිටියා. දැල් ආම්පන්න අරගෙන හැමදමත් මාලු ඇල්ලීමට යන ධීවර තරුණයෙක් කෙරේ එතුමාගේ අවධානය යොමුවුනා. ඔහු දිළින්දෙක්, උත්සාහවන්තයෙක්. ජේසු මුණගැහුනු හැම විටකම ආචාර කළා. සිනාවුනා. දිනක් ජේසු අන්තෝනි මාලු ඇල්ලීම ඉවරකර ඉඳගෙන කල්පනා කරමින් හිඳිනු දැක ඔහු ළඟට ගොහින් කථා කළා. මාලු ගොඩක් අහුවුනා දැයි ඇසුව. අන්තෝනි කලබලයට පත්වුනා. ඔහුට හරිම සතුටක් ඇතිවුනා, දෙවියෝ දුප්පත් අපිව දිහා බලන්නෙ නැහැ, අද මාලු නෑ කියල කිව්ව; මට පුළුවන් ඔබට දෙවියන්ව මුණ ගස්වන්න, මාත් එක්ක යන්න එන්නැයි ජේසු අන්තෝනිට කථා කළා.

අන්තෝනි ජේසු පස්සෙන් ගියා. මේ අතර මිනිහෙක් කෑ ගහගෙන ඇවිත් අන්තෝනි උඹේ තාත්තා මැරුණා. මිනියෙ වැඩ කරන්න යන්න වරෙන් කිව්ව. අන්තෝනි මොහොතක් කල්පනා කරල මිනියේ කටයුතු ඉවර කරල එන්නද ජේසුගෙන් ඇහුව,

තාන්තල මැරෙනව, අම්මල මැරෙනව, උපන් හැම කෙනෙක්ම මැරෙනව. ඒකෙ විශේෂ දෙයක් නැහැ. දෙවියක් මුණගැසීම ඒට වඩා විශේෂ දෙයක්, එයට පමා වෙන්ඩ බැහැ. පමාවීම පසුතැවිල්ලට කාරණයක්. අපි දෙවියන් මුණගැහිල එමු, ජේසු කිව්ව. අන්තෝනි ජේසු සමග ගියා. එතුමාගේ අනුගාමිකයෙක් බවට පත්වුනා.

නමුත් අන්තෝනි උගතෙක් නොවෙයි. ඔහු ජේසුගෙ අනුගාමිකයෙක් වුනේ විශ්වාසය හා භක්තිය නිසයි. අන්තෝනි විතරක් නොවෙයි ජේසුගෙ අනුගාමිකයින් බවට පත්වුන හැමෝම ජීවන බරින් හෙම්බත්වී සිටි අසරණයොයි. ජේසු වරක් දේවාලයට ගිහින් අකාරුණික වෙළඳුන් සමූහයකට පහර දුන්නෙ එවැනි අසරණයින් වෙනුවෙනුයි. ගොපල්ලන්, ධීවරයින්, වහලුන් ලෙඩින් ජීවිත සටනේ යෙදී සිටි ඔවුන් ජේසුට ආදරය කරන්ඩ වුනා. ජේසුට උගතුන්ව, දාර්ශනිකයින්ව, පණ්ඩිතයින්ව, බුද්ධිමතුන්ව දිනාගන්ඩ කිසිම දවසක අවස්ථාවක් ලැබුණෙ නැහැ.

බුදු හාමුදුරුවෝ එහෙම නොවෙයි. උන් වහන්සේ අසූ වසරක් ආයු වැලඳුව. මේ කාලය ඇතුලත ජම්බුද්වීපයේ පමණක් නොවෙයි පිට දේශවල පවා කීර්තිය පැතිරවූ මහා දාර්ශනිකයින්, තාපසයින්, ආගමික නායකයින් හා උගතුන්ට තමන්ගේ මාර්ගය පිළිගන්වන්ට උන් වහන්සේ සමත් වුනා. පිරිනිවන් පෑමට ටික වේලාවකට පෙර තමා වටකර ගෙන සිටි ශ්‍රාවකයින්ට කථා කල උන් වහන්සේ "මහණෙනි තව නොබෝ වේලාවකින් බුදුන් පිරිනිවන් පානව. එම නිසා යමෙකුට මගෙන් දැනගන්ඩ යමක් තිබෙනවා නම් අහන්න, අපට අසුවල් කාරණය ගැන අසා දැන ගන්ඩ බැරිවුනායයි පසුව කණගාටු වෙන්ට එපා. එම නිසා ඕනෑම දෙයක් දැන් මගෙන් අහන්න. යම් භික්ෂුවකට කෙලින් මගෙන් අහන්න බැරි නම් මිත්‍රයකු ලවා අහවන්න. මම ඒ ඕනෑම ප්‍රශ්නයකට සතුටින් පිළිතුරු දෙන්නම්" යයි කිව්ව. "ඔබ වහන්සේ අපට උගන්වා ඇති අවබෝධ කරවා දී ඇති කාරණා හොඳටම ඇහෙනව. ඒ ධර්මය ගැන කිසිම ගැටලුවක් නැහැ. මේ මොහොතේ වත් විවේක ගන්න" කියා සංඝයා වහන්සේලා බුදු හාමුදුරුවන්ගෙන් ඉල්ලුවා.

මිට සමාන සිද්ධියක් ජේසුටත් සිද්ධ වුනා. ජේසු දැනගත්ත තව පැය ගණනකින් සතුරෝ තමාව අල්ලා ගන්න බව. එම නිසා තමා සමග සිටි අනුගාමිකයින් දහතුන් දෙනාට කථා කරල කිව්ව තව හෝරා කීපයකින් ඉර එළිය වැටෙන්න ඉස්සර මාව සතුරන්ට අසු වෙනව. ඔවුන් මාව මරා දමනව. ඒ නිසා මගෙන් අසා දැනගත යුතු යමක් ඇත්නම් අහන්න. පසුව කණගාටු වෙන්න එපා කිව්ව. අනුගාමිකයින් මිරිශ හොඳටම කලබල වුනා. ඔවුන් අඬවන්නත

පටන් ගත්ත. ඔබ මියගිය පසුව යන්නේ දෙවියන්ගෙ ලෝකටයි කියල අප සමග කියා තියෙනව. දුකක් නැති ස්වර්ග රාජ්‍ය ගැන අපට උගන්වා තියෙනව. එහෙම නම් ස්වර්ග රාජ්‍යට ගියාම මුලින්ම අපෙන් කැඳවා ගන්නෙ කාවද? දෙවෙනියට කාවද? තුන්වෙනියට කාවද? මේ විදිහට කැඳවා ගැනීමේ අනුපිළිවෙල කියා දෙන්න. එය අපිට දැනගන්ට උවමනායි ඔවුන් කීවා. බලන්න මේ තීරණාත්මක මොහොතේ තම ආචාර්ය වරයාව සතුරන්ට හසුවීමට පැය ගණන කට පෙර මේ ගෝල පිරිස ගුරුවරයාගෙන් දැනගන්ඩ දඟලන දේ. ඔවුන් දඟලන්නෙ දිව්‍ය ලෝකයට ඇතුල්වන පිළිවෙල දැන ගන්ටයි. ජේසු තුමා මේ මෝඩ ප්‍රශ්න වලට පිළිතුරු දෙනව වෙනුවට කරන්නෙ දණ ගසා හඬා වැලපීමයි

රාජනීෂ් භගවාන් පෙන්වන ලෙසට මෙය ආචාර්යවරයෙකුට හරිම වේදනා ගෙන දෙන සිද්ධියක්. ජේසු තුමාට තමාගෙ ධර්ම මෙහෙවර කරන්ඩ අවුරුදු දෙකකට වඩා වැඩි කාලයක් ගොදවන්ඩ බැරිවුනා. එතුමාව අල්ලා කුරුසියේ තියා ඇන ගසා දැම්ම. එ තුමා ඒ ගැන කම්පා වුණේ නැහැ. මරණය යනු කුමක්දැයි එතුමා දැන ගෙන හිටිය. නමුත් තමා සමීපව සිටි අනුගාමිකයින් එකෙකුටවත් තමා ඉගැන්වූ දෙය නොවැටහීම ගැන උන්වහන්සේ, කම්පා වුනා.

ජේසු යුදෙව් දේශයේ පෙනී සිටීමට පෙර බොහෝ කාලයක් ගතකර ඇත්තේ ඉන්දියාවෙයි. එතුමා තම අධ්‍යාපනය කර තිබෙන්නෙ බෞද්ධ ආශ්‍රම වලයි. තන්ත්‍රයානික බෞද්ධ භික්ෂුවක් වූ එතුමා බෞද්ධ දර්ශනය යුදෙව් දේශයටගෙන ගියා. එහි පාලකයින් ජේසු ගැන සැක කලා. කතෝලික ආගම බිහිවූණේ පසු කාලයකදීයි. එම ආගම හදද්දී ජේසුගේ දර්ශනය වටහා නොගත් ජේසුගේ අනුගාමිකයින් ජේසුව කුරුසියේ තබා ඇන ගැසූ ආණ්ඩුවේ හමුදාවට දුන් කට උත්තර පදනම කර ගත්ත. එම නිසා තමයි බයිබලයට නව තෙස්තමේන්තු හදන්ඩ වුනේ. නමුත් බයිබලයේ ඇත්තේ ජේසුගේ දර්ශනය නොවේ. අන්තෝනිව මුනීන්ද්‍රයෙක් බවට ප්‍රකාශ කලේ කතෝලික සභාවයි. නමුත් කතෝලික සභාව සහ ජේසු කිසිම ලෙසකින් සම්බන්ධ කල නොහැකි අසමාන බලවේග දෙකක් වෙනව.

හන්ස් අපෙස්ටාලොට්සි කියන්නෙ ඉතා වටිනා ග්‍රන්ථ කිහිප-යක්ම ලියා ප්‍රසිද්ධකල ශ්‍රේෂ්ඨ උගතෙක්. ඔහුගේ අවුප් ඩී බොයිම ඉගර් අඩන් නමැති ග්‍රන්ථයේ කතෝලික පල්ලිය විසින් නිශ්පාදනය කර ඇති සම්මතයන් පිළිබඳ ලැයිස්තුවක් දක්වෙනව. උඹලව පල්ලියේ ගැත්තන් කරන්ඩ ඉදිරි කාලයේදී පල්ලිය විසින් තව මොනතරම් සොයා ගැනීම් කරාවි දැයි පාඨකයින් ගෙන් ප්‍රශ්න කරන අපෙස්ටාලොට්සි පල්ලියේ නිශ්පාදන වර්ගීකරණ්ද දක්වනවා.

ශුද්ධවූ පැන් ඉසීම ආරම්භ කර තියෙන්නෙ ක්‍රි: ව: 120 දීය.
වරදක් නිසා තමාට දඬුවම් නියම කරගැනීම PENANCE හඳුන්වා දීම ක්‍රි: ව: 157 දී.
පාදිලිවරු ඇති කර තිබෙන්නෙ ක්‍රි: ව: 348 දීය.
තෙල් නානු ආලේපය ANOINTMENT ක්‍රි: ව: 550 දීය.
පවුකාරයින් නරකාදියට යාමට පෙර දුක් විඳින ස්ථානය PURA-GATORY හඳු ඇත්තේ ක්‍රි: ව: 593 දීය.
මරියාව කැඳවීම කර ඇත්තේ ක්‍රි: ව:715 දීය.
මුනිවරයන්ගේ නාමාවලියට ඇතුලත් කිරීමේ ආරම්භය ක්‍රි: ව: 993 දීය.
බෞතීස්මය නැතිනම් ක්‍රිස්තියානි කිරීම ක්‍රි: ව, 1000දීය.
පාදිලිවරුන්ට බ්‍රහ්ම චරියාට නම් සිරිතක් පැවිරෙන්නේ ක්‍රි: ව: 1015 දීය.
පව් සමාව පටන් ගන්නේ ක්‍රි: ව: 1119 දීය.
කසාදය නමැති දෙයක් සක්‍රමේන්තුවට ඇතුලත්කර ඇත්තේ ක්‍රි: ව: 1139 දීය.
කැප කිරීම නැතිනම් දේව නියමයන් කැවීම CONSECRATED ආරම්භය ක්‍රි: ව: 1200 දීය.
මිත්‍යා දෘෂ්ඨිකයින් සෙවීම හා යක්ෂ පරීක්ෂාව INQUISTION පටන් ගෙන ඇත්තේ ක්‍රි:ව: 1204 දීය. (මේ යක්ෂ පරීක්ෂා යටතේයි ජර්මනිය වැනි රටවල තරුණියන් හා ස්ත්‍රීන් දස දහස් ගණනක් යකුන් හා සම්බන්ධකම් පවත්වන්නන් ලෙය සලකා මරා දමා තියෙන්නෙ.)
පාදිලිවරුන්ගේ කනට කොඳුරා කියන පව් සමාව AURICULAR CONFESSION පටන් ගැනීම: ක්‍රි ව: 1215 දීය.
මරියාගේ නිරවද්‍ය ගැබ ගැනීම BLAMELESS CONCEPTION ප්‍රකාශනට පත්කරන්නේ ක්‍රි: ව: 1854 දීය.
පාප් නිවැරැදි බව QUALITY OF BEING INFALLIBLE OF THE POPE දන්වීම ක්‍රි: ව: 1870 දීය.
මරියා ස්වර්ගස්ථ ගතවූ බව කියන්නේ ක්‍රි: ව: 1950 දීය.

අවලෝකිතේශ්වර බෝසතුන් වන්දනා කළ කාලයේ ඒ බෝසතුන්ගේ ශක්ති ලෙසින් තාරා දේවිය වන්දනා කර තියෙනවා. තාරා දේවියගේ අප්‍රමාණ ගුණ ගායනා කරමින් ගායනා කළ ගී විශේෂයක් විශේෂයෙන්ම මුහුදු බඩ ප්‍රදේශ වල ඉතා ජනප්‍රිය වෙලා තිබුණා. පහන් ආලෝකයෙන් ගායනා කළ නිසා මේවා පොදු ජන ව්‍යවහාරයේ හැඳින් වුනේ පහන්ගී කියලයි. ගමෙන් තෙල් රැස්කර

පවත්වන පහන් මඩු ගැන මහාචාර්ය තිස්ස කාරියවසම් ලියූ ගම්මඩු පුරාණය පොතේ සඳහන් වෙනව. එය නිවැරැදියි. මටත් සමාන චාරිත්‍රයක් තමයි පහන් ගී ගැන විස්තර කරද්දීත් කීමට ඇත්තේ. ඒ පහන් ගී තමයි අද පසන් ගී වෙලා තිබෙන්නෙ. ඇතැම් උදේර පෝෂකයින් පහන් ගී පරංගි පාදිලිවරුන්ගේ අපූර්ව නිර්මානයන් යයි ප්‍රකාශ කරල තියෙනව.

වෙළඳ ශ්‍රේණිය නඩත්තුකළ අධ්‍යාපන ආයතන තිබුණ. ඉන් එකක් තමා කීර්තිමත් විශ්ව විද්‍යාලයක් ලෙසින් පැවතුන වත්තල විජයබා පිරිවෙන. අද වත්තල ශාන්ත ජේම්ස් පල්ලිය ගොඩ නැංවල තියෙන්නෙ 'උදුරා දැමූ විජයබා පිරිවෙන් බිමේ බව මහාචාර්ය ඩී. ජ්. හෙට්ටිආරච්චිගේ පර්යේෂණ ලිපියකින් හෙළිදරව්කර දක්වෙනව. තොටගමුවේ ශ්‍රී රාහුල නම් මහා කවියා වෙළඳ ශ්‍රේණියේ පවුලක ඉපදී සංඝ ශාසනයට ඇතුලත්වී උසුට කීර්තියට පත්වුන භික්ෂුන් වහන්සේ නමක්, උන්වහන්සේ වැඩ වාසය කළ පන්සල වනාසා ඒමන තමයි කෝට්ටේ ක්‍රිස්තියානි විද්‍යාලය නමින් කලක් හැඳින්වූ ජයවර්ධනපුර විද්‍යාලය හදල තියෙන්නෙ. මෙය පෘතුගීසීන් ආරම්භ කළ ලංකාවේ පැරණිම මිෂනාරි පාසැලක් වුනා.

අවලෝකිතේශ්වර ලංකාවේ ආරෝග්‍ය දෙවියා වුනා වගේම මහායාන බුද්ධාගම ශටතේ ලක්දිව වෛද්‍ය ශාස්ත්‍රයක්ද දියුණු වුනා. දකුණු පළාතේ ඉතිරි වී පවතින බලි තොවිල් යාතුකර්ම ඒ වෛද්‍ය ශාස්ත්‍රයේ නටබුන් අංගයෝයි. එනමුත් සිංහල වෙස් මුහුණු ගැන පර්යේෂණ ලිපි ලියපු උගත්තු වෙස් මුහුණු බිහිකළ මහායාන බුද්ධාගම සහ අවලෝකිතේශ්වර වන්දනාව ගැන උනන්දුවී ඇතිබවක් දකින්ට නැහැ. මහායාන බුද්ධ ශාසන ඉතිහාසය නොදන හා නොසොයා බලි තොවිල් වෙස් මුහුණු ශාන්තිකර්ම පිළිබඳව වැදගත් කිසියම්ම දෙයක් දැනගැනීමට ලැබෙන්නෙ නැහැ.

සිංහල රාජ්‍යයේ ඒලග අංගය නිෂ්පාදන අංගයයි. නිෂ්පාදන අංගයට අභ්‍යන්තර නිෂ්පාදන සහ සේවා සියල්ලක්ම අයිති වුනා. ඒ නිෂ්පාදන අංගය ගැන බිඳක් සොයා බලමු.

නැකති නමින් අද කුලයක් කර තිබෙන ශිල්පීය ශ්‍රේණියට අයත් වූ ගුරුන්නාන්සේ කෙනෙකුගේ කාර්යයන් මොනවාද? එතුමා වෛද්‍ය ශාස්ත්‍රයට සම්බන්ධවූ යක් දෙස්සායි. සංගීත කටයුතු වලදී ශිල්පාධිපතියායි. සංග්‍රාම භූමියේදී සේනා මෙහෙයවූ

භේරී වාදකයායි. විහාර ආරාම නගර ගම් කොරටුවලදී නේවා කාරයායි. මේ විවිධ කාර්යයන්ගි නියැළෙන ශිල්පියාට විවිධ ඇඳුම් කට්ටල තිබුණා. මහ රජ්ජුරුවෝ හිස් වැසුම ගැලවෙන විහාර ගෙයිදී බෝමලුවේදී ජටාවක් පැලදීමට අවසරය තිබුණා. ගැමියෙක් නාගරිකයෙක් පෞද්ගලිකව එතුමාගේ සේවය ඉල්ලුවේ බුලත් පුරුල්ලක් දෑතින් පිළිගැන්වලයි. සම යම් නේවාවන්ගදී විශේෂයෙන්ම සංග්‍රාම භූමියේදී දක්ෂකම පෙන්වූ ඇතැම් ගුරුන්නාන්සේලා රාජ්‍යයෙන් සම්මාන ලබා ගිවිය. ඒ සම්මාන නාම පරම්පරාවලට උරුම උනා. මේ කථාවේදි මට සිහිවුනා අපට ඥානය සැපයූ ව්‍යවහාරඵයෙන්ම බුද්ධිමතෙක් වූ බිංගිරිය ප්‍රදේශයේ විරපඩියාන නාම ගමේ ජීවත්වූ විරසංගිලි නම්මැට්ටස්තාරයලගේ සේතුංග ගුරුන්නාන්සේ ගැන. මුලසෝම විහාරයේ ඉතිහාසය වතපොත් කර ගෙන සිටි ඒ උතුමා තම පරපුරට අසිතිවූ පෙලපත් නාමය ලැබීමේ දීර්ඝ ඉතිහාස කථාවද දැනගෙන සිටිය. අප ඒ ගුරුන්නාන්සේ ඇසුරු කල අවධියේ කිසියම් සමාජ විද්‍යාඥයෙක් නැකැත් කුලයේ ගමක් ගැන පර්යේෂණයක් කර අපූරු තොරතුරු ගොඩක් ඉංග්‍රීසි උගතුන් සඳහා බෙදුදී තිබුණා. ඒවායේ විස්තර වූ ලෙසට නැකැත් කුලයේ ජනයා භාවිතා කල නම් බොහොමයක් උපහාසය දැනවෙන විහිළු නම්යැයි ලියවී තිබුණා. ඊට හේතුව ඔවුන් පහත් කුලයක් වීමලු. මේ උගතා ලියා ඇති දේ ඇසූ ගුරුන්නාන්සේ මෙහෙම කිව්වා: ''අපේ සගේ කවරදුවත් විහිළු නම් තිබිල නැහැ. අර්ථවත් සිංහල නම් භාවිතා කල මිනිස්සු අතර අපේ ශ්‍රේණියට තවත් සමාන ශ්‍රේණියක් තිබ්බයදැයි මම දන්නෙ නැහැ. ලංකාවෙ නෙමේ වෙන දිපංකරේකින්වත් අපේ වගේ ලස්සන පුද්ගල නාම හොයාගන්ඩ පුළුවන්දැයි බලන්ඩ. සුරභි. සාරංග, සෝබිතා, සුද්දනා, සෝබනී, පුසුඹී.

නැකැත් කුලය කියන්නෙ බෙර ගහන මිනිස්සුන්ගෙ කුලයක් කියලයි බොහොම දෙනා හිතාගෙන ඉන්නෙ. මේ නොවැටහෙන මනුෂ්‍යයන් වෙනුවෙන් මොනව නම් කරන්නද? බෙරවාදකයො, නැට්ටුවො, ගණිතශාස්ත්‍රකාරයො, නක්ෂත්‍රකාරයො මේ වගේ ධුර ගණනාක් එකතුවෙලා තමයි යක්දෙස්සන්ගෙ ශ්‍රේණිය හැදිල තිබිල තියෙන්නෙ. යක්දෙස්සන්ගෙ කොට්ටල් බද්දෙ නාරතා තිබිල තියෙන්නෙ. යක්දෙස්සන්ගෙ කොට්ටල් බද්දෙ තාරකා ශාස්ත්‍රය, ග්‍රහලෝක ගැන පවා උගත්වල තියෙනව. පර්යේෂණ ශාස්ත්‍රය, ග්‍රහලෝක ගැන පවා උගත්වල තියෙනව. අදටත් අපිට නැදෑකම් පවත්වන මිනිස්සුන්ගෙ පවත්වල තියෙනව. නිපුනාචාරි ගණිතශලාගේ, සංගරක්ඛාර ලොකු වාසගම් අහන්න. නිපුනාචාරි ගණිතශලාගේ, සංගරක්ඛාර ලොකු නැකතිගේ, සිංගක්ඛාර පුංචි පනික්කියලගේ, හේම ගණිතයලාගේ නැකතිගේ, මොනතරම් සුන්දර සිංහල නම් දැයි බලන්න. ඒ විරසංගිලිගේ, මොනතරම් සුන්දර සිංහල නම් දැයි බලන්න. නැකති ශ්‍රේණිය විතරක් නම්වල ශබ්දය අර්ථය ලනාව් බලන්න.

නෙමෙයි කොයි කොයි ශ්‍රේණියෙන් සිංහල නම් රට උගත්තුන්ට නැතයි. විසුළුයි. උන්ට බබින්නෙත් දෙන් සිමන් නැම. බණ්ඩල මැණිකෙලා අඳුවන් කොළඹ ගෙවල්වල වැඩකාරයන්ටයි භාවිතා කරන්නෙ. මේ ජේරම නාස්පැත්තිය සිද්ධවුනේ සුද්දට රට ගිය නියයි. ගුරුන්නාන්සෙට රැකඩයකට ගන්නා. ගිය සුමානෙ දේශපාලන හොරෙකුම පිළිගැනීමේ උත්සවයක් පලාවත තිබුණා. ඒකට පිළිගන්ඩ අපේ ඩෙරකාරයින්ව, තම්මැට්ටක්කාරයින්ව, ඇවිටුවන්ම පාර දිගට නැවෙව්වා. මග වගේ උත්සව වලට නොයා බැරි අවස්ථාවල ගිහින් ඇති මම අද මරද්දල මල ගේව්සි සූරල් ගනපු චාරත් තියෙනව තොපි මකබැවෙයව් කියල කනාගෙන''

අද සිංහල සමාජයේ පහත් කුලයක් ලෙයින් සලකන රද ස්ත්‍රීයගේ කාරියත් ගැන හොයා බලන්න. රිදීනැන්දා තියෙන්නෙ ස්ථානාන්තරයක්. පිරිමියාට ලැබුණෙ හේනෙ මාමා තානතුරයි. හේනෙ මාමා නිලයෙන් කෙරුනේ උත්සව වලදී ජේල සැපයීමයි. ජේල වඩන්නා ජේල මාමා පසුකාලෙක හේන මාමා බවට පත්වුනා. රිදී නැන්දා යනු පුරාණ ගමේ සෞඛ්‍ය සේවිකාවයි. ගමේ උප්පැන්න යක් මරනයක් විවාහයක් මල්වරයක් ආදී හැම පුද්ගල සාවද්‍යුන්තක්ම කෙරුනෙ ඇයගේ පරීක්ෂාව යටතේයි. පෞද්ගලි- කව ඕනෑම ගැමියෙක් හෝ නාගරිකයෙක් රිදීනැන්දගෙ සේවය ලබාගත්තෙ ඇයට දුනිස් බුලත් හුරුල්ලක් පිළිගන්වලයි. රාජකාරි උත්සව වලදී ආගමික උත්සවවලදී රිදී නැන්දගෙ සේවය අනිවාර්ය වුනා. ඇයගේ සේවය නැතිව කිසිවක් කිරීමට නොහැකි ලෙසට ගැමි හා නාගරික සමාජ සංස්ථා රදාසේවයට යටත් වෙලා තිබිය. රිදී නැන්දා තානතුරු ඉස්සර සමාජයේ උසස් ස්ථානාන්තරයක් ලෙසයි පිළිගත්තෙ.

ලෝකුරු ශ්‍රේනිය ගැන සොයා බලන්න: ලෝකුරු ශ්‍රේනිය හැදිල තිබුණෙත් උප ශ්‍රේනි ගණනාවක් එකතු වෙලයි. සිංහල යන්ගෙ යුද්ධ ශක්තිය සම්පූර්ණයෙන්ම රැඳිල තිබුණෙ ලෝකුරු ශ්‍රේනිය උඩයි. එම නිසාම එම ශ්‍රේනියේ ආචාරින් ලබා තිබුණු නම්බු නාම කීර්ති නාම බොහොමයි. ගංචාරිගේ, ඕන්නාචාරිගේ, ඩින්ත්‍රාචාරිගේ, සකලච්චාරිගේ, බඩල්ආචාරිගේ, වඩුවිදානෙලාගේ ආදී ලෙසින් අදටත් ඉතිරිවී පවත්නා වාසගම් ගැන සොයා බලන්න. මොන තරම් ඓතිහාසික වටිනා සුන්දර පෙලපත් නාම්ද මේව. මේ පෙලපත් නම් හිමිකරුවන්ට මොන තරම් වටිනා ඉතිහාසයක් තියෙන්නවද? ඇත්තටම එබ්බදු වටිනා පෙලපත්නම් නම්බුනාම ගන්ඩ තරම් හපන්කම් අපේ ආචාරි පරම්පරාව විසින් කරල තියෙනව. කෝට්ටෙ කාලෙ ඉදි කරල තියෙන උමං මාර්ග ගැන

සෙව්මොන් ආචාරීන්ගෙ හපන්කම් චපිනා කම් දස්සකම් දූන ගන්ට එය ප්‍රමාණවත් වෙනව. ඒ ආචාරි වරුන් පෘතුගීසින් ලංකාවට ගොඩ බැහැල නිකුත් කරපු කාලතුවක්කු වෙඩි වල සුවඳ මැකෙන්ටත් ඉස්සර පරංගි කාලතුවක්කු පරදවන කාලතුවක්කු හැදුව. ඒවායේ බලෙන් තමයි මුල්ලේරියාවේ සටනින් පෘතුගීසීන්ව පරදමපු සිංහලයො ආසියානු ජාතියක් අතින් යුරෝපීය ජාතියක් පැරදවූමේ'ග යන ඓතිහාසික කීර්තිය ලබාගත්තෙ. සිංහල ආචාරීන් තුවක්කුව හැදුවෙත් ලංකාවෙ යපස් වලින්. ඔවුන්ගේම කර්මාන්ත ශාලාවල. මෙබඳු එක් කර්මාන්ත ශාලාවක් පුත්තලම අනුරාධපුරය පාරෙ පහරිය ගොවි ජනපද බිමෙන් මතුවුනා. එහි යබොර ගොඩ වල් යකඩ උණුකල භාජන ලිප් පවා තිබුණා. නමුත් කාගෙවත් අවධානයක් නැතිවූ පහරිය යකඩ කම්හල් බිම විනාශවී ගියා. මෙබඳු තවත් කම්හල් බිමක් තෝටුවේ ආනන්ද ශාස්ත්‍රාලයේ ගොඩනැගිල්ලක් තැනීම සඳහා පොළව කනිනා විට මතුවූ වගක් එහි කාසි නිපදවීම පවා කර තිබූ බවත් මට දැනගන්ඩ ලැබුණා.

බත්ගම් කියල හැඳින්වෙන්නෙත් තවත් මෙබඳුම ප්‍රබල ශ්‍රේණියක්. අනුරාධපුර පොළොන්නරු අවදින්හි ඉදිවුන සියළුම වැව් සහ වාරිමාර්ග ඇතුළු ඉදි කිරීම් කටයුතු කරල තියෙන්නෙ බත්ගම ශ්‍රේණිය විසිනුයි. සිංහල වාරි කර්මාන්ත ශිල්පය කියන්නෙ අද ව්‍යවහාරයෙන් ඉන්ජිනේරු ශිල්පයට වඩා පුළුල් වූ විෂය ක්ෂේත්‍රයක්. පැරණි වාරිමාර්ග ශිල්පයට පරිසරය ආරක්ෂා කිරීම හා පරිසරයේ ස්වාභාවික බව රැක ගැනීම යනාදී කටයුතුත් බාරවුනා. ඒ වගකීම භාරගත් ඉන්ජිනේරුවන් විශේෂඥයින් කාර්මික නිලධාරීන් ලබාපු සම්මාන වලින් තමයි බත්ගම ශ්‍රේණියට වාසගම් සැපයී තිබෙන්නෙ. බත්ගම ශ්‍රේණියේ ජනප්‍රවාදයක් අනුව රත්කොන් පේඩිගේ වාසගම ලැබිල තියෙන්නෙ රුවන්වැලියේ කොත නාවන්ඩ ජල යන්ත්‍රයක් හදපු ශිල්පියටයි. රුවන් වැලි කවි බණ පොත කියන ජන කාව්‍ය සංග්‍රහයෙ මහාථූපය නැවීමට තැනූ ජල යන්ත්‍රය ගැන කියවෙන කවියක් තියෙනව.

පොසා වඩන සඳුන් සුවඳ තවරාලා හතර ගැලි
ව සා එපිට මල් අමුනා නියම වෙලා කොත් කැරලි
නි සා මැවෙන් ජල යන්තර කොතේ මැගිරි එදිග රැළි
ල සා වෙමින් බැස වදිමුව අනුරපුරේ රුවන්වැලි

වෙලගෙදර දුරයලාගේ වාසගම ලැබුණෙ ගල් පාලමක් නිර්මාණය කළ ශිල්පියෙකුටයි. ඒ අනුව සලකන විට ගොවිතැන් කටයුතු පිළිබඳව විද්‍යා සොයා ගැනීමක් කළ මහා විද්‍යාඥයෙකුට මීන ගුනුකී වලාකුළු පේඩිගේ වාසගම ලැබෙන්ට ඇත්තෙ. අනුරාධ



Ceylon Antiquary and Literary register සඟරාවේ පළකර තිබුණු කරාම කොඩියයි.

පුරාණ අවධියේ සීගිරිය කියන ආලකමන්දාව මගින් හෙළි ඇති එක කාර්යක් තමයි වැස්ස ලබා ගැනීම සඳහා මන්ත්‍ර පිරවීම. නැතිනම් ශබ්ද තරංග මුදා හැරීම. බත්ගම ශිල්පීය ශ්‍රේණියෙ නිලධාරීන් වැව් බැඳී රාජ්‍යයෙ හැම ගමකම වැව් දුරයො ඉඳල තියෙනව. නමුත් බත්ගම ලෝකුරු ආදී උතුම් ශ්‍රේණි වලින් පැවතෙන අද සමාජයේ උගතුන් බලවතුන් ලෙයින් පෙනී සිටින්නන් හෝ තම තමන්ගේ උරුමයන් ගැන දන්නේ නම් ඒ අල්පයක් පමණයි. දිනක් ලත්ඛන් නුවරදී සිංහලයන් පිරිසක් සමගින් අල්ලාප සල්ලාපයේ යෙදී සිටින අපට ලංකාවේ කුල ක්‍රමය ගැනත් කථා කරන්ඩ ඉඩක් ලැබුණා. එතනදී එක්තරා අයෙකුට දේවගේ යන වාසගම පිළිබඳව තොරතුරු මාත්‍රයක් දැන ගැනීමට අවශ්‍ය වුනා.

දේවයෝ කියන්නෙ සිංහල ජාතිය ගොඩ නැංවීමට දායකවූ එක ගෝත්‍රයක් වෙනව. ඔවුන් සිංහල ජාතිය ගොඩනැංවූ පසුවත් දේව ගෝත්‍රික නාමය භාවිතා කරන්ඩ ප්‍රියකළා. දේව වංශිකයො වැඩි වශයෙන් ජීවත්වුනේ කඳුකර පළාත් වලයි. ඔවුන්ට ලොකු ගව පට්ටි තිබ්බා. පශු වෛද්‍ය ශාස්ත්‍රයෙ කෙළ පැමිණ සිටියෙ දේවයොයි. ඔවුන් උප ශ්‍රේනි ගණනාවකට බෙදිල තිබ්බා. පැණි හකුරු සීනි කිරි රා නිෂ්පාදනය දේවයන්ගෙ ප්‍රධාන කර්මාන්ත වුනා. දේවයන්ට හරියට දෙවිවරු හිටියා.. බුද්ධ ශාසනයට ඇතුල් වී සිටින දෙවි වරුන් අතරින් දේවයන්ගේ දෙවිවරුන් විශාල ගණනක් ඉන්නව. දේව ශ්‍රේනිය පිළිබඳව මෙබඳු තොරතුරු ඇසූ එම තැනැත්තාට ඉලන්දාරි දේවගේ නමැති වාසගම ගැන දැනගන්ඩ උවමනා වුනා. ඉලන්දාරි දෙවියෝ නමින් දේවතාවුන් වහන්සේ කෙනෙක් පවා සිටින බව දැනගත් ඔහු ''මම හිතාගෙන හිටියෙ දේවගේල කියන්නෙ අඩුකුලයක් කියලයි මගෙ ඉලන්දාරි දේවගේ කියන වාසගම භාවිතා කළේ හරිම හීනමානයක් ඇතිවයි. අද පටන් මට මගේ ශ්‍රේනිය ගැන කිය හැකියි. මගේ දරුවන්ට ඉලන්දාරි දේවගේ පෙලපත් නාමේ වටිනාකම කියා දිය හැකියි'' සතුටු කඳුළු පිරුණු දෑසින් යුතුව කියා සිටියා. මේ විදියට සිංහල ශිල්පීය ශ්‍රේනීන් ගැන විභාග කරද්දී පෙනෙනව කිසිදු වරප්‍රසාදයක් නොතිබුණේ ගොවිතැන් කළවුන්ට බව. මහ පොළව සමග නිරන්තර රණයන් පටන් කළ ගොවියා මුළු රටම ආහාරයෙන් පෝෂිත කළා. ඔවුන්කළේ අතිශයින්ම දුෂ්කර කාර්යයක්. ගොවි ශ්‍රේනිය සම්පූර්ණයෙන්ම වාගේ හැදිල තිබුණේ සිංහල ජාතිය ගොඩ නැංවීමට මුලිකවූ යක්ෂ ගෝත්‍රිකයින්ගෙන්. නැයක් යන වාසගම ඔවුන් පෙලපත් නම වශයෙන් ගෙනාව. පසු කලක ඒකනායක, වැදී නායක, බැදිනායක, මුදලිනායක ආදී විදියට නායක එන වාසගම් හැදුනෙ ඒ නැයක් වාසගම මුල් වෙලයි. මේ නැයක්කුන්ට 'නැති නම් [illegible] ගොවියන්ට [illegible] සඳහා [illegible]

කුඹුරට බැස්ස. වප් මගුල් පැවැත්තුව. සිංහල වප් මගුල කිරීමේ පහුගිය කාලෙ දේශපාලකයො කුප්පිඩිකමට කළා වගේ සෝබන වැඩක් නොවෙයි. ජනාධිපති ජයවර්ධන සහභාගීවුන අනුරාධපුරේ වප් මගුලට මංගල හරක් බාන සැපයුවේ මගේ කඩකාරය විසින්ලු. බවුසර් වලින් වතුර ඇදලා දමලලු ලියදී පොගව ගත්තෙ. කොළඹ පලාතෙ සිළිං බිළිං කෝනලලු මෙරෙද් හැට්ට ඇඳ ගෙන ඇඹුල ගෙනිච්චෙ. ඉස්සර සම්ප්‍රදායෙ හැටියට නම් රජ්ජුරුවෝ කුඹුරට බැස්සෙ කුප්පිඩිකමට නොවේ. උතුම් පරමාර්ථයකටයි ගොවියාට ධෛර්යමත් කරවීම සඳහායි. ඒ හැරෙන්න ගම් පාලන සභාවේ සභාපති කමක් ගොවි ශ්‍රේනියට පැවරුව. යක්ෂයො ලංකාවෙ ආදිම වැසියෝ වීමත් ඒ තනතුරු නායක්කුන්ට පැවරීමට ඒට තවත් හේතුවක් ලෙසින් සිතන්ඩ හැකියි. පසු කලෙක ගමරාල නමින් හැඳින්වුනේ ගම් පාලන සභාවේ නායක ග්‍රාමණී ධූරයයි

ඉහතින් විස්තර කළ ක්‍රමයට තරමක් වෙනස් ලෙසටයි නගර පාලනය වුනේ. ප්‍රධාන නගර, උප නගර හා වරායවල වෙනම නාගරික සංවිධාන තිබුණ. ඒට හේතුවුනේ එබඳු නගර ජනගහණයෙන් වැඩිවීම, කාර්ය බහුලත්වය, විදේශිකයන් වාසය කිරීම ආදී ලෙසින් පෙන්වීමට පුළුවන්. අනුරාධපුර නගරය ගත්තොත් ඒ නගරයෙ විවිධ වෘත්තීන්හි යෙදුණු කුඩා ශ්‍රේනි රාශියක් තිබුණ. ස්වාධීන වෘත්තීන්හි නියැලුන පුද්ගලයො හිටිය. මල් කාරයින්, උයන් ගොව්වන්, චිත්‍ර ශිල්පින්, සංගීතඥයින්, නාට්‍ය ශිල්පින්, ගායකයින්, නගර ශෝභනීන්, විජ්ජා කරුවන්, නගලශෝධකයින් ආදී ලෙසට වෘත්තීන් රාශියක් තිබුණ. එමනිසා නාගරිකයන්ගේ නියෝජිතයින්ගෙන් සැදුන නගර සභාවට සම්බන්ධවූ රජ්ජුගේ නිලධාරීන් නැතිනම් නගර ගුත්තිකයො හිටිය. විශේෂයෙන්ම නගර ගුත්තිකයො අතර ස්වාධීන විනිශ්චයකාරවරුන් ලෙස කටයුතු කළ අධිකරණ නිලධාරී පිරිසක්ද හිටිය.

ලංකාව ඉන්දියානු සාගරයේ ඉන්දියාව අසල පිහිටි කුඩා දිවයිනක් බව අප දන්නව. එම දිවයින ඉන්දියාව වැනි රටක් සමග සමාන කර බලන විට ඒ රටේ සිටින්නේ ඉතාම සුළු ශ්‍රම බලකායක්. ඒ කුඩා ජන සම්පතට ඔරොත්තු නොදෙන විදියටයි ලංකාවට විදේශ ආක්‍රමණ ඇතිවුනේ. මේ සතුරු ආක්‍රමණ වලින් ගැලවී රටේ ස්වාධීනතාවය ආරක්ෂා කර ගන්නට ඉතාම දක්ෂ විදේශ ප්‍රතිපත්තියක් අනුගමනය කරන්ඩ සිංහල රජවරුන්ට සිදුවුනා. ඒ ලෙසට කටයුතු කරද්දිත් ඇතිවුන අප්‍රමාණ විදේශ ආක්‍රමණ වලින් සිංහල සමාජය විනාශ නොවී ගියේ සිංහල සමාජය ගොඩනැංවලා තිබුණ ප්‍රජාතන්ත්‍රවාදී සමාජ රටාව නිසයි. ශිල්පීන් ශ්‍රේනී හා ග්‍රාම රාජ්‍ය ක්‍රමය ඔටුන්න් හිඟා රටුමැසියන් ලෝද

රහිතව එක්සත්ව ගිහිය. වගකීම හා බලය බෙදාගෙන කටයුතු කළා. ඇතැම් විට පරසතුරො සිංහල සමාජය රැකෙන බලවේගය නැතිනම් එහි ශක්තිය තේරුම් ගන්න අවස්ථා තිබුණා. ඔවුන් එම සමාජ ක්‍රමය අවුල් කිරීමට මහන්සි ගත්ත. චූලවංශයෙ විස්තර කරන පිළිවෙළට කාලිංග මාඝයා පොළොන්නරුව ජය ගෙන නගරය සකුන් නැවූ පිටියක් බවට පත්කර ඒළගට කර ඇත්තෙත් ශ්‍රේනි විනාශ කර දැමීමයි. ජනතාව මිසදිටු ගැන්වීමත් සමාජ රටාව මිශ්‍ර කිරීමත් මාඝගේ යුද ප්‍රතිපත්තියේ අංගයක් වුනා.

සිංහල ශ්‍රේනි ක්‍රමය බිඳ වැටීම ආරම්භ වන්නේ පොළොන්නරු ශිෂ්ටාචාරය බිඳවැටීමත් සමගයි. ඒ සමග අභිමානවත් සිංහල යුගය අවසන් වෙනව. සිංහල සමාජය හින්දු බලපෑම් වලට යටත් වෙන්ට පටන් ගන්නව. මෙහි අන්තිම අවස්ථාව මහනුවර රාජ්‍යයේ නායක්කර්වරු බලයට පත්වීමයි. හින්දු බලපෑම නිසා සිංහල ශිල්පිය ශ්‍රේනි කරා හින්දු කුල ක්‍රමය බලපාන්ඩ පටන් ගන්නව. මේ තත්වය වැළැක්වීමට නොහැකි වූයේ කන්ද උඩරට රාජධානියේ එක්තරා අවදියක් වෙනවිට සංඝ ශාසනය මුළුමනින්ම බිඳවැටී තිබීමයි. සලින් සගරජ හාමුදුරුවන්ගේ වෙහෙස නිසා සංඝ ශාසනය පිහිටුවා ලුවත් අලුතින් සංඝ ශාසනය බිහිවුනේ පුරාණ සම්ප්‍රදාය හෙවත් සිංහල සම්ප්‍රදායට නොවෙයි. හින්දු බලපෑමෙන් දූෂනයවුන කුල ක්‍රමයක් පදනම් කරගෙනයි. ඒට නිකාය කියන පැරණි නම යෙදුවේ බොරුවටයි. විජිත පාලකයින් භික්ෂු සමාජයේ කුල ක්‍රමය තහවුරු කරන්ට තව තවත් වෙහෙසුනා. සිංහලයෝ නායක්කර් පාලනයට විරුද්ධව නැගී සිටීමට ප්‍රධාන හේතුවක් වුණේ ශිල්පිය ශ්‍රේනි ක්‍රමය විනාශ කරමින් කුල ක්‍රමය තහවුරු කරන්ඩ ඔවුන් දැරූ උත්සාහයයි බ්‍රිතාන්‍ය යටත් විජිත කාර්යාලයට ලැබුණු රහස් වාර්තාවල සඳහන් වෙලා තිබුණා. භික්ෂු සමාජයේ කුලභේදය වැඩි දියුණු කිරීමට මහන්සි වුන යටත් විජිත පාලකයින් අනාගතයේ සිංහල සමාජයට අප්‍රිය වෙන ඉඩ කඩම් වලට සහ තානාන්තරවලට කැඳර වූ සංඝ පිරිවරක් බෝකිරීමටද මහන්සි ගත්ත. ''බ්‍රිතාන්‍ය පාලකයෝ භික්ෂූන්ව විහාරාධිපතිකම්වලට පත්කළා. සංඝ සමාජයෙ එතෙක් තිබුණ ප්‍රජාතන්ත්‍රවාදී බව ඇත්කලා. විහාරමාධී යනු මිස විහාරාධිපති යන වචනය පැරණි බෞද්ධ සාහිත්‍යයේ හෝ පැරණි සෙල්ලිපිවල නැහැ. පන්සල් වලට නඩුකියා ගැනීම ඇතිවූයේ පොදු විහාරස්ථාන පෞද්ගලික බවට පත්වීමෙනුයි ඉස්සර පන්සල් සතර දිසාවෙන් වඩිනා මහා සංඝයාට නැතිනම් අගත අනාගත චතුද්දිස සගස දීනි'' සයි ගණේගම සරණංකර නායක හාමුදුරුවෝ ලියූ පොතක සඳහන් කළේ මේ කාරනාව කාට කාටත් තේරුම් ගන්ඩයි.

කන්ද උඩරට රාජ්‍යයක් ඇතිවුනේ ජයවර්ධන පුර රාජධානිය පෘතුගීසීන්ට හසුවූ නිසයි. සීතාවක බලය අර්වට කෛවංඩු වඩුගයෑ අතට පත්වූ ඉතා ඉක්මනින් පෘතුගීසීන් සීතාවක රාජ්‍යයත් අල්ලා ගත්තා. ඔවුන් කොළඹ කොටුවේ සිට උතුරු දෙසටත් දකුණු දෙසටත් මුහුදු බඩ ප්‍රදේශ ඔස්සේ සිය බලය තහවුරු කිරීමට පටන් ගත්තා. ඒ වගකීම කරට ගෙන කටයුතු කළේ පෘතුගීසි සොල්දාදුවෝ නොවෙයි කතෝලික පාදිලිවරුයි.

කතෝලික හා ඉස්ලාම් ආගම් රටවල් ජය ගැනීමේදී යටත් කරගන්නා රටවල ආගම්, දර්ශන, ඇදහීම් කිසිවකට කිසිම දයාවක් දක්වල නැහැ. තම ලබ්ධිය පැතිරවීම සඳහා ඕනෑම අපරාධයක් ඕනෑම විනාශයක් කරන්ට බිඳක්වත්, පැකිලිලා නැහැ. ඉස්ලාම් වරුන්ගේ ගමන් මාර්ගය සහ යුධ ඉතිහාසය බලන්න. තුර්කියේ බෞද්ධ සමාජය වනසාගෙන බෞද්ධ අවකන් දේශය වනසා ගෙන ඉන්දියාවට ආව. ඒ බෞද්ධ ඉන්දියාවෙ එකම භික්ෂුන් වහන්සේ නමක්වත් ඉතිරි කළේ නැහැ. වෙහෙර විහාර විතරක් නොවෙයි නාලන්දව වැනි අති වටිනා පුස්තකාල පවා ගිණිබත් කලා. ඒ කඩුව හා ගිනිහුල් ඔසවා ගත් සොල්දාදුවා මාලදිවයින, ඉන්දුනීසියාව නමින් හඳුන්වන ස්වර්ණද්වීපය, යවද්වීපය ආදී රාජධානි පසු කරමින් මලයාව ආදී බෞද්ධ රටවල් පවා ආක්‍රමණය කළා. අදටත් ඒ මහා විනාශය නවත්වා දැමීමට ඔවුන් අකමැතියි. ආචාර්ය වොල්ෆ්ගන් මෙයි GENOCIDE IN THE CHITTAGONG HILL TRRACTS, BAN GALADESH නමින් පොතක් ප්‍රසිද්ධකර තිබෙනව. බංගලිදේශ ආණ්ඩුව කාදුකරයේ බෞද්ධ ගැමියන් සහ භික්ෂුන් වහන්සේලා මරමින් ගම්මාන එක එක පුලුස්සන හැටි එහි විස්තර කෙරෙනව කතෝලික පල්ලියේ අනුග්‍රහය ලබමින් රටවල් ජයගැනීම සඳහා ඉදිරිපත්වුන ස්පාඤ්ඤ හා පෘතුගීසීන්ගේ ගමන් මාර්ග දෙස මිලගට බලන්න. ඔවුන් ඉස්ලාම් වරුන්ට කිසිසේත්ම දෙවෙනි නැහැ. ස්වදේශිකයන්ගෙ ආගම, ඇදහීම, සංස්කෘතිය හරි මොනා හෝ දෙයක් ඇත්නම් ඒ සියල්ලම වනසා දමනව. ඝෝර ලෙස මනුෂ්‍ය ඝාතනයේ යෙදෙනවා. ආගමික ස්ථාන පුස්තකාල අවසන්නේම නෑ. ඊට හේතුව ස්පාඤ්ඤ හා පෘතුගීසි සොල්දාදුවන් සමග කතෝලික පාදිලිවරුන් සිටීමයි. යටත් විජිත ව්‍යාපාරයේ යෙදුන කතෝලික පූජකයා හදවතක් නැති මිනිහෙක්. ඒ හදවත නැති මිනිහාගේ චරිතය පැහැදිලි කරන්ඩ විය යුතුයි සිංහලයෝ එක්තරා කොක් විශේෂයක් පාදිලි කොක්කු නමින් හඳුන්වන්ට ගත්තෙ.

ලංකාවෙ පෘතුගීසීන්ට යටත්වූ ප්‍රදේශ හැම එකකම විහාර දේවාල පුස්තකාල විනාශ කළා. කතෝලික ආගම හැර අනෙකුත්

සියලුම ආගම් ඇදහීම තහනම් කළා. එපමණක් නොවේ සියලුම පිළිම සොයා ඒවා සැබලි මලට කඩන්සේ එක් පෘතුගීසි රජෙකු විසින් දෙනලද නියෝගය ලංකාවේ බොහෝ උනන්දුවෙන් ක්‍රියාත්මක කෙරිනැයි ආචාරිනී කුමාරි ජයවර්ධන ලියූ ශ්‍රී ලංකාවේ කම්කරු ව්‍යාපාරයේ නැගීම නම් පොතේ සඳහන් කර තියෙනව.

ප්‍රසිද්ධියේ කතෝලික ආගම වැළඳ ගත්තවුන්ට තාන්න මාන්න වරප්‍රසාද දුන්න. විත්තා කර්ශණීය අනාගත ලාභ ප්‍රයෝජන සැපයුවා. ඉඩකඩම් දුන්න. මිනීමරුවෙක් නම් සමාව ලැබුණා. විශේෂයෙන්ම බදුවලින් නිදහස් කළා, පල්ලියේ අවසරය නැතිව විවාහවීම තහනම් කළා. මේ අයුරින් අල්ලාගත් මුහුදු බඩ ප්‍රදේශවල දූඩි කතෝලික ආක්‍රමණයක් සිදු කරමින් වෙළඳ ශ්‍රේණියට අයත්ව සිටි සිංහලයන්ව දූඩි විඩනයකට ලක්කළා. කරාව නමින් කුලයක් ඇතිවෙන්නෙ මේ කාලෙදියි. ප්‍රථම වරට කරාව කුලය ගැන සඳහන් වන්නෙ 15 වෙනි සියවසේ ලියවුන ජනවංශයෙයි. නමුත් කන්ද උඩරට සිංහලයා එවැනි වංශයක් නොදන හිටිබවට හොඳම සාක්ෂිය රොබට් නොක්ස්ගේ ග්‍රන්ථයයි. එහි කුල 14 ක් සඳහන් වෙතත් කරාව හෝ සලාගම කුලගැන කිසිම සටහනක් නැහැ. කන්ද උඩරට රජතුමා නැගෙණහිර මුහුදු වෙරළ පාලනය කළ නිසා එම ප්‍රදේශයේ වෙළඳුන්, ධීවරයන් සහ මුතු කිමිදෙන්නන්ද සිටි බැවින් කරාව නමින් කුලයක් තිබුණා නම් නොක්ස් ඒ කුලය ලොප් කරන්නේ නැහැ. නමුත් කන්ද උඩරට රාජධානියේ කරව වෙළඳ ශ්‍රේණිය නම් පැවතුනා.

මෙයින් පැහැදිලි වෙන්නේ කරාව නමින් කුලයක් හදු වඩා ඇත්තේ පෘතුගීසීන් බවයි. එය සිදුවූයේ කෙසේදැයි බලමු. සිංහල වෙළඳ සමාගම් කරව නමින් හැඳින්වූන බවත් කරව නාමය දේශ දේශාන්තර වල පැතිර තිබුණ බවත් පළමුවෙන් කීව. එම නිසා ලංකාවට පා නැබීමට පෙර සිටම කරව යන නම පෘතුගීසීන් දැන ගෙන හිටිය. ලංකාවට පැමිණි පෘතුගීසීන් කරව යන වචනය පාවිච්චි කලේ වෙළඳ සමාගම් සඳහා පමණක් නොවෙයි. ඔවුන් සමස්ත වෙළඳ ශ්‍රේනියම කරව නමින් හැඳින්වූව. අද උතුරෙන් කරවර් නමින් කුලයක් තිබෙනම. උතුරේ කරවර් නමින් හැඳින්වෙන්නෙත් දෙමළ ජාතිය විසින් අවශෝෂණය කරගත් සිංහල වෙළඳ ශ්‍රේනියට අයත් සිංහලයෝයි. දෙමළ ජාතින් අතර කරවර් නමින් කුලයක් ඇතිවන්නේද පෘතුගීසීන් ලංකාවට පැමිණි පසුව බව දෙමළ කුල ක්‍රමය විභාග කරනවිට පැහැදිලි වෙනවා.

මුස්ලිම් හා පෘතුගීසි නාවික බලය නිසා සිංහල නාවිකයන් නැත්තටම නැතිවී ගියා. කරාව වෙළඳ ශ්‍රේණිය දුර්වල වී ගියා. ඒ වෙනුවට කරාව නමින් හඳුන්වන ජන කණ්ඩායමක් ඇතිවුනා. ඒ ජන කණ්ඩායමට පෘතුගීසින් පවරපු කටයුතු මොනවාදැයි හෙළි කර පෙන්වන වැදගත් තොරතුරක් ඇන්. ඩී. කරුණාතිලක නැමැති ලේඛකයා හෙළිදරව් කරදෙනවා. ඔහුට හමුවුන පුස්කොළ පත් ඉරුවල නව කරාවයක් සඳහන් වෙනත් නම් දක්වා ඇත්තේ කරාව කුල අටක පමණයි. ඒවා මෙසේයි. දුනුවැඩි කරී, විල් කරා, වඩන කරා, උගල් කරා, කෙමන් කරා, පක්ෂි කරා,. කෙවුල් කරා, මත්සලාහුංකරා. කරාව කුලයට පැවරිලා තිබෙන්නෙ සත්ව ඝාතනයයි. උඩරට සිංහල රාජධානිය යටතේ මෙබඳු සමහරක් කටයුතු වල යෙදුනෙ වැද්දන් සහ දොද්ද වැද්දන් බව නොක්ස්ගේ පොතෙන් පැහැදිලි වෙනවා. එම නිසා මේවා සිංහල සමාජයේ නොතිබුණු අලුත් කර්මාන්තයි, පසු කාලෙක කරාව කුලය ධීවරයන්ට පමණක් විශේෂ වෙනවා. එවිට වෘත්තිය අනුව මාදැල් කරාව, බරුදැල් කරාව, ඔරු කරාව, ගොඩ කරාව, දඩු කරාව, කැස්ප කරාව, පොරව කරාව, ටොක් කරාව, ඉදිමල් කරාව යනුවෙන් කරාව කුලය උපකුල නවයකට බෙදනවා. වෘත්තිය අනුව මිනිසුන්ව හැඳින්වීම යුරෝපීය චාරිත්‍රයක් බව මුලදී පෙන්වුවා.

සිංහල වෙළඳ ශ්‍රේණිය දුර්වලවී ගියේ පෘතුගීසින්ගෙන් අප්‍රමාණ හානි ලබමිනුයි. එම කරාව වෙළඳ ශ්‍රේණිය අභාවයට පත්ව ගියේ 1817-18 අවුරුදු වලදී බ්‍රිතාන්‍ය විජිතවාදීන් කළ සිංහලේ මහා සංහාරයෙන් පසුවයි. වෙළඳ ශ්‍රේණිය බැබලවූ කරාවයන් විශාල සංඛ්‍යාවක් මරාදැම්මා. රටින් පිටුවහල් කළා.

බ්‍රිතාන්‍ය රාජ්‍ය ලේඛනාගාරයේ ලේඛනවලින් 1817-18 කැරැල්ලෙන් පසුව රටින් පිටුවහල් කළ හා මරාදැමූ වෙළඳ ශ්‍රේණි නායකයින් ගණනාවක් කරාව යන ශ්‍රේණි නාමයන් සමග දැනගන්න තියෙනවා. පෘතුගීසින් මරාදැමූ හා වහල් මෙහෙයට ගත් කරාවයන් මීට වඩා සංඛ්‍යාවෙන් ඉහලයි. නමුත් තවම එම තොරතුරු කිසිම ඉතිහාසඥයෙක් විසින් එළිකර දක්වා නැහැ. අප දන්නා බ්‍රසීල ඉතිහාසඥයකු පැහැදිලි කරදුන් විදියට සිංහල වහලුන් බ්‍රසීලයටත් ගෙන ගොසින් තියෙනවා. එය පුදුම විය යුත්තක් නොවන බව පෙනෙන්නේ ඊට බොහෝ කාලයකට පසුව ඉංග්‍රීසින් විසින් සිංහලයන්ව සිරකරුවන් සහ වහලුන් වශයෙන් රට රටවලට ගෙන ගොස් ඇතිවග දැනගන්නා විටයි. විශේෂයෙන්ම සිංහල සිරකරුවෝ විශාල පිරිසක් මුරුසි දිවයිනේ ඉඳ තිබෙනවා. දෙවුන්දර හා තංගල්ල ප්‍රදේශයේ විසූ මුතු කිමිදීමේ යෙදුන

සිංහලයන් විශාල පිරිසක් ගෙන ගොසින් ඕස්ට්‍රේලියාවේ පාළු ප්‍රදේශයක පදිංචිකරවා මුතු කිමිදීමේ සහ වෙනත් වෘත්තීන්වල යොදවා තිබෙනවා.

අල්ලා ගන්නා ප්‍රදේශවල බලකොටු ගම් නැතිනම් වහල්ගම් හැදීම පෘතුගීසි පාලනයේ එක ලක්ෂණයක් වුනා. මෙයින් පෘතුගීසීන් බලාපොරොත්තු වුනේ ඔවුන් දනසිටි පෘතුගාලයේ තිබුණ පරිදි වැඩවසම් සමාජ සංවිධාන බිහි කිරීමයි. ඔවුන් මල්වානේ රජමාලිගාවක් හදල පෘතුගීසි ආණ්ඩුකාරයාට රාජකීය පෙනුමක් දීමට උත්සාහ කළා. ඒලඟට අල්ලාගන්නා හැම ප්‍රදේශයකම බලකොටු ගම් හැදුව. මෙතනදී බලකොටුගම් කීවෙ කොළඹ, ගාල්ල, මීගමුව, කල්පිටිය, මාතර වාගෙ විශාල බලකොටු නොවේ. උදාහරණයක් දක්වුවොත් පෘතුගීසීන් හතර කෝරළේ සහ හත් කෝරළේ යටත් කරගත් පසුව අලව්ව, කටුගම්පොළ, පැන්නැනිගොඩ සහ ඇත්ගාලේ තොටද දිවල, අලව්ට, අට්ටාපිටිය, දියසුන්නත, මොට්ටපුලිය, දඹුලුගස්හින්න සහ මැණික්කඩවරද බලකොටු තැනුවබව පෘතුගීසි පාලනය ගැන විස්තර සපයන සමහර ලේඛනයෙ සඳහන් කරනව. ඇත්තටම පෘතුගීසි ලේඛන බැලුවම පෙණෙනව ඒ යුද කඳවුරුවලට බාහිරව පෘතුගීසි හමුදා නිලධාරීන්ට භාරවුන තවත් වහල් කඳවුරු විශේෂයක් තිබුණ බව. එබඳු වහල් කඳවුරකින් කෙරුණෙ එට ඇති ගම් සියල්ලම නිරීක්ෂණය කිරීම හා පාලනය කිරීමයි. කඳවුර ඇතුලෙ පල්ලියක් හා පාසැලක්ද තිබුණ. හැම කඳවුරකම පාදිලිවරයෙක් හෝ දෙන්නෙක් හිටිය. කඳවුරට අයිතිවන වටාගම් කිසිවක කිසිම ගැමියෙකුට ගම් වලින් පිටවීම තහනම් වුනා. ගම් නායකයින්ගෙ දරුවො සමහරෙක් කඳවුර ඇතුළම නවත්වා ගත්ත. එසේ නැවතුන හා නොනැවතුන ගම් නායකයින්ගෙ දරුවන් කඳවුරට දිනපතා පැමිණ ආගමික අධ්‍යාපනය ලැබීම සහ දෙවියන් අදහීම අනිවාර්ය වුනා. පළමුවෙන්ම කඳවුරු ගම් ඇතිවෙලා තියෙන්නෙ මුහුදුබඩ පලාත්වලයි. විශේෂයෙන්ම කොළඹ කල්පිටිය සහ කොළඹ පානදුර අතර ප්‍රදේශයේයි. එම ප්‍රදේශවල පිරිමින් විශාල වශයෙන් මරා දැමූ නිසා ඉතිරිවී සිටි වැඩි දෙනා වැන්දඹුවන් හා දරුවන් වුනා. මේ අනාථයින්ට කතෝලික ආගම පමණක් නොවෙයි පෘතුගීසි සංස්කෘතිය කැවීමට පාදිලිවරු වෙහෙසුනා. මේ සඳහා විවිධ උපක්‍රම භාවිතා කළබව කියද්දී අද යුගයේ මිෂනාරීන් කටයුතු කරන හැටි පෙන්වූ ජර්මන් රූප වාහිනී වාර්තා චිත්‍රපටි කිහිපයක් ගැන මතක් වෙනව. කතෝලික මිෂනාරීන් අප්‍රිකාවේ පිග්මි වරුන්ගේ ගමක් ගිලගන්නා හැටියි ඒක චිත්‍රපටියකින් පෙන්නුවෙ. මිෂනාරි නියෝජිතයන් අප

අහිංසකයො වාගෙ පිග්මි ගම්මානයට ගියා. නොයෙකුත් කපටි උපක්‍රම යොදමින් ඔවුන්ගේ ඇසුරට වැටුනා. පිග්මිවරු වන්දනා කළේ කම්බ නම් දෙවියෙක්වයි. ඔහු වෙනුවෙන් කුඩා දේවස්ථාන යක් හදන්ට මිෂනාරි කැමතිවුනා. පිග්මිවරුන්ගේ මහත් ප්‍රීතිය දනවමින් කුඩා ශාලාවක් ඉදිකළා. එය කම්බා දෙවියො අදහන තැනයි. මිෂනාරින් කම්බා දෙවියන්ගෙ ප්‍රතිමාවකුත් එහි තැබුව. එය කළුපාට ජේසුගේ ප්‍රතිමාවක් මේ අතර දේවස්ථානය ඇතුලේ ගායනා කිරීම සඳහා කම්බා දෙවියන්ට පිග්මින් කී ගී කවි තාල අනුව බයිබල් ගීත හදලා දීමටත් මිෂනාරින් අමතක කළේ නැහැ.

නොමැරී සිටීමට කරන අරගලය නමින් මෙබඳුම වටිනා වාර්තා චිත්‍රපටියක් ජර්මන් රූපවාහිනියේ දෙවැනි සේවයෙන් ඉතා මෑතක ප්‍රදර්ශනය කළා. එහි පෙන්වූයේ මිෂනාරින් ගිලගන්නා ඇමසෝනාවේ කැනේලා ඉන්දියානු ගෝත්‍රයක් පිළිබඳ අනුවේදනීය වාර්තාවකුයි. ඇමසෝනා වනාන්තරයේ චිරාත් කාලයක් තිස්සේ ඉතා ප්‍රීතියෙන් සහ සාමයෙන් ජීවත්වූ මෙම ඉන්දියානු ගෝත්‍රිකයෝ කිසිවෙක් රෙදි ඇන්දේවත් නැහැ. ඔවුන් ඇමසෝනා වනාන්තරයේ සුන්දර දරුවන් වුනා. ඔවුන් අතරට රිංගුව මිෂනාරින් පළමුව ආරම්භ කළේ ශීලාචාර කිරීම නම්වූ අපරාධයයි. පිරිමි කාටත් කලිසම් කබල් දුන්නා. ගැහැණුන් ට කුඩා ජංගි ඇන්දෙව්වා. පසුව තනපටිද දුන්නා. එය දකින ලංකා ඉතිහාසය ගැන දැනුමක් ඇත්තෙකුට පෘතුගීසින් සිංහල සමාජය විනාශ කළ පිළිවෙල දැක ගැනීම අපහසු නැහැ. එද පෘතුගීසි මිෂනාරින් මුහුදුබඩ අනාථ ගැහැණුන්ට ඇන්දවූ කබා, බෝරිච්චි හැට්ටා අදටත් අඳින ස්ත්‍රීන් ලංකාවේ ඇතැම් මුහුදුබඩ පළාත්වලදී දැකිය හැකියි.

බලකොටු ගම්වල සිරකරුවන් බවට පත්වූ වැඩිය පිරියක් කතෝලික ආගම වැළඳ ගත්තේ වේදනාවෙන්. බලවත් අකමැත්තෙන්. වෙන කළ හැකි දෙයක් නැති කමින්. නමුත් ළමා ළපටින්ට එහි වේදනාව දැනෙන්න ඇත්තෙ ඊට වඩා අඩුවෙන්. ඔවුන් අළුත් ආගම ඉගෙණ ගත්ත මිසක් ඔවුන්ට බුද්ධාගම, සිංහල ජාතිය ගැන, සිංහල උරුමය ගැන වෙළඳ ශ්‍රේනිය හා කරවයන් ගැන තොරතුරු මාත්‍රයක් කරුණු කියා දීමට කෙනෙක් නැතිව ගියා. මේ ලෙසට පරම්පරා දෙක තුනක් යනවිට පෘතුගීසි ග්‍රහණයට යටත්වෙලා තිබුණ ප්‍රදේශ වලින් බුද්ධාගම විතරක් නොවේ සිංහල ජාතිය පිළිබඳ සියළු උරුමයන්ද වඳවී ගියා. ඔවුන් කිසිවෙකුට පෘතුගීසින් කළ අපරාධය ගැන සිතා ගැනීමටවත් ඉඩක් නොතැ- [illegible] මිෂනාරීන් [illegible] කළේ.

පෘතුගීසි බලකොටු ගම් පාලනය කළේ යුද්ධ නිලධාරියෙක් එසින් බව මුලදී කීව. බලකොටු ගම ඔහුගේ අනසකට යටත්වූ පුද්ගලික ප්‍රවේණියක් වුනා. එහි පල්ලියක් තිබුණා. පල්ලියෙ පාදිලිවරු හෝ පාදිලිවරයෙක් කටයුතු කළා. මේ බලකොටු ගම පෘතුගාලයේ වැඩවසම් ගමක් ලෙසටයි සකස් වුනේ. වංශාධිපතියගෙ කටයුත්ත කළ පෘතුගීසි යුද්ධ නිලධාරියා ඇත්තටමත් පරපුරෙන් වංශක්කාරයෙක් වුනා. පෘතුගාලය යටත් විජිත ව්‍යාපාරයේ යෙදෙන විටත් එය වැඩවසම් රාජධානියක්. එහි රාජ්‍ය බලය තිබුණේ රජ පවුලට සහ රජපවුලේ ඥාතින්වූ වංශවතුන්ගේ කුටුම්බයකටයි. මේ වංශවතුන්ගේ කුටුම්බයට විවිධ පෙලපත් නම් තිබුනා. ඒ හැම පෙලපත් නාමකම ඉතිහාසයක් තියෙනව. කිසියම් වීර ක්‍රියාවක් කළ වංශවතෙකුටයි රජතුමා විසින් මුලින්ම කීර්ති නාමය දුන්නෙ. පස්සෙ එය පෙලපත් නාමයක් බවට පත්වෙනව. එම වංශවතුන් තමයි ප්‍රවේණි පාලනය කෙරුවෙ. ඔවුන්ගෙන් තමයි රජයේ නැති නම් රජ්ජුරුවන්ගෙ හමුදාවෙ සියළුම උසස් ශ්‍රේණි සකස්වුනේ. එම නිසා යටත් විජිත ව්‍යාපාරයේ යෙදුන පෘතුගීසි හමුදාව මොන රට යටත් කර ගත්තත් එහි ඇතිකළ පෘතුගීසි පාලනයේ පාලන නිලධාරින් බවට පත්වුනේ පෘතුගාලෙ වංශවත් පරම්පරාවල සාමාජිකයො පමණයි. මේ ගැන තවත් පැහැදිලි කරන්ඩ පොන්සේකා කියන පෙලපත් නම ගනිමු. මේ පෙලපත් නාමය මුලින්ම රාජකීය නාමයක් ලෙස ලබාගත් වංශාධිපතියෙක් ඉන්නව. ඔහු රිවදරෝ කියන ගමේ හිටියයි විශ්වාස කරනව. ඔහුගෙන් පසුව තමයි ඔහුගේ පරපුරේ සාමාජිකයො පොන්සේකා නාමය පෙලපතව ගත්තෙ. පොන්සේකා නම සමග ඔවුනට ලැබුණු ලාංඡනයක් නැතිනම් පලිහක් තියෙනව. ඒ පලිහටම උරුමවෙන වර්ණයක් තිබෙනාම, පොන්සේකලාට අයිති රක්ත වර්ණ තරු පහක් සහිත රිදී පලිහකුයි. ඒ මත කුළු හරකෙක් ඉන්නව. මේ පලිහ ඇතුව කිසියම් උත්සවයකට, ගටන්බිමකට එන පොන්සේකා පරපුරේ අයට සුවිශේෂවූ සංගීත වාදනයකුත් තිබුනා.

මීලඟට බලමු තවත් ප්‍රසිද්ධ පෙලපත් නමක් වන පින්තු යන්නේ ආරම්භය ගැන. පින්තු කියන්නෙ ඉතාමත් පැරණිවූ පෘතුගීසි පෙලපත් නමක්. එහි ආරම්භය නෙරා ද ජේරා නම් ගමටයි සම්බන්ධ වන්නෙ. ඔවුන්ගේ වංශ චිත්‍රය රිදී පැහැති පලිහක් තුළ හැදුණු රතුපාට අඩ සඳවල් පහක් සහ ඒ මත නැගුණ ව්‍යාඝ්‍රයෙකුයි. පෙරේරා පෙලපත් නම ගත්තොත් පෙරේරාල කියා කීවෙ පෘතුගාලයෙ ඉතාමත්ම වංශවත් කුල පරම්පරාවකටයි. ඒ පරම්පරාවට මුල් ඉතාලියානු වංශවත් පරම්පරාවක් දක්වා දුවනවා. ඉතාලියේ ලොම්බාඩ් පවුලේ ආදි වංශාධිපති

# පෙලපත් ලාංඡන

1



1 දියස්

2



.2. කොරය

3



3. පින්ත

4



4. පොන්සේකා

යෙක් මෙහෙයවූ සේනාව ගැලිසියාව යටත් කරගත්තා. ඒ කටයුත්තෙ යෙදුන රණකාමියගෙ පරපුරෙනුයි පෙරෙයිර නාමය ලබාගත් වංශාධිපතිය බිහිවෙලා තිබෙන්නෙ. පෙරෙයිරා කීර්ති නාමය සමග ඔවුන්ට ලැබුණ ජය සංකේතය නැතිනම් පසුව පෙරෙයිරා වංශයෙ චිහ්නය රත්‍රන් සහ රිදී තටු සුවලක් මැද හැදුණ රක්ත වර්ණ කුරුසියයි. ඇරගත් වලින් ආරම්භවුන පිනා කියන පෙලපත් නාමයත් බොහොම වංශවත් පරම්පරාවක් භාවිතා කරල තියෙනව. ඔවුන්ගේ චිහ්නය රිදී අච්චාලයක්. දියෙස් නැත්නම් ඩයස් පරම්පරාවේ චිහ්නය රාජාලියා සහිත රතුපාට පලිහයි. එහි රිදීවෙන් කැටයම් කළ වෙනත් ලාංඡනයකුත් තිබුණ. දියස් පෙලපත් නම තිබුණ කුල පරම්පරා කීපයක්ම පෘතුගාලයේ හිටිය. ප්‍රනාන්දස් පරම්පරාද කීපයක්ම තිබිල තියෙනව, නමුත් කොරෙයා පරම්පරා දෙකක් ගැනයි තොරතුරු ලැබෙන්නෙ. මෙ හැමට වංශ චිහ්නයක් තිබුණා. සිල්වා පරම්පරාවෙ වංශවතුන්ටත් වංශ චිහ්නයක් තිබුණ.

වංශක්කාර පෙලපත් නම් බව නොදන පෘතුගීසි පෙලපත් නම් . ගණනාවක්ම පෙරෙයිරා, පීරිස්, රොඩ්රිගෝස්, මැන්දිස්, ප්‍රනාන්දස්, සිල්වා කොස්තා සොයිසා, පොන්සේකා කොරෙයා, ගෝමස්, මැලෝ, බරෝස්, කුඤ්ඤ, තිසේරා, දියස්, ගොන්සාල්-වේස්, පිනා, පිඤ්ඤ, ලෙනෝරා, පින්තු ඔලිවේරා, අල්පොන්සෝ ආදි ලෙසින් ලංකාවේ ප්‍රසිද්ධ වෙලා තියෙනව අදටත් සමහරක් ලාංකිකයො පෙලපත් නම් වශයෙන් භාවිතා කරනව. එය සිද්ධ වුන පිළිවෙලක් තියෙනව. ලංකාවෙ පෘතුගීසි ආණ්ඩුකාරයින්, බලකොටු සහ බලකොටු ගම්භාර නිලධාරීනුත් සැවොම පෘතුගීසි යුද්ධ නිලධාරීන් වුනා. ඒ හැම යුද්ධ නිලධාරියෙක්ම පෘතුගාලයේ වංශක්කාර පෙලපතකට අයිතිවුන බව පලමුව කිව. යුද්ධ ශිල්පය පෘතුගාලයේ පමණක් නොවෙයි යුරෝපයේ හැම රටකම වංශක්-කාරයින්ගෙ වෘත්තිය වුනා, එම නිසා ලංකාවේ පෘතුගීසි පාලන ප්‍රදේශ වලත් පෘතුගාලයේ තිබුණ අන්දමේ වැඩවසම් පාලන සංවිධාන ගොඩ නැංවීමටයි පෘතුගීසි යුද්ධ නිලධාරීන් වෙහෙසී තියෙන්නෙ.

බලකොටුගම පෘතුගීසි යුද්ධ නිලධාරියගෙ ප්‍රවේණිය වුණා. ඒ ප්‍රවේණියට අයිති ගම්වල සියළුම වැසියො යුද්ධ නිලධාරියගෙ ප්‍රවේණි දාසයන් බවට පත් වුනා. යුද්ධ නිලධාරියා ඒ දාසයින්ව විවිධ වෘත්තීන්හි යෙදෙව්ව. මාළු ඇල්ලීම, කරවල වේලීම, මුතු කිමිදීම, දඩයම් කිරීම, වඩුවැඩ, දෝලා එසවීම, ලන්කිරිඤ්ඤ සේවය, කුළුබඩු රැස්කිරීම, කුරුඳු තැලීම, ආදී වශයෙන් විවිධ වෘත්තීන් සඳහා ඒ ඒ පිරිස් යෙදෙව්ව, සියළු දාසයින්ව







# පෙලපත් ලාංඡන




1. ප්‍රනාන්දුස්
2. ඩයස්
3. සිල්වා

කළේ නැති නම් තෝම්බුවල සඳහන් කළේ යුද්ධ නිලධාරියාගේ නම යටතේයි. එයිනුත් පැහැදිලි කළේ බලකොටු ගමට අයිති බවයි. බලකොටු ගම භාර නිලධාරියගෙ දසයින් නැතිනම් වහලුන් කළ ප්‍රවේණි දසයින්ව හඳුන්වල ඇත්තෙත් ස්වාමියාගෙ නම යටතෙයි. යුද්ධ නිලධාරිය තිසේර නම් ඔහුගේ ප්‍රවේණි දසයින්ට ස්ක්‍රාමෝස් දේ සිකේසෙදෝර් තිසේරා කිව්ව. මේ විදියට වහලුන්ව ඔවුන්ගේ ස්වාමියාගෙ නමින් හැඳින්වීම ලංකාවට විශේෂ වුන දෙයක් නොවෙයි. ඇමෙරිකාවෙ කළු ජාතිකයින් හැමෝටම වාස ගම් ලැබිල තියෙන්නෙ වහල් ස්වාමින්ගෙ පෙළපත් නම් අනුවයි.

ලංකාවෙ වයඹ පළාතෙ දකුණු පිටිගල් කෝරලේ කුද්දෙපියාව කියල ගමක් තියෙනව. ඒ ගමේ පන්සල ශ්‍රී සුනන්දාරාමයයි. සුනන්දාරාමයේ විහාරගෙයි සිතුවම් වලට අවුරුදු සියයකටත් වැඩි ඉතිහාසයක් තියෙනව. එම සිතුවම්වල තියෙන ලොකුම වැදගත්කම තමා නුවර යුගයේ චිත්‍ර සම්ප්‍රදාය අනුව යුරෝපීය චාරිත්‍ර දැනගෙන සිටි චිත්‍ර ශිල්පියෙක් විසින් ඒවා ඇඳ තිබීම. උදාහරණයක් ලෙස කීවොත් සඳ මහ රජ්ජුරුවන්ගෙ වාසලේ රෝම ඉලක්කම් ඇති ඔරලෝසු දකින්ට තියෙනව. ජූජක බමුණා ගමන් ගන්නා වනාන්තරයෙ තුවක්කු අතින්ගත් යුරෝපීය ඇඳුම් වලින් සැරසුන හේවායො දකින්ට ලැබෙනව. බුදු ගෙට ඇතුල්වන ප්‍රධාන උළුවස්ස මුදුනෙ බිත්ති චිත්‍රයේ දක්නට ඇත්තේ යුනිකෝන් නැමැති හිසෙන් අඟක් එළියට ඇදිල තියන සත්වයායි. යුනිකෝන් ලංකාවට හුරු සතෙක් නොවේ. එසේ නම් කුද්දෙපියාවෙ සුනන්දාරාමයෙ බුදු ගෙට ඇතුල්වන දකුණු පස දොර මුදුනට යුනිකෝන් සත්ව රූප ආවෙ ඇයි? පෘතුගීසි පාලන ක්‍රමය ගැන නොදන්න ඊට හේතු හොයා ගැනීමට කොහෙත්ම නොහැකියි.

පෘතුගීසින් මුහුදුබඩ පලාත් අල්ලාගත් කාලයේ වර්තමාන කටුනේරිය මුල්කර බලකොටු ගමක් තිබිල තියෙනව. ඒ ගම ප්‍රවේණිය කරගෙන ඉඳල තියෙන්නෙ තිසේර නම් යුද්ධ නිලධාරියෙකුයි. ඔහුගේ නිවාසය තිබී ඇත්තේ කටුනේරියේ වර්තමාන කතෝලික දේවස්ථානයට නුදුරිනුයි. දේවස්ථාන බිමේ එදා තිබී ඇත්තේ පැගෝඩාවක් යනුවෙන් පෘතුගීසි ලේඛනවල තිබෙන පන්සලකුයි. විනාශ කළ එහි පාදම උඩ තමයි පැරණි පල්ලිය ගොඩනංවා ඇත්තෙ. කටුනේරියෙ ප්‍රවේණිය කළ තිසේරා යුද නායකයගෙ පරම්පරාවෙ චිහ්නය යුනිකෝන් නැමැති සතායි



යුනිකෝන් ලංකාවට යුරෝපයෙන් ගෙනා සත්ව ලාංඡනයකි. තිසේරා පෙලපත් ධජයේ යුනිකෝන් සිටී. තිසේරා නම් යුද්ධ නිලධාරියෙකුගේ ප්‍රවේනියක් වර්තමාන කටුනේරිය ප්‍රදේශය බුල්කොට තිබී ඇත. යුනිකෝන් තිසේරා පෘතුගීසි වංශාධිපතියාගේ සලකුණකි.

කටුනේරියේ අසත් නාත්තන්ඩිය මැණිවරන කොට්ඨාශයේම පිහිටි කුද්දෙව්යාව ගමේ ශ්‍රී සුනන්දරාම විහාරයේ විහාරගෙට ඇතුල්වන ප්‍රධාන දොරටුවේ මකර තොරණට පහළින් දොරටුව සරසා ඇත්තේ යුනිකෝන් දෙදෙනෙකු ඔසවාගත් පළිහකිනි.







පෙලපත් ලාංඡන

1. පෙරෙයිරා

2. පීතා

3. තිසේරා

තිසේරාගේ ප්‍රවේණියේ සිටි ප්‍රවේණි දූසයින් තිසේරාගේ වංශ චිහ්නය දැනගෙන හිටිය. ඔවුන් කොයි උත්තම කටයුත්තේදීත් ඒ චිහ්නයට ගරුකළා. පෘතුගීසි පාලනය බිඳ වැටුන පසුව තිසේරා ප්‍රවේණියෙ දූසයින් තිසේරා නම ගත්තා පමණක් නොවෙයි. තිසේරා පෙලපතට අයිති චිහ්නයත් රැකගත්ත. සුනන්දරාමයෙ චිත්‍ර ඇඳ තියෙන්නෙ තිසේරා ප්‍රවේණි දූසයින්ගෙන් පැවතෙන්නෙක් විසිනුයි. එමනිසා යටත්විජිත ඉතිහාසයේ ඉතාම වැදගත් විස්තරයක් කියාදෙන කුද්දෙව්යාවෙ ශ්‍රී සුනන්දරාමයේ විහාර ගෙයි බිතු සිතුවම් වල ඓතිහාසික වටිනාකම මෙපමණ යයි කීමට බැහැ.

කන්ද උඩරට සිංහල හමුදාව සහ ලන්දේසි හමුදාව එක්වී පෘතුගීසින්ව ලංකාවෙන් එලවා දැම්ම. ඊට පසුව පෘතුගීසින්ට අයත්ව තිබූ ප්‍රදේශවල අයිතිය ලන්දේසින් උදුරා ගත්ත. පෘතුගීසි වංශාධිපතීන් නැතිව ගියා. ඒ වෙනුවට ලන්දේසි වෙළඳ සමාගමේ නිලධාරින්ගෙ පාලනය ඇතිවුනා. මෙ නිලධාරින්ට පාලන කටයුතු වලදී පෘතුගීසි ප්‍රවේණිවල සිටි ප්‍රවේණි දූසයින්ව පෘතුගීසින්ගෙ තෝම්බුවල ලියා තිබූ පරිදිම පෘතුගීසි වංශාධිපතින්ගෙ නම් යටතෙ ලේඛනගත කිරීම ස්ක්‍රාවෝස් දෝ සිල්වදෝර් තිසේරා, ප්‍රනාන්දස්, රොඩ්රිගෝස් ආදී ලෙසට ලියා පදිංචි කිරීම පහසු වුනා. වෙළඳ භෝග වැවීම ඇළවෙල් කැපීම ආදී බොහෝ කාරණා කෙරේ උනන්දු වූ ලන්දේසීන් ඒ හැම කටයුත්තක් කරද්දිම පෘතුගීසි වංශාධිපතීන්ගෙ නම් යටතෙ වහලුන්ව හඳුන්වල තිබෙනව.

පෘතුගීසි වාසගම් ක්‍රමයෙ උත්පත්තිය සිද්ධවෙලා තියෙන්නෙ ලන්දේසි කාලයෙදීයි. ලන්දේසින් මැඩිගල් යන්නට පෙර තම වහලුන්ව පෘතුගීසි යුද්ධ නිලධාරින්ගෙ පෙලපත් නම් වලින්ම හඳුන්වන්ට ගත්ත. ලේඛනගත කළා. ස්ක්‍රාවෝස් දෝ සිල්වදෝර් තිසේරා වෙනුවට තිසේර නම පමණක් යෙදුව. මේ ලෙසින් සිංහලයන්ට පෘතුගීසි පෙලපත් නම් වැටෙද්දී ඒ පෙලපත් නම්වල වෙනස්කම්ද සිද්ධවුනා. පෙරෙයිරා වෙනුවට පෙරේරා නම හැදුන. ප්‍රනාන්දස් මිසක් ප්‍රනාන්දු කියල පෘතුගීසි වාසගමක් නැහැ. ප්‍රනාන්දු කියන්නෙ පුද්ගල නාමයක් පමණයි. නමුත් ලංකාවෙදී ප්‍රනාන්දස් පෙලපත් නාමය ප්‍රනාන්දු කියන පෙලපත් නාමය බවට පරිවර්තනය වුනා. රොඩ්රිගෝස් පෙලපත් නාමය වෙනුවට රොඩ්රිගෝ පුද්ගල නාමය පෙලපත් නාමයක් ලෙස සකස් වුනා. කොහොම වෙතත් පෘතුගීසින්ට යටත්වී අප්‍රමාන දුක්පීඩා විඳිමින් වහලුන්ව ජීවත්වූ සිංහලයින්ට පෘතුගීසි පෙලපත් නම් පවරා ඇත්තේ ලන්දේසින් විසිනුයි. සිංහලයෝ මේ කිසිම පෙලපත් නාමයක් අවබෝධයකින් බාර අරගෙන නැහැ. ඒ අයුරින්ම ඔවුන් අනවබෝධයෙන් අනුකරණය කරන්ට ගත් නවීන් නම් තියෙනව,

පෘතුගීසි යුද්ධ නිලධාරීයාට සාමාන්‍යයෙන් ඉහළ නිලධාරීන් හැම කෙනාටම ප්‍රවේණිදූසයෝ ආමන්ත්‍රණයකළේ සිඤ්ඤෝ කියන ගෞරව වචනයෙනුයි. ඉන් කියවුනේ උත්තමයාණෙනි කියලයි. සුළු නිලධාරීන්ට සිඤ්ඤෝ සින්නෝ කීවම. සිඤ්ඤෝගෙ භාර්යාවට නැතිනම් ආර්යාවට සිඤ්ඤෝරා දෝනා නමින් කථාකළා. ඇයගෙ දූවලට කිව්වෙ සිඤ්ඤෝ මෝසලයි කියලයි. පෘතුගීසි බලය බිඳවැටිල කලක් යනවිට පෘතුගීසි ප්‍රවේණිවල සිටි ජනයා පෘතුගීසි කාලයේම බලවත්වූ සිංහල පෘතුගීසින්ටත් සිඤ්ඤෝ කීවා. එතනින් නොනැවතී තම දරුවන්ටත් සිඤ්ඤෝ කියන්ඩ ගත්ත. කාලයක් යනවිට ක්‍රිස්තියානි නමත් සමග සිඤ්ඤෝ ගෞරව වචනය එක්කර පුද්ගල නම භාවිතා කරන්ඩ ගත්ත. එය මෝස්තරයක් ලෙසින් පහතරට ප්‍රදේශ පුරා පැතිර ගියා. බබා සිඤ්ඤෝ, බේබි සිඤ්ඤෝ, ඇරමානිස් සිඤ්ඤෝ, ආරොන් සිඤ්ඤෝ, ලෞගු සිඤ්ඤෝ, අගෝ සිඤ්ඤෝ ආදී නම් පහත රට ගම් දනව් වලින් හතු පිපෙන්න වාගෙ මතුවෙන්ට ගත්ත. බලකොටුගම් වල නෝනලත් ඉඳල තියෙනව. පෘතුගීසි කාරයෝ නෝන කිව්වෙ කිරි අම්මට නැතිනම් ආච්චිට. සමහරවිට කතෝලික කන්‍යා සොහොයුරියන්ටත් නෝන කියල තියෙනව. නමුත් බලකොටු ගම්වල නම් නෝන කියල තියෙන්නෙම පෘතුගීසි කාරයින්ගෙ විවාහක හෝ අවිවාහක ගැහැණුන්ගෙ දරුවන් බැලූ අයටයි. කාලයක් යනවිට පෘතුගීසි පාලනය බිඳ වැටී ගිය පසුව නෝන කියන වචනයත් නමක් බවට පෙරළුනා. ප්‍රවේණි ගම් වලින් ජූලි නෝනල, බබි නෝනල, කතරින් නෝනල, පෙත්න නෝනල බිහිවුනා. ඔවුන් අනුකරනය කරමින් පහතරට ගම්පුරා නෝනල දහස් ගණන් ඉපදුනා. කාලයක් යනවිට පාසල් ගුරුවරියන්ටත් නෝන කියන්ඩ ගත්ත. ඒක තව අලංකාර කරමින් නෝන මහත්තය පදය හැදිල තියෙන්නෙ ඊටත් පසුවයි.

දොන් සහ දෝනා නම් දෙකත් පෘතුගීසින් විසින් එළි දක්වා තියෙනව. දොන් කීවෙව වැඩ වසම් පෘතුගාලයෙ නම් ගෞරවනීය සම්මානයක් වශයෙනුයි. ඕනෑම පුද්ගලයෙක් වංශක්කාර සමාජේ අභිභවා රාජකීය තත්වයට ඇතුල්කර ගද්දිසි දොන් පදවිය පිරිනැමුවෙ. එය රජතුමා විසින් ප්‍රදානය කරපු සම්මානයක්. මුලින්ම ලංකාවෙ දොන් සම්මානය හිමිකරගත් පුද්ගලයා තම දෙමව්පියන් විසින් පෘතුගීසින්ට පාවාදුන් ධර්මපාලයි. ධර්මපාලගේ දොන් සම්මානයත් ජුවන් ක්‍රිස්තියානි නාමයත් සමග දොන් ජුවන් ධර්මපාල ලෙසටයි සමහර සිංහල පොත්වල සඳහන් කර ඇත්තෙ. නමුත් පෘතුගීසි ලේඛන වල තියෙන්නෙ නම් දොන් ජුවන් කියල පමණයි. දොන් ජුවන්ට පසුව රජ පවුල් වලට සම්බන්ධ පුද්ගලයන් හතර පස් දෙනෙකුටත් පෘතුගීසින්ට අප්‍රමාණ සේවයක් කළ සිංහල අණුනාඩියන් හතර පස් දෙනෙකුටත් දොන් නාමය ලැබිල

තියෙනව. මේ අයුරින්ම පෘතුගීසීන් විසින් සිංහල රජ පවුල් වලට සම්බන්ධ කාන්තාවන් තුන් හතර දෙනෙකුටත් දෝනා පදවිය පිරිනමල තියෙනව.

පෘතුගීසි පාලනය බිඳ වැටිල කල්යාමට පෙර ප්‍රවේණි දැස වල හිටි සිංහලයො පෘතුගාලයෙ රජුගෙ අවසරය නැතුව දොන් සහ දෝනා බුර අරගෙන තියෙනව. ඒක අනුකරණය කළ පහතරට ප්‍රදේශවල සිංහලයින්ද දොන් සහ දෝනා තනතුරු ලබා ගෙන තියෙනව. නමුත් මේ කිසිවෙක් එම සම්මාන ගැන කිසිම දැනුමක් ඇතිව ඒ නම් අරගෙන නැහැ. කරන්නන් වාලේ, කර ඇතුවා පමණයි. අදටත් ලංකාවෙ පෘතුගීසි පෙළපත් නාම භාවිතා කරන ලාංකිකයො බොහොම ඉන්නව. විශේෂයෙන්ම පහත රට ප්‍රදේශ වල සිංහලයින් විශාල සංඛ්‍යාවක් පෘතුගීසි පෙළපත් නාම භාවිතා කරනව. ඇත්ත වශයෙන්ම ඔවුන්ට මේ නම් පවරල ඇත්තෙ ලන්දේසි කාලයෙදීයි. නමුත් ඔවුන් සැමටම පෘතුගීසීන්ට යටත් වෙනතාක් කල් ඉතා වටිනා නිවහල් සිංහල නම් වාසගම් අයිතිව තිබූ බව අමතක නොකළ යුතුයි.

ලංකාවෙ විතරක් නොවෙයි පෘතුගීසීන්ට යටත් වෙලා හිටි හැම රටකම ස්වදේශිකයො පෘතුගීසි පෙළපත් නම භාවිතාකරනව. බ්‍රසීලය, ගිනීබිසවු, මොසැම්බික් ආදී හැම පෘතුගීසි කොලනියකින්ම පෘතුගීසි පෙළපත් නාම අහන්ඩ හැකිවෙනව. මේ පෘතුගීසි වාසගම් පැතිරගිය පිළිවෙල සෙවීමේ පහසුම ක්‍රමය පෘතුගීසි යටත් විජිත පාලන කටයුතු පිළිබඳ ලේකම් මිටි සහ තෝම්බු පරීක්ෂා කිරීමයි. එවිට පෘතුගීසි වංශක්කාරයින් ඒ ඒ රටවල ප්‍රවේණි හදපු හැටින් ඒ හැදූ පුද්ගලයින් ගැනත් තොරතුරු ලැබෙනව,

අද පෘතුගාලය වැඩවසම් රාජ්‍යයක් නොවෙයි. එම නිසා පැරණි වංශවතුන්ගේ නම් සහ පෙළපත් නම් හැම කෙනෙක්ම භාවිතා කරනව. නමුත් පෘතුගාලයෙ වංශවත් පරම්පරා පිළිබඳ බොහෝ තොරතුරු ඒ රටේ රාජ්‍ය ලේඛනාගාර වල තිබෙණව. පවුල් ගස් තිබෙනව. යටත් විජිත ව්‍යාපාරයේ යෙදුනෙ කොයිම්බ්‍රා විශ්ව විද්‍යාලයෙන් පිටවී එම කාර්යයෙ නිරත වුන උගතුන් ගැන විස්තර විනාශ නොවී තිබෙනව. ඒවාගෙම පැරණී වංශවත් කුල පරම්පරා වලින් පැවතෙන පවුල් නාමත් ඉන්නව. එම වංශවතුන් ගේ පරම්පරා ගැන තොරතුරු රාශියක් අපට සපයා දුන් ආචාරිනී ඇලෙක්සන්ද්‍රියා සී කථාවක් මෙහෙමයි. "පෘතුගාලෙ කිසිම, වංශක්කාර පරම්පරාවක් ඔවුන්ගෙ පෙළපත් නාම කොලනිවලි වහල්ලුන්ට තියා පෘතුගාලයේ සාමාන්‍ය වැසියාටවත් දීල නැහැ. ඔවුන් පෘතුගීසීන්ගෙ වංශක්කාර පෙළපත් නාම කොලනිවලි

ස්වදේශිකයා තමන්ගෙ පෙලපත් නම් විදිහට බොහොම අභිමාන යෙන් භාවිතා කරනව. එපමණක්ද නොවේ. ඔවුන් පෘතුගීසි නාම වලට ගිනාවෙනව. අවමන් කරනව. ඒ නම් බොහොම පහත් කරල සලකනව. තමන් භාවිතා කරන පෘතුගීසි පෙලපත් නම් වලින් කියවෙන්නෙ තමන්ගෙ මුතුන්මිත්තො පෘතුගීසින්ට වහලුන් වෙලා හිටි වග ඔවුන් දන්නෙ නැහැ. පෘතුගාලෙ පැරණි වංශවතුන්ගෙ පවුල් ගස් බැලුවම හොයාගන්ඩ පුළුවන් ලංකාවෙ යුද්ධ සේවයට ආවෙ ඔවුන්ගෙ පරම්පරාවෙ කවුද කියන විත්තිය උදාහරණයක් වශයෙන් පෙරෙයිරා පරම්පරාවෙ පවුල් ගහේ සටහන් වෙනව සිංහල රටේ සේවයට පැමිණි එම පරම්පරාවෙ සාමාජිකයන්ගෙ නම් හා රාජකාරි කාලසීමාවන්. ඊලගට පෘතුගීසි ලන්දේසි තෝම්බු වලින් හොයා ගන්ඩ පුළුවන් පෙරෙයිරා වංශාධිපතින් ලංකාවෙ හිටි කාලයේදී ඔවුන්ගෙ රාජකාරි සහ පාලනය කල බලප්‍රදේශ කොයි ගම් මොනවාද කියල. අන්න ඒ පෙරෙයිර වංශාධිපතින්ගෙ වහල්ලු තමයි පෙරෙයිරල සහ පෙරේරල. මේ අයුරින් ප්‍රනාන්දු කිවත්, මැල් කිවත්, පීරිස් කිවත් හැම පෙලපත් නමකින්ම කියවෙන්නෙ වහල් ඉතිහාසයේ කතන්දරයකුයි. මේ පෙලපත් නම්වල සැබෑ උරුමක්කාරයො තමන්ගෙ පෙලපත් නම් අප්‍රිකාවෙ ආසියාවෙ හා ලතින් ඇමරිකාවෙ පෘතුගීසි කොලනිවල වහල්ලු භාවිතා කිරීම ගැන සතුටු වෙනව. සමහරවිට ඔවුන් පුරසාරම් දෙඩවනව. යටත් විජිත වාදය කියන්නෙ නරක දෙයක් විදියට හැඳින්වූවාට අපේ පවුල්වල ප්‍රභූන් මේ කොලනි වලට ගිහිල්ල බොහොම වැඩ කරල තියෙනව. ස්වදේශිකයන්ව ශිෂ්ටාචාර කරල තියෙනව. ඔවුන්ට ආගම ධර්මය කියාදීල ඇඳුම් පැළඳුම් අඳින හැටි උගන්නල උයා පිහාගෙන කෑම කන හැටි තෙමෙන්න නැතිව වහලක් යට ජීවත්වන හැටි උගන්නල පුහුණු කරල තියෙනව. එම නිසා තම ස්වාමින්ට කරන ගරු සත්කාරයක් වශයෙනුයි අපේ කොලනිවල අපේ වහල්ලු මේ විදියට අපේ පෙලපත් නම් අදටත් භාවිතා කරන්නෙ. කෝ වෙනත් ජාතිකයන්ගෙ කොලනිවල මේ වාගෙ දෙයක් සිද්ධ වෙලා. ඔවුන් කියනව. වරක් මේ කථාව මගෙන් අහපු බ්‍රසීල ජාතිකයන් පිරිසක් කොයි තරම් කෝප වුනාද කිව්වොත් ඔවුන්ගෙ පෘතුගීසි වාසගම් අත්හැරිය. එච්චර කල් භාවිතා කල මැලෝ, පිනා පෘතුගීසි වාසගම් වලින් ඌරන්ට බල්ලන්ට කථා කරන්ඩ ගත්ත.''

ලන්දේසි ජාතිකයෙකුගෙ වචනයක් සිංහලයින්ට නමක් වෙච්ච හැටි කියවෙන ලස්සන කථාවක් මෑත දවසකදී බර්ලින් නුවර ජීවත්වන ලාංකිකයෙකු ගෙන් අහන්ඩ ලැබුණා. කියියම

ව්‍යාපාරික අවශ්‍යතාවයක් සඳහා බර්ලින් නුවරට පැමිණි අලස් නමැති ශ්‍රී ලාංකික මහත්මයෙකුව ඔවුන්ට හඳුනා ගන්ට ලැබුණා. පිළිසඳරේ යෙදුන අවස්ථාවක ඒ මහතා අලස් නමේ පුරාවෘත්තය කිව්ව. එය මෙහෙමයි. අලස් කියන නම අහපු ලංකාවෙ සුළු ජාතිකයින් පිරිසක් හිතුවෙ අලස්ල සිංහලයො නෙමෙයි තමන්ගෙ සුළු ජාතික කණ්ඩායමට අයිති පිරිසක් කියලයි. එම නිසා තමන් හා හවුල් වෙන්නැයි ඔවුන් අලස්ලට කිව්ව. ඒත් අලස් පරම්පරාවෙ ජේරම සිංහල බෞද්ධයොයි එම නිසා අලස් පරම්පරාවෙ අය හිතුව අලස් වාසගමේ සුළමූල හොයගන්ඩ. එතනදී දැනගත්ත ලන්දේසින්ට කොළඹ ප්‍රදේශය යටත් වෙලා තියෙන කාලෙ කොළඹ හිටියලු සිංහල කණ්ඩායමක්. විජේසුන්දර කියන වාසගම තියෙන මේ කණ්ඩායමේ පවුල් කිහිපයටම හිටියෙ එකම පිරිමි දරුවලු. දිනක් ලන්දේසි ආණ්ඩුකාරයා විජයසුන්දර පවුලේ අය හමුවූ තැනකදී මේ පිරිමි දරුවා හඳුනා ගෙන කිව්වලු ආ එහෙනම් ඔබ විජයසුන්දර පරම්පරාවට ඉන්න එකම පිරිමියා නේද කියල. ඒ කථාවෙදි ඔහු අලස් කියන වචනය පාවිච්චි කළාලු. අලස් කියන වචනයෙ අර්ථය එම වචනය නිතරම භාවිතා කරන ජර්මනයේ ඉන්න ඔබලා දන්නව. සියල්ලම (ඔක්කොම) යන අර්ථය දෙන අලස් යන වචනය මේ රටේ භාවිතා කරන අතර එය ඕලන්දයේත් ඉතා ජනප්‍රිය වචනයක් වෙනව. කොහොම හරි එදා පටන් අර විජේසුන්දර තරුණයාව හැඳින්වීමේදී අලස් යන නමත් ඔහු සඳහා භාවිතා කර තිබෙනව. නව පරම්පරාවක් යද්දී විජයසුන්දරල අලස් කියන නමත් තම පරම්පරාවට ලැබුණ නමක් ලෙසින් යොදා ගත්ත. ඊටත් කලක් යනවිට විජයසුන්දරල තම පෙලපත් නාමය ඉවත දමල අලස් කියන නම පෙලපත් නම කරගත්ත.

කොච්චර ගරු සරු ඇතිව කිව්වත් අලස් කියන්නෙ පෙලපත් නමක් නෙමෙයි. ලන්දේසිකාරයෙකුගෙ කටින් පිටවුන ඇනුමක් වැනි වචනයක්. ඒත් අලස්ලට තිබුණ විජයසුන්දර කියන ගෞරවනීය පෙලපත් නාමයක්. මේක තමා වහල් කම කියන්නෙ. වහලා තම ස්වාමියාට භක්තිවන්ත වෙනව. ඒ වහල් චින්තනය පරම්පරා වලට ගිගිල්ල ජනකානු ගත වෙනව. ඒ නිසා තමයි අදටත් යටත්විජිත වාදින්ට විජිතවල ජනයා වඳින්නෙ පුදන්නෙ.

අලස් නම විදේශීය ආණ්ඩුකාරයෙක් නිසා හැදුන එකක් වගේම කරාව කුලය පෘතුගීසී විසින් හදපු කුලයක්. එම කුලයේ උපත ගැන කථා කරද්දී සලාගම නමින් හඳුන්වන කුලයේ ආරම්භය ගැනත් බිඳක් හෝ සාකච්ඡා කළ යුතුයි ඊට හේතුව මෙබඳු කුලයක් පටන් ගන්නෙත් පෘතුගීසින් මුහුදුබඩ පලාත් යටත් කරගත් පසුව නිසයි. පෘතුගීසින් තමන්ට යටත් කර

ගැනීමට ලැබුණ ධාරාව යන පොදු නමකින් ඔවුන් විසින් හඳුන්වනු ලැබූ සිංහලයින්ව බලකොටු ගම් තුළ ඕර කරමින් ඔවුන්ව ප්‍රවේණි දසයින් කාලහැපි ඉහතින් පෙන්වා දුන්නා. මේ විදියට ඔවුන්ට හසුවුන සිංහලයින් අතර ඉතාම වැඩි පිරිස සිංහල වෙළඳ ශ්‍රේණියට අයත්වූවන් බව කිව. වෙළඳ ශ්‍රේණියෙ උප ශ්‍රේණි ගණනාවක් පැවතුනා. ඉන් එකක් තමයි පේශකාර්මිකයෝ. ආදි පුරාණයේ පටන්ම තම්බපණ්ණිය කියන දේශය රෙදි විවීමට ඉතා ප්‍රසිද්ධවුනා. ඊට කලකට පසුව සිංහල සළු කියන රෙදි වර්ගය බොහොම ඉහල සළු වර්ගයක් ලෙසින් ඉන්දියාව, පර්සියාව ආදී රටවල පවා ප්‍රසිද්ධවෙලා තිබෙනව. අප දන්නව විජය කුමාරයගෙ කථාව. රෙදිවිවීම ගැන ජාත්‍යන්තර කීර්තිය දිනූ කාලිංගයෙනුයි විජය කුමාරය ආවෙ. ඔහුට තම්පපණ්ණියෙදී මුලින්ම හඳුනාගන්ඩ ලැබුණේ කුවේනි කියන තරුණියවයි. කපුකටිමින් සිටිද්දි ලු විජය ඇය සිටි තැනට ආවෙ.

තම්බපණ්ණියෙ ඓතිහාසික පේශකර්මාන්තය සිංහලයො බොහොම දියුණු කළා. සිංහල සළු ඉතා වටිනා රෙදි වර්ගයක් වශයෙන් ජාත්‍යන්තර ප්‍රසිද්ධිය දිනා ගැනීමට පවා සමත් වුනා. සිංහල සළු පර්සියාවෙ, ඉන්දියාවෙ, ජාවා රටේ රජ පවුල් වල ඇල්ම ඇතිකරගත් රෙදි වර්ගයක් වුනා. මේ විදියට රෙදි විවීමෙ කටයුත්ත කළ සිංහල ශිල්පිය ශ්‍රේණිය කපු වැවීම, නූල්කැටීම ආදී කාර්යයන්හිද යෙදුනා. විශේෂයෙන්ම මුහුදුබඩ ප්‍රදේශවල පදිංචිව සිටි සිංහල පේෂ කාර්මික ශිල්පින් පෘතුගීසීන්ට හසුවුනා. පෘතුගීසින් ඔවුන්වද බලකොටු ගම් ඇතුලෙ ප්‍රවේණි දසයින් බවට පත්කළා. එපමණක්ද නොවෙයි ඔවුන්ව සම්ප්‍රදායික වෘත්තියෙන් ඉවත් කරල වෙනත් වෘත්තීන්හි යෙදෙව්ව ඒක තමයි කුරුඳු වැවීම හා කුරුඳු තැලීම. නමුත් කුරුඳු තැලීමට යෙදවූ සැමවාම පේෂකර්මාන්ත ශ්‍රේණියෙ සිටි සිංහලයොයි ඉන් කියන්නේ නැහැ. නාවිකයො, වෙළඳ ශ්‍රේණියෙ උප කුලවල සිංහලයොත් එම කර්මාන්තයේ යෙදෙව්ව. එතනදි කුරුඳු කර්මාන්තයට යෙදවූ පිරිසෙන් ඉතා වැඩි කොටස පේෂ කාර්මික ශ්‍රේණියට අයත්වූ සිංහලයොයි. පෘතුගීසි කාරයො කුරුඳු කර්මාන්තයෙ යෙදවූවන්ට විශේෂ වාසගම් දුන්නෙ නැහැ. අනෙකුත් සිංහලයන්ට වාගෙම කුරුඳු තැලවීමේ යෙදෙව්වත් හඳුන්වල තියෙන්නෙත් ලේඛණගත කරල තියෙන්නෙත් බලකොටු භාර පෘතුගීසි නිලධාරීන්ගෙ නම් යටතේයි. නමුත් මෙතනදි අපූරු ස්වභාවික සිදුවීමක් වෙලා තිබෙනව. පෘතුගීසි භාෂාවෙන් මෝස්තර හදන්නන්ට නැතිනම් මල් බෝඩර වැනි දේට සිල්වා කියනව. එය සිල්වා කියන පෙලපත් නමට වඩා වෙනත් අර්ථයක්

දෙනව. නමුත් එකම විදියටයි සිල්වා යන වචනය ලියන්නේත් ව්‍යවහාර කරන්නේත්. බලකොටු ගමේ සිල්වා වංශාධිපතියගෙ වහලුන්වූ පේෂ කාර්මිකයො මෙබඳු මල්ලියකම් වැඩ වලට දක්ෂයොවී සිටිය. එමනිසා පේෂ කර්මාන්තයේ යෙදී සිට පසුව කුරුඳු කර්මාන්තයේ යෙදූ විශාල පිරිසකට සිල්වා පෙලපත් නම වැටීම ස්වභාවික සිදුවීමක් මෙන්ම ආශ්චර්යමත් සිද්දියක් වෙනව; සිංහල පේෂ කාර්මිකයන්ට සිල්වා පෙලපත් නම පට බැඳෙන්ට පෙර ඉතා අගේ ඇති සිංහල පෙලපත් නම් තිබුණ බවට කිසිම සැකයක් නැහැ. ඒ ඔවුන් ඉතාම කීර්තිමත් වෘත්තියක යෙදී සිටි පිරිසක් නිසයි.

සිංහල ශ්‍රේණි සම්ප්‍රදායට සලාගම යනුවෙන් කිසිම ශ්‍රේණියක් තිබිල නැහැ. එමනිසා සලාගම නමින් කුලයක් හැදුනෙ පෘතුගීසි පාලනයෙ ප්‍රතිඵලයක් බවට තර්කයක් නැහැ. සලාගම නමින් කොට්ටල් බද්දක් නම් තිබුණ. සලාගම, බත්ගම ආදීවූ කොට්ටල් බද්දවල් මගින් ඒ ඒ ශ්‍රේනි වල විද්‍යාර්ථීන්ට විශේෂඥ දැනුම ලබා දුන්න. අද හලාවත නමින් හඳුන්වන නගරය ඉස්සර පේෂ කාර්මිකයන්ගෙ මහ කොට්ටල් බද්දයි එම කොට්ටල් බද්ද විසින් තමයි මූලසෝම විහාරය නඩත්තු කලේ. එදා මූලසෝම විහාරය රට රට වල කීර්තිය පැතිරවූ මහායාන මූලස්ථානයක්. හලාවත මුන්නේශ්වරම දේවාල සංකීර්ණය ඇතුළු මූලසෝම විහාරයට අයිති භූමිසීමා සියල්ලම අද බෞද්ධයින්ට අහිමියි. අදටත් ගාඩි ලඳුන් ගායනා කරන දූක්මුලා ගී වල මූලසෝම විහාරයට දඹදිව වජ්‍ර පර්වත විහාරයෙන් ධර්ම ධාතු නමැති මහායාන සූත්‍රය වැඩමවීමේ ඉතිහාසය කියවෙන කවි අහන්ට පුළුවන්.

බුද්ධරත්න වැඩ හිඳිනා නිවන් පුරෙන්
ධම්ම ධාතු වැඩියා වජ්රා පව්වෙන්
නිවන් මඟට මඟපෑ මහනුවන් තොටින්
මූලසෝම එති රොඩියෝ දූදුරු ජතාවින්

කුරුඳු තැලවීමේ යොදවපු සිංහලයින්ව සලාගම නමින් කුලයකට ඇතුල් කල පෘතුගීසින් ඔවුන්ව ලබ්ධියට ඇතුල් නොකලේ මන්දැයි මෙතනදී ප්‍රශ්නයක් මතුවිය හැකියි. කරාව නමැති කුලයට අයත් වූවන් වැඩි දෙනා කතෝලිකයන් බව ඔබලා සඳහන් කලා. කරාව වංශයකට ගොනුකළ සිංහලයන් මෙන්ම සලාගම වංශයකට ගොනුකල සිංහලයන්ද පෘතුගීසි ග්‍රහණයට හසුවී කතෝලිකයින්වී ඇවිය. එපමණක්ද නොවෙයි සලාගම නමින් හඳුන්වන කුලයේ සාමාජිකයින් ඉතාම වැඩිදෙනෙක් අදටත්

භාවිතා කරන්නෙ පෘතුගීසි වාසගම් නැතිනම් පෙලපත් නාම බව රහසක් නොවේ. එහෙමනම් සලාගම වංශිකයන් බෞද්ධයින් වූයේ කොහොමදැයි ප්‍රශ්නයක් ඇති වෙනව. එය සිදු වූයේ මෙහෙමයි.

පෘතුගීසින් තම ග්‍රහණයට හසුකර ගත් සිංහලයින් අතරින් සිංහල ප්‍රභූන් ස්වල්පයකට හෝ විශේෂ වරප්‍රසාද දෙමින් ඔවුන් සිය අන්තේවාසිකයින් කරගැනීමට සමත්වුනා. මේ අයුරින් පෘතුගීසින්ට විශේෂයෙන්ම පාදිලිවරුන්ට බාලකාලයේදීම හසුවුන රාජ වංශික කුමර කුමරියන් කිහිප දෙනෙකුගේ නම් හෝ දොන් ජුවන්, දොන් ජෝන්, දෝන කතිරිනා ආදී කීර්ති නාම සමග දොන් ජුවන් ධර්මපාල. දොන් ජෝන් යමසිංහ බණ්ඩාර, දෝන කතිරිනා කුසුමාසනදේවි ආදී වශයෙන් ප්‍රසිද්ධියට පත්වෙලා තියෙනව. මෙපරිද්දෙන්ම සෙනවියන් කිහිප පොලකගේම සහ වෙළඳ ශ්‍රේනි නායකයින් කිහිප දෙනෙකුගේම දරුවන් තමන්ගේ භාරයට ගැනීමට පාදිලිවරු සමර්ථ වුනා. සමහර විට ඔවුන් උසස් අධ්‍යාපනය සඳහා ගෝවට යැව්ව. කිහිප දෙනෙක් ලිසබොන් වලටත් යවල තියෙනව. මේ අයුරින් පෘතුගීසි පාලන තන්ත්‍රය ඇතුලෙ පෘතුගීසින්ට ඉතා පක්ෂ සිංහල ප්‍රභූ පැලැන්තියක් ඇතිකර ගැනීමට පෘතුගීසින් දක්ෂ වුනා. මොවුන් සමහරෙක් පෘතුගීසි නියෝජිතයින් ලෙසින් සිංහල රාජ්‍යයට ගොස් වෙළඳ බඩු රැස්කිරීමේ යෙදුන වෙළඳුන් ලෙසද කටයුතු කර තිබෙනව.

පෘතුගීසින්ට ඉතා පක්ෂවුන, පෘතුගීසි පාර්ශවය වෙනුවෙන් ලංකාවට, සිංහල ජාතියට, බුද්ධාගමට බොහෝ විපත් කල, ඒනිසා බොහෝ තානාන්තර, නින්දගම් හා වරප්‍රසාද ලබාගැනීමේ සමත්වූ පෘතුගීසි බලය ලංකාවේ තහවුරු කර දෙමින් පෘතුගීසින්ගෙන් පෝෂණයවූ මෙම සිංහල ප්‍රභූන් වැඩිදෙනා අයිති වුනේ සලාව නමින් හැඳින්වූ අභිනව වංශයටයි. ඔවුන් ලංකාවෙන් පෘතුගීසි බලය බිඳ වැටුන පසුව වත් පෘතුගීසින්ට දක්වූ පක්ෂපාතී බව අනහැර දැම්මෙ නැහැ. අඩු වශයෙන් ඔවුන්ගෙන් ලබාගත් කතෝලික ආගම වත් රැකගැනීමේ බලවත් උත්සාහයක යෙදුන. දකුණු ඉන්දියාවට දූතයෝ ඇරල තම ප්‍රදේශ වල කතෝලික ආගමික කටයුතු කිරීම සඳහා පාදිලිවරු ගෙන්නුව. මේ අවදියේ පෘතුගීසින් අල්ලාගෙන සිටි ප්‍රදේශ අත්පත් කරගෙන සිටි ලන්දේසින් කතෝලික ආගමිකයන්ට විරුද්ධව දැඩි ප්‍රතිපත්තියක් ගෙනගියා. නමුත් ලන්දේසින් සමග අමනාපකම් ඇතිකර ගෙන සිටි සිංහල රජතුමා පීඩනයට පත්වෙච්ච කතෝලිකයන්ට ආරක්ෂා කිරීමට මහන්සි ගත්ත. සමහරුන්ට විශේෂයෙන්ම පෘතුගීසින්ට [illegible] හැඳිහිටි සිංහල පෘතුගීසින්ට කන්ද උඩරට රාජධානියට

ගෙනත් වහකෝට්ටේ ප්‍රදේශයේ පදිංචි කෙරෙව්ව. මුහුදුබඩ ප්‍රදේශ වල බලවත්ව සිටි පෘතුගීසි ගැති සිංහල නායකයින් සිංහල රජුගේ ආධාර ලබා කතෝලික ආගමික කටයුතු කිරීම සඳහා දකුණු ඉන්දියානු පාදිලිවරු ගෙන්නුව. මහාචාර්ය සුනිල් ආරියරත්න ලංකාවට බුද්ධාගම ගෙනා මහා මහින්ද හාමුදුරුවන්ට සමාන කරන ඒත් ඉන්දියානු ඉතිහාසයට අනුව උපන්ගෙයි පෘතුගීසි ගැත්තෙකු හා දේශ ද්‍රෝහියකුවූ ජාකෝම් ගොන්සාල්වේස් මේ ලෙසින් ලංකාවට ගෙන්වූ එක් පාදිලිවරයෙකුයි.

පෘතුගීසි ලංකාවේ නැගත් පෘතුගීසින් විසින් ඇති දුඩිකර සිටි මුලින් කී සිංහල ප්‍රභූ පිරිස වංශාධිපතීන් ලෙසයි කටයුතු කර ඇත්තෙ. ඔවුන්ට දුඩි අවනත භාවයකිනුයි සාමාන්‍ය වැසියා ජීවත්වී තිබෙන්නෙ. එමනිසා ඔවුන්ගේ ප්‍රදේශවල ජනයා පෘතුගීසින් ලංකාවෙන් ගියත් සිංහල පෘතුගීසින්ගේ ග්‍රහණයට හසුවී සිටිය. මීට වඩා වෙනස් දෙයක් සලාගම නමින් හැඳින්වූ ජනයා අතර සහ පහතරට මුහුදුබඩ ප්‍රදේශයේ සිදු වුනා. පෘතුගීසින්ට අවනතවී ඔවුන් වෙනුවෙන් මහත් අපරාධ කළ සිංහල නායකයින් පිරිසක් කල් පසුවී හෝ යතාර්ථය තේරුම් ගෙන පෘතුගීසින්ට විරුද්ධව නැගී සිටිය. පෘතුගීසින්ව ලංකාවෙන් එලවා දැමීමට ප්‍රබල ව්‍යාපාරයක් ආරම්භ කළා. එම කැරැල්ලේ නායකයකු වූ එදිරිල්ලේ රාල පිළිබඳව තොරතුරු යන්තමින් හෝ ප්‍රසිද්ධියට පත්වී තියෙනව. එදිරිල්ලේ රාල නමින් සිංහල බෞද්ධයකුව සිංහලේ නිදහස් සටනකට නායකත්වයක් දුන්නේ කාලයක්ම පෘතුගීසින්ට ඉතා විශ්වාසවන්තව සේවය කළ දුමින්ගෝ කොරයා නම් කතෝලික කරාව වංශයට අයත්කර සිටි සිංහලයායි. ඇත්ත තේරුම් ගත්තේ දුමින්ගෝ කොරයා පමණක් නොවේ. ඔහුට තවත් සිංහල නායකයින් ගණනාවක් එකතුවුනා. ඒ හැම කතෝලික ආගම හා පෘතුගීසි නම ඉවතලා සිංහල බෞද්ධයින් වශයෙන් ඉදිරිපත් වුනා. මේ විදියට ඇතිවූ පෘතුගීසි පාලනයෙන් ලංකාව බේරා ගැනීමේ කැරැල්ලේ ප්‍රධාන දායකයින් වුනේ කුරුදු තැලීමේ කටයුත්තෙ යෙදවා සිටි වහල්ලුයි.

එදිරිල්ලේ රාළලා මෙහෙයවූ නිදහස් සටන පෘතුගීසි බලයට විශාල තර්ජනයක් වුනා. ඔවුන්ට ලංකාව බේරා ගැනීමට නොහැකි වුනේ කරාව නායකයින් පිරිසක් තවදුරටත් පෘතුගීසි පාර්ශවයේ සිටිය නිසයි. එදිරිල්ලේ රාළලා කැරැල්ලෙන් පරාජය වුවත් ඔවුන් වෙනත් විදියක ජයග්‍රහණයක් ලැබුව. ඒක තමා සලාගම නමින් හැඳින්වූවන් පෘතුගීසි ග්‍රහණයෙන් මුදවා ගැනීම. මිනනාරි බලයෙන් මුදවා ගැනීම, කුරාව නමින් හැඳින්වූ පහතරට සිංහලයින් විශාල පිරිසක් බේරා ගැනීමටද ඔවුන් සමත් වුනා. ඉදිරියට තැවිතන් ඒ

පිරිස් තම ග්‍රහණයට හසුකර ගැනීමට පෘතුගීසින්ට හෝ ඕලන්දා-රින්ට නොහැකි වුනා. කන්ද උඩරට රජතුමා පෘතුගීසි පාලනයෙන් රට බේරා ගැනීම සඳහා බලවත් ප්‍රයත්නයක් දැරුව මේ කාලෙ තමයි ලන්දේසින් ලංකාවට ආවෙ. එතනින් ලංකාවෙ පෘතුගීසි පාලනය ඉවර වුනා.

පෘතුගීසින් එදිරිල්ලේ රාලලා මෙහෙයවූ කැරැල්ල මර්දනය කිරීමේදී කළ කුරිරුකම් අප්‍රමාණයි. කැරලිකරුවන් විශාල පිරිසක් මරා දැම්ම. ඒ විදිහට විශාල පිරිසකගේ ජීවිත පරිත්‍යාගයෙන් විජිත වාදින්ගෙන් ගලවා ගත් සලාගම සහ කරාව යන නම් වලින් හැඳින්වූ සිංහලයින් රටේ ජාතික හා ආගමික පුනර්ජීවන ව්‍යාපාරයක යෙදෙන්ට ගත්ත. එය වෙන දිනයක සාකච්ඡා කළයුතු මාතෘකාවක්. විජිතවාදින්ගෙ ග්‍රහණයට හා ඕලන්දාරින්ගේ බලයට හසුවූ ලංකාවේ බුද්ධාගම සහ සිංහල සංස්කෘතිය යළි ගොඩ නැංවීමේ ප්‍රයත්නවී ඇත්තේ සලාගම සහ කරාව යන නම් වලින් හඳුන්වන්ට ගත් පැරණි වෙළඳ ශ්‍රේණියට අයත්වූ සිංහලයෝයි. අදටත් ලංකාවේ සිංහල සංස්කෘතිය හා බුද්ධාගම වෙනුවෙන් ඇප කැපවී වෙහෙසෙන්නෝ වශයෙන් මොවුන්ගේ ඇති වටිනාකම වචනයෙන් විස්තර කර දැක්විය නොහැකියි. සිංහල ශිල්පීය ශ්‍රේණි ක්‍රමය නැති භංගකර දැමීමෙ බ්‍රිතාන්‍ය විජිත වාදින් සිසිනුයි. 1817-18 කැරැල්ලෙන් පසුව සිංහල සමාජයේ අරටුව කුමක්දැයි වටහාගත් විජිත වාදින් එම අරටුව නසා දැමීම සඳහා සමාජ ආර්ථික ප්‍රතිසංස්කරණයක් කිරීමට අදහස් කළා. ඒ සඳහා අප්‍රමාදව කටයුතු කරන්නැයි බ්‍රිතාන්‍ය යටත් විජිත භාර ලේකම්ට දැන්නුව. ඔවුන් ඩබ්ලිව්. ඇම්. ජී. කෝල්බෘක් නැමති කෙරාටික නිලධාරියව ලංකාවට එව්වෙ ඒ සඳහායි. සිංහල සමාජ ආර්ථික සංවිධානය ගැන සියුම්ව පරීක්ෂා කළ කෝල්බෘක් සිංහල ආත්මය බිඳීම සඳහා ගතයුතු මග යෝජනා රැසක් ලෙසින් ඉදිරිපත් කළා. ලංකාවෙ පාසල්වල, විශ්ව විද්‍යාල වල දේශපාලන විද්‍යා ආචාර්ය වරුන්ගෙ පොත්වල කෝල්බෘක් ප්‍රතිසංස්කරණ නැමති අලංකාර වචන වලින් පව්ටා ගසා ඇත්තෙ කෝල්බෘක්ගේ ජඩ යෝජනා සංග්‍රහයයි. නමුත් යටත් විජිත අධ්‍යාපනයෙන් ජරාවී ගිය මොලගෙඩි ඇති උගතුන් කිසිවෙකු කෝල්බෘක් කවුද ඔහු ලංකාවට ආවෙ කුමකටද ඔහුගේ යෝජනා වල පරමාර්ථය මොකක්ද යන කාරනා දැක නැහැ. එමනිසා කෝල්බෘක් ලිබරල් වාදියෙකි, ප්‍රතිසංස්කරණ වාදියෙකි, වර්තමාන පාර්ලිමේන්තු ප්‍රජාතන්ත්‍රවාදයේ අඩිතාලම සකස් කළ පුද්ගලයාය, ලංකාවෙ වැඩවසම් සමාජ ක්‍රමය නසමින් ධනේශ්වර සමාජ ක්‍රමය බිහිකිරීමේ මූලික පියවර තැබූ නීතිඥවදියා ආදිවූ කුණු හරුප ලියා තියෙනව. මේ බොගල් විශ්ව විද්‍යාල, ගුරු විද්‍යාල හා පාසැල් වල උගන්වනව, [illegible] කරනව,

උඩරට කැරැල්ලෙන් පසුව බ්‍රිතාන්‍ය බලය තහවුරු කරලීම සඳහා ආණ්ඩුකාරයාට උපදෙස් සැපයීමට ක්‍රිස්තියානි පාදිලිවරු ප්‍රසිද්ධියේම ඉදිරිපත් වුනා. ඔවුන් පෘතුගීසි පූජකයින්ගේ කටයුතු අධ්‍යයනය කරමින් විජිත ක්‍රමය තහවුරු කිරීම සඳහා අධ්‍යාපනය යොදා ගැනීමේ වැදගත්කම ආණ්ඩුකාරයාට පෙන්නුව, බැප්ටිස්වරු ප්‍රසිද්ධියේම කියා සිටිය බැප්ටිස් අධ්‍යාපන කටයුතු වල පරමාර්ථය බෞද්ධයින්ව ක්‍රිස්තියානියට හැරවීමයි කියල. මිෂනාරීන් අධ්‍යාපනය අරක් ගත්තා. ඊලඟට සිංහල ශිල්පීය ශ්‍රේණි ක්‍රමය වඳකිරීම සඳහා ප්‍රබල චින්තන ව්‍යාපාරයක් ඇරඹුවා. එහි එක් අංගයක් වුනේ සිංහල ශ්‍රේණි සහ ශ්‍රේණි නායකයින් නින්දාවට ලක්කිරීමයි. අනික් පැත්ත සිංහල ශ්‍රේණි ක්‍රමය කුල ක්‍රමයක් බවට පත්කරමින් සිංහල සමාජය බෙදීමයි.

දැන් යටත් විජිත සමයේ පාසැල් වල අධ්‍යාපනය ගැන ටිකක් උනන්දුවිය යුතුයි. අපගේ මාතෘභාව වටහා ගැනීම සඳහා යටත් විජිත සමයේ පාසැල් පොත් වලින් උගන්වා ඇති ජනකථා පිළිබඳව බිඳක් සොයා බැලීම ප්‍රමාණවත් වෙනව. මහ දැනමුත්තා කථාව තොවිලය හෙවත් ග්‍රාමණීය සභාව නින්දාවට ලක්කිරීම සඳහායි ඉදිරිපත් කර තියෙන්නෙ. එහි නායකයා හෙවත් මහ දැනමුත්තා ගමේ නායකයා හෙවත් ග්‍රාම සභාවේ නායකයාවූ ගමරාලගේ චරිතයයි. මේකථා දකුණු ඉන්දියාවේ පංචායත් සභාවලට ගැරහීම සඳහා මහ ගුරුවින් කථා නමින් මුලින්ම දකුණු ඉන්දියාවේ භාවිතා කර තියෙනව. දැන් මහ දැනමුත්තා කථාවක් බලමු. දවසක් ගමේ කකා ඇවිදින එළුවෙක් මුට්ටියක ඇති යමක් දැක එය කෑම සඳහා මුට්ටියට හිස එබූවිට එළු හිස මුට්ටියේ හිරවුනා. මුට්ටිය නොබිඳ එළු හිස ඉවත් කරගැනීමට අවශ්‍යවූ නිසා මුට්ටිය හිමිකාරයා මහ දැනමුත්තාව කැඳවාගෙන ආව. මහ දැනමුත්තා එළුවාගේ බෙල්ල කපන්නැයි උපදෙස් දුන්න. ඊළඟට මුට්ටියට වැටුණු එළුහිස ගැනීමට මුට්ටිය බිඳීමට මුට්ටිය හිමිකරුට සිදුවුනා.

දැන් මේ කථාව ගැන උනන්දු වෙන්න. ඉස්සර ලංකාවේ කිසිම සිංහල ගමක ගැමියෝ එළුවෝ ඇති කරල නැහැ, එළුවෝ තියා කුකුල්ලු ඇති කළේ වත් නැහැ. මසට සතුන් ඇතිකිරීම සිංහලයින්ට ඉගැන්නුවේ පෘතුගීසි ජාතිකයෝ විසිනුයි. ඌරා යුරෝපියයගෙ සෞභාග්‍ය සංකේත කරන උත්තම සත්වයායි, එම නිසා විජිතවාදියා ගියේ කොතැනද මිෂනාරියා ඇතුල්වුනේ කොතැනටද එතනට ඌරාව අරගෙන ගියා. එදා පෘතුගීසින් හඳුන්වා දුන් මසට සතුන් ඇති කිරීම රට ඇතුලේ සිංහල බෞද්ධ ගම්වලට යොනයින්ගේ විද්‍යාත්මක කෘෂිකර්මය නම්වූ අපරාධකාරී ව්‍යාපාරය මගිනුයි. විද්‍යාත්මක කෘෂිකර්මය නමින් ලංකාව වැනි රටවල

ක්‍රියාත්මක වන ව්‍යාපාරය ඇමෙරිකාව සහ යුරෝපය හවුලේ සංවිධානයකළ ක්‍ෂුද්‍ර ව්‍යාපාරයක් වෙනම, සම්ප්‍රදායික කෘෂිකර්මය විනාශකිරීම, පස නිසරු කිරීම, බඩගින්න හා දිළිඳුකම පැතිරවීම එහි මූලික පරමාර්ථයයි. ඒ ජරා කෘෂිකර්ම ව්‍යාපාරය යටත් විජිත පාලකයින් විසින් රටේ බලයට පත්කළ පාහර දේශපාලනඥයින් හිස් මුදුනේ තබා බාරගෙන තිබෙනව,

මහ දූනමුත්තා ආවගැටිෂය උපදෙස් දෙන්නෙ එළුවගෙ බෙල්ල කපන්නයි, ඉස්සර සිංහලයො ප්‍රාණ ඝාත කලේ නැහැ. විද්‍යාත්මක කෘෂිකර්මයෙන් තමා සිංහල බෞද්ධයාව ප්‍රාණ ඝාතයට යොමු කලේ. පැරණි සිංහල ගම්වල වස ඇඹරීම තහංචියක්. ඒ තහංචිය කඩකලා නම් තොවිල් පහ තහනම් කිරීමට තරම් වරදක් වුනා. අද හැම ගොවියෙක්ම කුඹුරට බහින්නෙ වස කුප්පිය අරගෙනයි. කුඹුරු හාන්නෙ නැතිව ග්‍රාමැක්සෝන් ගහනව. වී ඇටේ ඉහපු දවසෙ පටන් කුඹුරට වසම ඉසිනව, මහ පොළවට, ජලයට, සත්වයාට, ගමට තියා දරුපවුලට වත් ආදරය නොකර වසම ඉහිනව. වැඩි අස්වැන්න ලබන්ඩ කියල කෙතට, ශාකයට වස ඉසිනව. මේ වස නිසා තමන්ගේ ධාන්‍යාගාරයවූ ප්‍රජාවෙන් පිරි කුඹුර, ජල මාළු සහ ජල උල්පත්, පරිසරය විනාශවෙන බව ඔහුට පෙනෙන්නෙ නැහැ. දරු මුනුබුරෝ ලෙඩවෙන බව ඔවුන්ගෙ ආයු පිරිහෙන බව එමනිසාම තම පවුල දිනෙන් දින දිළිඳු වෙනබව තේරුම් ගැනීමට ශක්තියක් ඔහුට නැහැ, රසායනික ද්‍රව්‍ය අලෙවි කරන වෙළඳ සමාගම් ගොවියාව උමතුකර තිබෙණව, මේ සමාගම සියළුම ජන මාධ්‍යයන් අත්අඩංගුවට ගෙන තම වැඩේ කරනව, ආණ්ඩුවේ අධ්‍යාපනයට තමන්ගෙ නිර්දේශ ඇතුලත් කරල දරුවන්ව නොමග යවනව. ඒ අතර යුරෝපයේ රටවලත්, ඇමරිකාවේත් රසායනික නාශක වර්ග භාවිතා කිරීම හා රසායනික පොහොර පාවිච්චි කිරීම වැලැක්වීම සඳහා ජන මතයක් ගොඩ නංවනවා, රසායනික වස විසට හසුනොවන වට පිටාවක් පිළිබඳව ඉගැන්වීම පාසැල් හා විශ්ව විද්‍යාල පාඨමාලා වලට ඇතුලත් කරල තිබෙනව. වෙනත් ලෙසකින් කීවොත් යුරෝපය සහ ඇමෙරිකාව පමණක් සැපසේ ජීවත්වීමට සූදානම් වෙනව.

මහ දූනමුත්තා සිංහල සමාජයට ගෙනත් අත හැරිය කතාන්දර බිස්සක් බවත් ඒව දකුණු ඉන්දියාවෙ මහ ගුරුවින් කථා නමින් පතුරුවා තිබුණ වගත් පෙරදී කීවා. කාලයක් දිවයින ඉරිද සංග්‍රහය වීකාගේ අටුවාව නමින් ඉතා අගය ඇති ලිපි සංග්‍රහයක් පළකලා, ඉන් එක අටුවාවක සඳහන්කර තිබුණ මහදූනමුත්තා කල්ලතෝනියෙක්, පූවක් බඩිල්ලා, රබබඩ අයියා, කෝටු කිහාසියා, පෝල්බෑ මූණා, ඉදිකටු පැංචා තිගන ගෝල බාලයෙක්

කල්ලතෝනි කල්ලිගෙ අගයි කියල. එම කීගමනාට හේතු දක්වන අටුවා රචකයෙ විස්තර කරදීල තිබුණේ මෙම කථා දකුණු ඉන්දියාවෙ පරමාර්ථගුරු පත්කථෙදෙ නමින් පැවැති ඇති වගයි. දකුණු ඉන්දියාවෙ ගිටපු කොන්ස්ටන්ටයින් බෙස්කි කියන පියනම එම කථා ප්‍රංශ භාෂාවටත් පරිවර්තනය කරපු විත්තිය ඇතුළු මහ දනමුත්තා කථා ඉතිහාසයේ ඒ විස්තර දේව ධර්මාචාර්ය එඩ්මන්ඩ් පීරිස් රදගුරු තුමා විසින් හෙළිදරව් කළ බවත් එහි විස්තර වුනා. නමුත් අප දන්නා තොරතුරු අනුව නම් මහ දනමුත්තා කථාවේ මුල අරාබියයි. ඒව යුරෝපයට ආව, මිෂනාරීන් දකුණු ඉන්දියාවෙ පංචායත් සභා නමැති පාලන සභා විශේෂය අවමානයට ලක් කිරීමට එම කථා යොදා ගත්ත, පංචායත් සභා සහ සිංහලයන්ගෙ ග්‍රාම සභාවවූ තොවිලය අතර අහසට පොළොව වෙනසක් පැවතුනා: නමුත් මිෂනාරීන් ගම් සභාවේ නායකයින්ට නින්දා කිරීම සඳහා දකුණු ඉන්දියාවේ පාවිච්චි කරපු කථා යොදා ගැනීමට දක්ෂවුනා.

සිංහලයන්ට නුහුරු නුපුරුදු පරිසරයකින් හැදුනත් මහ දනමුත්තා කථාව සිංහලයින් අතර අතිශයින් ජනප්‍රිය වුනා. පාසැල් මගින් වෙපරිද්දෙන්ම ජනප්‍රියකළ ගම්කථා රාශියක් තියෙනව. ගම්කථා වලින් ඉගැන්නුවෙම ගමරාලට සහ ගැමි ශ්‍රේණි නායකයින්ව නින්දාවට ලක් කිරීමයි. දැන් බලන්න මහාචාර්ය එදිරිවීර සරච්චන්ද්‍ර ප්‍රසිද්ධ නාට්‍යයක් හදපු එලොව ගිහින් මෙලොව ආවා කථාව මොකක්ද කියල. එක්තරා කෑහැලි හිඟන්නෙක් දවසක් ගමරාල නොදන්නාකුගෙ ගෙදරට ගිහින් කියනව තමාට පිනට මොකුත් දෙන්න කියල. ගමරාල ගෙදර හිටියෙ නැහැ. ගම හාමිනේ හිඟන්නාගෙ ශරීරෙ දුබල පුදුම වෙලා අහනව ඇයි මිනිහෝ උඹ මච්චර කෙට්ටු කියල. මොනවද හාමිනේ මම එලොව ගිහින් මෙලොව ආව. හිඟන්න පිළිතුරු දුන්න. එයින් හිඟන්න කීවෙ තමා අසනීපවි මියැදෙන්න ගොහින් යන්තම් ජීවත්වූ බවයි ඒකථාව ගම හාමිනේට තේරුනේ නැහැ. හිඟන්න එලොව ගියයි කියපු කථාව විශ්වාස කරපු ඇය එහෙම නම් මීට ටික කාලෙකට ඉස්සර මියගිය මගෙ දුව කළු එතනා උඹට හම්බ වුනේ නැද්ද සි හිඟන්නාගෙන් අහනව. ගමහාමිනේගෙ මෝඩකම වටහාගත් හිඟන්නා ඇයි නැත්තේ මම කළුහාමි. මම දුන් කසාද බැඳගෙන ඉන්නෙ එලොවදි හම්බවුනා කළුඑතනාව තමයි කියනව. ගමහාමිනේ මියගිය දුවගෙ ඇඳුම් රිදී රත්‍රන් බඩු සේරම හිඟන්නාට දෙනව. හිඟන්න ගිය නොබෝ වේලාවකින් අශ්වයා පිටේ කුඹුරේ සිට ගෙදරට එන ගමරාලට සිදුවූ සියල්ල ගමහාමිනේ කියපුහු කපටි හිඟන්නා අල්ලීමට ගමරාල හඹායනව. නමුත් අන්තිමට ඔහුට සිද්

වන්නෙ තම අශ්වයාත් අහිමිකර ගැනීමටයි. බලන්න ලංකාවෙ ගමරාලලා අශ්වයො පිටේද කුඹුරට ගියෙ. මොන ගමරාලටද අශ්වයො හිටියෙ. මෙම පාදිලිවරු ගොතපු කථා කියන්නෙ ඒ නිසයි. නමුත් සාමාන්‍ය ගුරුවරුන්ට තියා සරච්චන්ද්‍ර වැනි මහාචාර්ය වරයෙකුටවත් මේ ජනකථා මොන පරමාර්ථ ඇතුව හදල තියෙන ඒවද, ඒව ප්‍රචාරය කළයුත්තේ ඇයිද කියන කාරනා වැටහෙන්නෙ නැහැ. උන්නැහෙල විජිත වාදියගෙ අලෙවි නිලධාරින් වෙලා ප්‍රචාරක කටයුතුවල යෙදී ඉන්නව. ඒවා සඳහා මැග්සායේ තෑගි ලබාගන්නව. විශ්ව විද්‍යාලවල ඉගෙනීමට එන විද්‍යාර්ථීන් උපාධි සඳහා මාත් එක්ක එලොව යන්න කැමතිද උඩ අශ්වයෝ වනපොත් කරනව.

අලි වල්ගෙ එල්ලී ගමරාල දිව්‍ය ලෝකයට ගිය කථාව බලන්න. ඉන් නින්දුවට සහ සිනාවට ලක්කරන්නෙ ගමරාල සහ රිදිනැන්දුවයි. ගමයා බෙල්ලෙ වැල දමාගත් කථාව මගින් සිනාසෙන්නෙ ගුරුන්නාන්සෙට සහ ගමරාලටයි. සිංහල පොත්වල සඳහන් කර ඇති කථා වලටත් වඩා පාහර කථා ඉංග්‍රීසි පොත්වල අඩංගු කරල තිබෙනව. මේ විදියට සිංහල ශ්‍රේණි නින්දුවට ලක්කල විජිතවාදීන් ශ්‍රේණි ක්‍රමය කුල ක්‍රමයක් බවට පෙරළමින් කුල භේදය ඇති කිරීමට මහන්සි ගත්ත. ඔනැම යටත් විජිතයක ජාති ආගම් කුල භේද ඇතිකිරීම බ්‍රිතාන්‍ය විජිත වාදියාගේ චාරිත්‍රයක් බවත් ඔහු එය ඉගෙන ගත්තේ ඉංග්‍රීසි අධිරාජ්‍ය ගොඩනැංවීමෙන් ලැබූ අත් දැකීම් උඩ බවත් මා මුලින් කීව. ඉංග්‍රීසි විජිත වාදීන් පළමුවෙන්ම ලංකාවෙදි කරන්ඩ හැදුවෙ ජාති භේදයයි. ඒට හොඳම සාක්ෂිය තමා සියයට සියයක්ම සිංහලයො වාසය කරපු සිංහල රාජධානියෙ හදවත නැතිනම් ධාන්‍යාගාරයවූ වෙල්ලස්සේ පාලකයා වශයෙන් හජ්ජි මුහන්දිරම් නැමති යෝනකයාව පත්කිරීම. මෙක කුමන්ත්‍රණයක්. සිංහලයන්ව කුපිත කර ඔවුන්ට කැරැල්ලකට පෙළඹවීමටයි එය කළේ. සමහර විට කැරැල්ල ආරම්භ කරන්ඩ ඇත්තෙ ඒ කියන්නෙ හජ්ජි මුහන්දිරම්ව මරා දමන්ඩ ඇත්තෙ විජිත වාදීන් විසිනුයි. හජ්ජි මුහන්දිරම්ව මැරීම තමා විජිතවාදී හමුදාව උඩරටට ඇතුල්වීමට හේතුව කරගත්තෙ. එම කැරැල්ල වහල් කරගත් විජිත වාදීන් ලක්ෂ සංඛ්‍යාවක් සිංහලයින්ව මැරුවා. වැද්දන්ව සමූල ඝාතනය කළා, වැව බින්ද, ගම් පාළුකළා. ශිල්පීය ශ්‍රේණි පොඩිපට්ටම් කළා.

මේ අතර තුරේ ලංකාවෙ නැගෙණහිර පලාතෙ හිටිය වෙළඳ ශ්‍රේණියෙ සිංහලයන්ට සිදුවුනේ කුමක්ද? පෘතුගීසින්ගෙන් ආරක්ෂා කිරීම සඳහා සිංහල රජු විසින් නැගෙණහිර පදිංචි කරවා

ඒකාවරනය සැලසූ ශෝනකයින් විජිතවාදීන්ට එකතුවී කල දුටු කළ වල ඉහගත්ත. ඔවුන් නැගෙනහිර සිංහලයන්ව විනාශ කිරීමට ආධාර කළා. ඔවුන්ගේ ගම් බිම් අල්ලා ගත්ත. එපමණක් ද නොවේ විජිත ආණ්ඩුවේ ආධාර ඇතිව දකුණු ඉන්දියාවෙන් දහස් ගණන් මුක්කවර් සහ වෙනත් ඉස්ලාම් පිරිස් ගෙන්වා නැගෙණහිර පදිංචි කරවා ගත්ත. නැගෙණහිර පලාත්වල ඉතිරිවූ සිංහලයින් ස්වල්පයට තව දුරටත් සිංහලයින් වශයෙන් ජීවත් වීමට බැරිවුනා. ඔවුන් ඉතා ඉක්මනින් ද්‍රවිඩ ජාතිය අතර අවශෝෂණයවී ගියා. අදටත් නැගෙණහිර ද්‍රවිඩයින් සමහරුන් භාවිතා කරන මුදියන්සෙලගේ, මහගමගේ වැනි පෙලපත් නාම ගැන සොයා බලන්න. සිංහල පෙලපත් නාම සිංහල ග්‍රාම නාම පරම්පරා නාම වශයෙන් පාවිච්චි කරනව. එබඳු පෙලපත් නාම ඇති දෙමළ ජාතිකයින් කිහිප දෙනෙක් හෝ අපට යුරෝපයේදීත් හමුවී තිබෙණව. අද ද්‍රවිඩයන් ලෙස හැඳින්වෙන ඔවුන් කිසිසේත්ම ද්‍රවිඩයන් නොවේ. වෙළඳ ශ්‍රේනියේ සිංහලයෝයි.

බ්‍රිතාන්‍ය හමුදාව උඩරට රාජධානිය වනසා යටත් විජිත පාලන ක්‍රමය ඇරඹුව: එහි ප්‍රථම පියවර වතු වගා ව්‍යාපාරයයි. සිංහල ගම් බිම්, වැද්දන්ගේ වනාන්තරය, ආරක්ෂිත කඳුකර කලාපය එක යායට කොටුකරගත් විජිත ආණ්ඩුව ඒ ඉඩම් යුරෝපීන් අතර බෙදා දුන්න. මේ වතුවල වැඩ කිරීමට දකුණු ඉන්දියාවෙන් දෙමළ කම්කරුවෝ ගෙනාව. ඒ ලෙසින් දෙමළ කම්කරුවෝ ගෙන එන්නෙ මතු කලක සිංහලයන්ට විරුද්ධව යෙදවීම සඳහා බව එකල ලංකාවේ යටත් විජිතභාර ලේකම් එමර්සන් ටෙනන්ට් විජිත ආණ්ඩුවේ යටත් විජිත ලේකම් වෙත ලියා දන්වල තියෙනව.

පොලිසි ඇති කළේ වතු සහ වතුවගාකරුවන් ආරක්ෂා කිරීමටයි. මුල් කාලෙ පොලිස් සේවකයන් ලෙසින් පොලිසිවලට සේවකයින් ගෙනැවිත් ඇත්තෙ ඉන්දුනීසියාවෙන් හා මලයාවෙනුයි. පොලිස් ස්ථාන හදල තිබුණෙත් වතු ආශ්‍රිතවයි. පොලිසියෙ පරමාර්ථය වුනේ සිංහලයා විනාශ කිරීමයි. එමනිසා වතු වගා කරුවන් ආරක්ෂා කරනවා හැර ගම් වලට අරක්කු බීම පුරුදු කිරීම සහ මස් විශේෂයෙන්ම ගවමස් කෑම පුරුදු කිරීමටත් පොලිසි යොදවා තියෙනව.

යටත් විජිත ආණ්ඩුව ඒලඟට කළේ සිංහලයෝ වැඩිවශයෙන් ජීවත්වන ගම් සහ ප්‍රදේශ විනාශ වෙන්ඩ ඇරීමයි. ලෙඩ රෝග වසංගතවලින් වන්නිය වැනි ප්‍රදේශ වල ලක්ෂ ගණන් මියගියා.

මැලේරියාව, පාවනය ගම් වල නවාතැන් ගත්ත. මේ පළාත්වල සෞඛ්‍ය ගැන බිඳක්වත් උනන්දු නොවූ විජිත ආණ්ඩුව යාපනය සහ කොළඹ ගැන විශේෂයෙන් උනන්දු වුනා. යාපනයෙ මිෂනාරි ව්‍යාපාරය ඉතාමත් සාර්ථකව කෙරීගෙන ගියා. කෝල්බෲක්ගෙ යෝජනා නිසා ශිල්පීය ශ්‍රේණි ක්‍රමය අවලංගු වුනා. අධ්‍යාපනය මගින් කුලක්‍රමය පිළිබඳ පුළුල් වැඩ පිළිවෙලක් ගෙනගියා. ශ්‍රේණි වෙනුවට කුල ඇතිකළා. කුල භේදකළා. සිංහල සමාජ සංවිධානයේ අතිශයින්ම භාරදූර කාර්යයන්හි යෙදුන ශ්‍රේණිගත කුල බවට පැමිණෙව්ව. කුල භේදය අවුලවද්දී බ්‍රිතාන්‍ය විජිත වාදීන්ට හසු වුන හොඳම ආයුධය පෘතුගීසින් ඇතිකළ කරාව නැමති අභිනව කුලයයි. පෘතුගීසින් යටතේත් ලන්දේසින් යටතේත් ජීවත්වූ කරාව නම් කුලයෙන් ගතවූ කාලයේ ලංකාවේ සිදුවූ සමාජ විපර්යාසයට මුහුණදුන් උඩරැටියාට නොතිබුණ විශේෂ දැනුමක් තිබුණ අලුත් පිරිසක් බිහිවී සිටිය. ඔවුන් ධනයත් ගිම් කරගෙන හිටිය. විජිත වාදීන් කරාව කුලයේ බලපුළුවන්කාරයින්ව ගොවිගම නමින් අලුතින් ගොඩනංවා තිබූ කුලයේ උගත් ධනපතියන් සමග ගොන් පොරයට දැම්ම. කුල දෙකේම හපන්නු දිගට හරහට ඇනගන්ට පටන් ගත්ත. පත්තර සඟරා පොත් පිටකරමින් කුල කියා බැන ගත්ත. ඔවුනොවුන් ව්‍යවස්ථා දායක සභාවට තරඟ වැදුණෙ කුල උවමනාවන් සඳහායි. මොවුන් කොයි තරම් විරසකවී කටයුතු කළේදැයි කීවොත් ව්‍යවස්ථාදායක සභා මැතිවරණ වලදී ඇතැම්විට එක කුලයක් පැරදවීම සඳහා දෙමළ ජාතියේ පැත්ත ගැනීමට අනිත් කුලය පෙළඹුන අවස්ථා තිබෙනව. වරක් පොන්නම්බලම් රාමනාදන් යටත් විජිත මන්ත්‍රණ සභාවට ආවේ ගොවිගම කරාව කුල භේදයේ වාසිය ගෙනයි. විජිත ආණ්ඩුවේ පාලකයෝ නිවි සැනසිල්ලෙ පාලනය ගෙන ගියා. ව්‍යවස්ථාදායක සභාවෙ ස්වදේශිකයන්ගෙ බලය වැඩිකිරීම ගැන කරුණු විමසන විට සමහර කුල නියෝජිතයෝ තමන්ව ගොවිගම කුලයෙන් ආරක්ෂා කරල දෙන්නැයි විජිත වාදීන්ගෙන් ඉල්ලීම් කළා. කුල භේදය නිසා සිංහලයෝ සිංහල ජාතියේ පාලනයකට වඩා ඉංග්‍රිසි පාලනයේ යහපත පිළිගත්ත.

කරාව සහ සලාගම යන නම්වලින් හැඳින්වෙන කුල සිංහල ජාතියට අයිති නැති ද්‍රවිඩ සම්භවයක් ඇති ගෝත්‍ර දෙකක්ය කියල කථාවක් විජිතවාදීන්ගෙ උපදේශකයින් ප්‍රබන්ධ කළා. එය ගොන් පොරයේ යෙදී සිටින ගොවිගම පාර්ශවය ලවා ඉදිරිපත් කිරීමටයි ඔවුන්ට අවශ්‍ය වුනේ. මේ අතර කරාව නායකයින්ගෙ අනුග්‍රහය ඇතිව කරාව වංශය නමින් පොතක් පිටවුනා. එයින් කරාව වංශයේ ඉතිහාසය සිංහල ජාතියේ මුදුන් මුලට බැඳී ඇති බැව්

පෙන්වමින් කරාව වංශිකයන් ඉන්දියාවේ ක්ෂත්‍රිය ගෝත්‍රයක් බව කියා ගිවිග. එවිට තවත් උගතුන් පිරිසක් එක්වී කරාව වංශ ඉතිහාසය විජය රජුගේ පරම්පරාවටත්, ශ්‍රී මහා බෝධිය සමග පැමිණි බෝධිගුප්ත පරම්පරාවටත් සම්බන්ධ කර පෙන්වීමට උත්සාහ කළා.

විජිතවාදියගෙ අදහස හරියාකාරයෙන්ම ඉදිරිපත් කරමින් කරාව හා සලාගම කුල දෙමළ සම්භවය ඇති දකුණු ඉන්දීය ගෝත්‍ර දෙකක්ය යන ප්‍රබන්ධය ඇත්තක් කිරීමට උත්සාහ කළේ ලංකාවෙ ශ්‍රේණි ගැන මෙලෝ දැනුමක් නොලැබූ විදේශීය සමාජ විද්‍යාඥයින් සහ මානව විද්‍යාඥයින් කිහිප දෙනෙකු පමණයි. සමාජ විද්‍යාඥයින් සහ මානව විද්‍යාඥයින් යන නම් වලින් හඳුන්වන කණ්ඩායම් දෙක වනාගි යටත් විජිත වාදීන් සඳහා දැනුවත්ව හා නොදැනුවත්ව බොහෝ සේවය කරඇති උගතුන් කණ්ඩායම් දෙකක් ලෙසින් අප සැලකිය යුතුයි. ඇත්ත වශයෙන්ම යුරෝපීන් සමාජ විද්‍යාව සහ මානව විද්‍යාව යන විෂයන් දෙක සාදල මෙබඳු විද්‍යාඥයින් හා විද්‍යාර්ථීන් ඇතිකරන්ධ ගත්තෙත් යටත් විජිත පරමාර්ථයෙනුයි. ඔවුන් තමා රට රටවල ජීවත්වන විවිධ ජන කොට්ඨාශ ගැන තොරතුරු සොයමින්, සංස්කෘතීන් ගැන කරුණු හදුරමින් යුරෝපයට ඉදිරිපත් කරන්නෙ. ඒ තොරතුරු අනුව තමයි යටත් විජිතවාදීයා, භාණ්ඩ නිෂ්පාදකයා සහ මිෂනාරියා ක්‍රියාකාරි වෙන්නෙ.

යටත් විජිත පරමාර්ථයෙන් කටයුතුකළ බී. එච්. පාමර්, මයිකල් රොබට්ස්, බ්‍රයිස් රයන් වැනි පුද්ගලයො නැතිනම් සමාජ විද්‍යාඥයා කරාව සහ සලාගම කුල දකුණු ඉන්දියාවෙන් ලංකාවට සංක්‍රමණයවූ පසුව සිංහල ජාතිය විසින් අවශෝෂණය කරගත් ගෝත්‍ර දෙකකි යන කුමන්ත්‍රණකාරි බොරුව තර්කානුකූලව ඉදිරිපත් කළා. ඔවුන් කරාව සහ සලාගම කුල පැරණි ලංකා ඉතිහාසයෙ සඳහන් නොවන බව පෙන්නුව. සමහරෙක් මේ සංක්‍රමණිකයන් ලංකාවට පැමිණ ඇත්තේ 13 වැනි ශත වර්ෂයේ පසු දින වකවානු ඉදිරිපත් කරමින් බොරුව ඇත්ත කිරීමට තවත් වෙහෙසුනා. සිංහල කුල ගැන ලියන දෙඩමන ලංකාවෙ උගතුන් පැඩි අදහනක් ප්‍රසිද්ධකර ඇතිදැ කියවා බලන්න. මේ නම් සඳහන් කළ විජිතවාදී ප්‍රබන්ධ කථා කරුවන්ගෙ නම් සඳහන් නොකර ඔවුන්ගෙ මතවාද අනුමත නොකර ඒ සහතික උගතුන්ට කිසිමක් දැනුන්ට බැහැ එහි වධාත්ව ශෝචනීය ස්වභාවය සිංහල දෙමව්පියන්ට දාව සිංහල ගම්වල ඉපදී සමහරවිට ඔබේ මහා විද්‍යාලයක
[illegible]

සිංහල ශ්‍රේණී ගැන මයිකල් රොබර්ට්ස්ලාගෙන් අසා ගැනීමට සිදු වුවයි. ඔවුන් ගැන නොලියා සිංහල සමාජය ගැන ලිවීම තමන්ට ශුද්ධකමක් නැතිනම් තමන්ගෙ අඩුවක් ප්‍රකාශවීමක් ලෙසට මේ සහතිකකාරයො සලකනව.

කරාව යනුවෙන් කිශාපාන කුලය ගැන කථා කරද්දී විජිත වාදීන් විසින් බලහත්කාරයෙන් ඒ කුලයට ඇතුලත් කර ඇති උඩරැටියන් පිරිසක් ගැනත් අප දැනගත යුතුයි. 1817-18 කැරැල්ල මර්දනය කල විජිතවාදීන් කැරැල්ලේ නායකයින් ගණනාවකගේ අඹුදරුවන් අත් අඩංගුවට ගෙන කොළඹට ගෙනත් තියෙනව. පසුව ඔවුන්ව පුනරුත්ථාපනයට යොදා ඇත්තේ පානදුර කළුතර අතර එදා පිහිටවා තිබුණ අනාථ කලාපයෙයි. පුනරුත්ථාපන කටයුතු සම්පූර්ණයෙන්ම සිදුකර ඇත්තේ හමුදා අනුග්‍රහය ඇතිව ක්‍රිස්තියානි පූජකයින් විසිනුයි. ඔවුන්ගේ පුනරුත්ථාපන ව්‍යාපාරයේ ප්‍රධානම අරමුණ වෙලා ඇත්තෙ ඒ අත් අඩංගුවේ පසුවූ උඩරට නායකයින්ගෙ අඹු දරුවන් ක්‍රිස්තියානි කිරීමයි. කැප්පෙටිපොළ නිළමෙ තුමාගෙ පුත්‍රයා පවා මේ වැඩ පිළිවෙලට හසුවී තියෙනව. කැප්පෙටිපොල නිලමෙ තුමාගෙ පුතා ඇතුළු තවත් කැරැලි නායකයින්ගෙ පුතුන් පිරිසක් මොරටුවේ සිට ගෙනවිත් කෝට්ටේ ක්‍රිස්තියානි විද්‍යාලය හෙවත් සී. ඇම්. ඇස්. කොලීජියෙ රඳවා තියෙනව. එතනනාමයි ඔවුන්ට අධ්‍යාපනය ලබාදුන් සහ ඔවුන් ක්‍රිස්තියානි කළ ස්ථානය ලෙස සඳහන්වී ඇත්තෙ. මොරටුව පානදුර පුනරුත්ථාපන කලාපයේ කටයුතු අතිශයින්ම සාර්ථකවී ඇතත් ඒ කඳවුරු තුළිනුත් කලාතුරකින් හෝ තම අනන්‍යතාවය ගැන සිතූ අදීනයන් බිහිවුනා. එබන්දෙක් තමයි පුරං අප්පු නමින් සිංහල ජාතියේ ගෞරවය ලබන පුද්ගලයා. ඉතිහාසය ගැන විමසිලිමත්වූ තම මුතුන් මිත්තන් ගැන දැනගත්තාවූ, අදීනයෙක් ලෙස සිතා කටයුතු කිරීමට පෙළඹුනාවූ මෙම පුද්ගලයා තමාට පිය පාර්ශවයෙන් පවරා තිබූ ප්‍රනාන්දු නමත් මවු පාර්ශවයෙන් දී තිබූ මැල් නමත් ක්‍රිස්තියානි ආගමත් අළුයම ඉවත ලන කෙල පිඩක් සේ ඉවත දමා පුරං අප්පු නමින් බුද්ධාගම වැළඳ ගත්තා. ඉන්පසු පැලියගොඩ ප්‍රදේශයේ ඉපදුන ගොන්ගාලෙගොඩ බණ්ඩා නමින් බෞද්ධයෙකුවූ සිංහලයා සමග එක්වී තම මුතුන් මිත්තන් ජීවත්වූ ගම් බිම් සොයාගියා. එයි සිට යටත් විජිත වාදීන් ලංකාවෙන් එලවා දේශය හා ජාතිය නිදහස් කර ගැනීමේ උතුම් අදහසින් කටයුතු කර රටේ නිදහස වෙනුවෙන් ජීවිතය පරිත්‍යාග කළා. අද ලංකාවෙ නව යටත් විජිත වාදීන්ට දණ ගිමියෙන් බැල මෙහෙවරකම් කරන සිංහල ආත්මය නැති තුච්ඡ දේශපාලකයින් පුරං අප්පු අනුස්මරනය කරනව. [illegible] උත්සව පවත්වනව, පුරං අප්පුට තියෙන නෑදෑකම

හඟිස්සවනව. ඇත්ත වශයෙන්ම පුරං අප්පු ගුණ සැමරිය යුත්තෙ පුරං අප්පුගේ ජීවන දර්ශනය දූන වටහාගත් අදිනයන් පමණයි. එමනිසා මතු දිනයෙක මිෂනාරින් එක්වී පුරං අප්පු නමැති මොරටු පුතා වෙනුවෙන් අනුස්මරන උත්සව සංවිධානය කලොත් එය පුදුමයට කාරණාවක් නොවිය යුතුයි.

අප හිතවතෙක් ඔහුට හමුවුන යුරෝපයේ පදිංචිව සිටින මොරටුවේ උපන්නෙක් ගැන අපූරු කථාවක් කිව්ව. මෙම පුද්ගලයාගේ පරම්පරාවම මොරටුවට සම්බන්ධයි. එමනිසා මොරටුවේ පල්ලියක සොහොන් පිටියක බිම් කඩක් මෙම පුද්ගලයාගේ පරම්පරාවේ නැතිනම් පවුලේ අයට වෙන්වෙලා තියෙනව. මොහුගේ මව මියගියා. අවමගුලට යාමට නොහැකිවූ මෙම පුද්ගලයා පසුව් හෝ රටට, ගමට ගිය විගස කළේ මව වැලලූ තැනට යාමයි. මව වැලලූ ස්ථානය අවට හොඳින් එළි පෙහෙළි කර තිබුණ නිසා ඔහුට අසල ඇති පැරණි සොහොනයක් හොඳින් දකින්නට ලැබුණා. මැල් අප්පුහාමි යන නමත් 1885 වර්ෂයත් සොහොනේ සටහන් කර ඇති සැටි පෙනුනා. සොහොන ගැන කුතුහලයක් ඇතිකරගත් ඔහු ඒ ගැන නම වැඩිමහල් සොහොයුරියගෙන් විමසුවා. ''අපි කරාව මිනිස්සු නොවේ. උඩරට මිනිස්සු.'' ඇය නමා දන්නා ඉතිහාස ප්‍රවෘත්තියක් අනාවරනය කෙරුව. සොහොනේ අයිතිකරුවෝ අප්පුහාමිලා මොරටුවට ආ සැටිත් අප්පුහාමිලා මැල්ලා වුන හැටිත් දන්නවාදැයි සැකයි. දැනගත්තත් අදිනව නොසිතුවොත් ඔවුන්ට වැදගත්වන්නෙ උඩරට සම්බන්ධතාවය පිළිබඳ පුහුගවිය පමණයි.

පරම්පරා ගණනාවක් තිස්සෙ විජිත වාදින් යටතේ පුනරුත්ථාපනය වන ජනතාවකට අදීනව සිතීම හා තීන්දු ගැනීම ලේසි නැහැ. විජිතවාදය කියන්නෙ වහල් ව්‍යාපාරයක්. රටවල් යටත් කරගන්නව. ජනයා වහලුන් කරගන්නව. රටවල් නිදහස් වුනත් විජිතවාදින්ට වහලුන්වූ ජනයාට නිදහස්වීම අමාරුයි. පරම්පරාවල ජනකානුවල වහල්කම රැඳී තියෙනව. සොහොන් කොත පිළිබඳ මේ ප්‍රවෘත්තිය විශේෂයෙන් සඳහන් කළේ එය බ්‍රිතාන්‍යයන්ගේ මොරටු පුනරුත්ථාපන ගම පිළිබඳ සාක්ෂියක් නිසයි.

කරාව නමින් අද හඳුන්වන ඔබලා විසින් අදහස් කළ කුලය කුමක්දැයි වටහා ගැනීමට මේ කාරනා ප්‍රමාණවත් වේයයි සිතනව. කරාව නමින් කුලයක් ඇතිකර තිබෙන්නේ යටත් විජිත වාදින් විසිනුයි. ඊට පෙර තිබී ඇත්තේ කරව නම් සිංහල වෙළඳ ශ්‍රේනියයි. කරව වෙළඳ ශ්‍රේනිය ගැන තමත් බොහෝ තොරතුරු අරාබි හා පෘතුගීසි ලේඛනාගාරවල තැන්පත්ව ඇතිබව කිව යුතුයි. කරාව කුලය සහ කරව වෙළඳ ශ්‍රේනිය අතර විශාල වෙනසක් තියෙනව,

කාරාව කුලය ගටතේ සංවිධානයවී සිටින්නන්ගේ අදීනත්වයේ සීමා ගැන ඔබලාගේ අදහස් කිව්වා. කරව වෙළඳ ශ්‍රේණිය ගටතේ සංවිධානයවී සිටි අදීනයන් ගැන අප දන්නා කාරනා විස්තර කළා. දැන් අප කී කාරණා ආධාර කරගෙන තවත් බොහෝ දේ සෙවීමට හා දැනගැනීමට ඔබලාට පුළුවන් වෙනවා. ඔබලාගේ වෑයම සාර්ථක වේවා.

ශ්‍රී ලංකාවේ බස්නාහිර වෙරළ බඩ ගම් දෙකක ඉපදී හැදී වැඩී ජර්මන් ජාතිකයින් දෙදෙනෙකු සමග විවාහවී යුරෝපයට පැමිණි පුණ්‍යා (පෙර නම මේරි) සහ විශාඛා (පෙර නම ඇනී) යන සිංහල කාන්තාවන් දෙදෙනාගේ ආරාධනය පරිදි කොළව් සේනානායක විසින් පොතක් වශයෙන් පිළියෙල කරන ලද මහාසේනයන්ගේ කරාව කථාව නිමාවේ.

කරාව කථාව පිළියෙල කිරීමේදී බ්‍රසිලියානු චිත්‍ර ශිල්පී (Gstavo Castro) සහ පෘතුගීසි ජාතික කලාකාරියක්වූ (Terese Berreto) උපකාර කළහ. මුද්‍රණ කටයුත්තේ වෙහෙසුනේ ජෙරාඩ් අබේසිංහයි. පොත බෙදා හැරීමේ කටයුත්ත කෙරෙනු ඇත්තේ ඩබ්ලිව්. ජේ. තිලකරත්න ගෙනි. ඔවුන් සැමටත් අත් පිටපත පරිගණක අකුරුවලට පෙරලූ මහත්මින් සහ පොත මුද්‍රණය කිරීම සඳහා ඉදිරිපත්වූ බර්ලින් ශ්‍රී ලංකා මානව හිමිකම් සුරැකීමේ සංවිධානයටත් ප්‍රකාශකයාගේ කෘතඥතාවය හිමිවේ.

නිමි,



ගෝතමාලාවේ MAJAWIL QIJ සංවිධානයේ ප්‍රකාශණයකින් උපුටා ගත්තකි.

රටවාසින් හාමතින් මිය යද්දී දිලිදු ඩොමිනිකන් රටේ ආණ්ඩුව කොලොම්බස්ගේ පාද ස්පර්ශවූයේයයි කියන ප්‍රදේශයක ජීවත්වූ මිනිසුන් දහස් ගණනකගේ පැල්කොට කඩා ඩොලර් මිලියන හතලිහක් වැය කොට කුරුසියක හැඩ ඇති ආලෝක මන්දිරයක් ගොඩ නැංවූවේය. මේ විසරු ක්‍රියාව රටේ මුල් පදිංචි කාර ඉන්දියානුවන් ඇතුළු ලක්ෂ ගණන් රටවාසීන්ගේ බලවත් අප්‍රසාදයට කරුණක් විය. කොලොම්බස් 500 ප්‍රීති උත්සව හෙළා දකිමින් ඩොමිනිකන් රට ඇතුළු මුලු ලතින් ඇමරිකාවේම මුල් පදිංචිකාරයින්ගෙන් පැවතෙන ඉන්දියානුවෝ ප්‍රමුඛ මානව හිත වාදීන් අප්‍රසන්නතාවය ප්‍රදර්ශනය කරන්ට වන්හ.

සාන්ත ඩොමින්ගෝවේ කොලොම්බස් 500 සංවත්සරයට ගොඩනැංවූ ආලෝක නිවාසයේ පැමති උත්සවයේ ප්‍රධාන ආරාධිතයා වශයෙන් පාප්තුමා ආවේය. සාමකාමී විරෝධතා ව්‍යාපාර ඝනාගේ වෙනස්කම් ඇතිවිය. පොලිසි, හමුදා එක්වී බැටන් ප්‍රහාර, කඳුළු ගෑස් ගසා අන්තිමට තුවක්කුද පත්තු කළහ. එහි සිදුවීම් ජාත්‍යන්තර ජන මාධ්‍යයන් වාර්තා කළේ ඉතා අඩුවෙනි.

යුරෝපීය ජනතාව ඇමෙරිකාවේදී පව් කළහ.........

......යුරෝපීන් ක්‍රිස්තියානි ධර්මය ඇමරිකාවේ පැතිරවීමේ අධිකාලමක් දැමීම විශාල කීර්තියකි......... සාන්ත ඩොමින්ගෝ බිෂොප් සම්මන්ත්‍රණය අමතා පාප්තුමා කළ කථා පිළිබඳව වාර්තා කළ මෙයර්කිෂ අල්ගමයිනර් (ඔක්තෝම්බර් 7 දින) පත්‍රයේ වාර්තාවකිනි,

ලෝක ඉතිහාසයේ ලොකුම මනුෂ්‍ය ඝාතන වලින් නව ලෝකය ක්‍රිස්තියානි කිරීම ආරම්භ කළා......එක ඉන්දියානුවෙක් ක්‍රිස්තියානි කිරීම සඳහා ඉන්දියානුවන් විසිපස් දෙනා බැගින් මරා දමා තිබෙනව.........ඉන්දියානුවන්ගෙන් සහ වහලුන්ගෙන් පැවතෙන්නන්ගෙන් බ්‍රසීලයේ බිෂොප්වරු සමාව ඉල්ලති......
මෙයර්කිෂ අල්ගමයිනර් ඔක්තෝම්බර 14 දින

Markische Allgemeine Okt 7 සහ 14 පත්‍ර වලිනි.

කොලොම්බස් 500 සංවත්සර උත්සව සමග ඇමෙරිකාවේ මුල් උරුමක්කාරයින් අතර ඉන්දියානු උරුමය වැළඳ ගැනීමේ නව උද්යෝගයක් පහළවී ඇත. චිත්‍රය ඒ පිබිදීම කියා පාන්නකි.



## යුරෝපා ගම

1. ගමක් කිව්වෙ වංශාධිපතියගෙ ප්‍රවේණියටයි.

2. වංශාධිපතියගෙ උදව්වට දෙවියන්ගෙ නියෝජිතය. එහෙවත් පාදිලිමරයා

3. විවිධ වෘත්තීන් පැවරූ එම වෘත්තීන් අනුව බෙදූ ප්‍රවේණිදාසයින්

1. සපත්තුමහන 2. ධීවර 3. ගොවි 4. කම්මල්වැඩ 5. ධාන්‍ය අඹරන 6. සන්නාලි 7. කුඹල්වැඩ 8. දඬුයම්කරන 9. මේසන් වැඩ 10. වඩුවැඩ 11. මස්මරන

ආදී ලෙසින් ප්‍රවේණියක තිබිය. වංශාධිපතියාගේ දැඩි පාලනයට යටත්වූ ප්‍රවේණිදාසයින් ඉතාම දිළිඳු හා අසරණ ජීවිත ගතකළහ. [illegible] නොමිනිසුන් [illegible] ප්‍රවේණිදාසයින් යුරෝපයේ [illegible] රචිතවූ [illegible],

# යුරෝපා ගම රූප සටහනට සම්බන්ධයි.

ගම කිව්වෙ වංශාධිපතියගෙ ප්‍රවේණියටයි. ඒට බැඳිල හිටිය මනුස්සයො ප්‍රවේණිදාසයොයි. ඔවුන්ට වෘත්තීන් පරම්පරාවෙන් වෘත්තීන් අනුව පෙළපත් වලට බෙදල තිබුණ, ප්‍රවේණිදාසයෙකුට වෘත්තිය මාරුකරන්නවත් වංශාධිපතියගෙ අවසරය නැතිව ගමෙන් පිට යන්නවත් ප්‍රවේණියෙ වෘත්තිය කුලේ අයෙක් සමග හෝ විවාහ වෙන්නවත් නිදහසක් තිබුණෙ නැහැ. වැඩවසම් ගමේ නිෂ්පාදන හා සේවා ක්‍රමය නැතිනම් ආර්ථික සංවිධානය මෙයයි. වංශාධිපතියගෙ උඩවියට දෙවියන්ගෙ නියෝජිතය හෙවත් පාදිලිවරයා හිටිය. විවිධ වෘත්තීන්හි යොදවපු දාසයින්ට සංඥා නාම දුන්නෙ ඔහුයි. අදටත් ජර්මනියෙ භාවිතා කරන පුද්ගල නාමවල පැරණි වැඩවසම් සමාජයෙ ලක්ෂණ ඉතිරිවී ඇතිසැටි දැකිය හැකියි.

| ප්‍රවේණියේ පෙළපත් නම | පල්ලියේ සංඥා නාම | |
| --- | --- | --- |
| Schuhmacher | Christina | සපත්තුමහන්නන්ගේ ක්‍රිස්තිනා |
| Fischer | Antony | මාලුකාරයින්ගේ අන්තෝනි |
| Bauer | Lucia | ගොවියන්ගේ ලූසියා |
| Schinied | Peter | යකඩතලන්නන්ගේ (පීතර) |
| Schneider | Peter | ඇඳුම් මහන්නන්ගේ (පීතර) |
| muller | Robert | ධාන්‍ය අඹරන්නන්ගේ රොබට් |
| Topfer | Paul | කුඹල්කරුන්ගේ පෝල් |
| Jager | Thomas | දඩයක්කාරයින්ගේ තෝමස් |
| Metzit (Metzger) | David | සතුන්මරන්නන්ගේ දාවිත් |
| Tischler | Jochim | වඩුවන්ගේ ජෝකිම් |

අදත් යුරෝපයේ ඕනෑම රටකදී වැඩවසම් යුගයේ නම් භාවිතා වූ ලකුණු දක බලාගන්ඩ හැකියි. ජර්මනියෙන් උදාහරණ දක්වා සිටියොත් මේ රටේ කොතැනකදී හෝ නම සඳහන් කරන විට එසේ නැතිනම් අයදුම් පත්‍රයක් පුරවන විට කොටස් දෙකක නමක් දක්වා සිටිය යුතු වෙනවා: පළමුව් අයත්වෙන උපන්ගෙයි නම Familiename නැතිනම් Geburtsname (ඉංග්‍රීසියෙන් Surname) යි. ඊළඟට Vorname හෙවත් Christiname නමයි. උපන්ගෙයි නම කියන්නෙ එදා වැඩවසම් සමාජයේ උපන්ගෙයි වෘත්තියයි ක්‍රිස්තියානි නම එදා පාදිලිවරයා දුන් ක්‍රිස්තියානි නමයි. පාදිලිතැන ලඟ හැමෝටම දෙන නාම ලැයිස්තුවක් තිබුණ. ඒ නම වෘත්තිය නමක් සමග කීමෙන් තමයි පුද්ගලයා හඳුනාගන්ට හැකිවුණේ. නිදහුනක්

දුක්බූමොත් එකම ප්‍රවේණියෙ අන්තෝනිල කිහිපදෙනෙක් හිටිය. එමිට ෂාළු කාරයින්ගෙ අන්තෝනි, මස් මරන්නන්ගෙ අන්තෝනි පිදිගට උපන්ගෙයි නම කීමෙන් තමයි පුද්ගලයා හඳුනා ගත්තෙ.

බොහෝ හේතූන් නිසා කාලයකදී ප්‍රවේණිවලට බැඳී සිටි සමහර දසයින්ට ප්‍රවේණි බැම්මෙන් ගැලවෙන්ට අවශ්‍යවුනා. ප්‍රවේණිදසයා නිදහස්වීම යනු වැඩවසම් සමාජ බිඳ වැටීමයි. එමනිසා වැඩවසම් ක්‍රමයේ සුරක්ෂිත භාවය සඳහා නොයෙකුත් නීති හා උපාය මාර්ග සෙවීමට වංශාධිපතීන්ට සිදුවුනා. එම කාර්යයේදී වංශාධිපතියාගේ හොඳම සහායකයා වූයේ පාදිලිවරයායි. මධ්‍යතන යුගයේ හඳුන්වා දුන් පාදිලිවරයාගේ කතට කොඳුරා කරන පව් සමාව පව් ලෙස ඉගැන්වූ කාරනා විභාග කරන විට ඒ හැමකකම පරමාර්ථය වුනේ වැඩවසම් ක්‍රමය ආරක්ෂා කිරීම බව පැහැදිලි වෙනවා. මේ මහජන නිදහස ඇහිරූ ආගම අබිං යයි මාක්ස් ලිව්වා. නමුත් මාක්ස්ට බොහෝ කලකට පෙරසිට ආගමේ මිලිටරි බවට විරුද්ධව කටයුතු කිරීමේ අවශ්‍යතාවය ඇතිවූවින් යුරෝපයේ ඇතිවුනා. කතෝලික සභාව ඉවතලා කළ චින්තන විප්ලවය නිසයි රෙපරමාදු දසුන උපන්නෙ.




## පුරාණ සිංහල ගම

1. වැව
2. බැද්ද
3. ගම් ගොඩ පත්සල
4. ශිල්පිය ශ්‍රේණි එක්වෙලා හැදුන කොවිලය නම්වූ ග්‍රාම සභාව

හැමවිට්ම ගමක් තිබ්බෙ ගම් ගොඩකටයි. මේ ගම් ගොඩ නැතිනම් මහ ගම මහා සම්මතයට නැතිනම් සම්ප්‍රදායට බෙදිල ශිල්පිය ශ්‍රේණි ගණනක් එක්වෙලා හැදුන හැම ශ්‍රේණියකටම තම ශ්‍රේණිය ගැන ආඩම්බරයෙන් කියන්ඩහැකි ඉතිහාස කථාවක් පැවතුනා. උදාහරණයකට දක්වතොත් දඹදිව ධර්මාශෝක රජ්ජුරුවො දේවානම්පිය තිස්ස රජතුමාගෙ ආරාධනාව පරිදි මහාබෝධියේ ශාඛාවක් ලංකාවට වැඩමවෙච්ච. ඒ සමගම බෝධියේ ආරක්ෂාව සඳහා බෝධ හාර නම් කුලයක්ද ලංකාවට එවූ බව

මහාවංශයේ සඳහන් වෙනව. ලංකාවෙ කුල නමින් හැඳින්වූයෙ ශිල්පීය ශ්‍රේනියි. මහාචාර්ය ජේ. බී. දිසානායක ලියූ සිංහල බුදු සමය නමැති මාහැඟි ග්‍රන්ථයේ ඒට තොරතුරු රැස්කර දුන් බෝධිහාර කුල පරම්පරාවෙන් පැවතෙන්නන් දෙදෙනෙකුගේ නම සඳහන් කරනව. ඉන් පළමුවැන්නා තෙලගිපාත නවරත්න සූරිය කුමාර බෝධිගුප්ත චින්තාමාණික්‍ය අභයකෝන් තිලකරත්න වාසල මුදියන්සේ හාමිල්ලාගේ පුංචි බණ්ඩාර මහතායි.

පුංචි බණ්ඩාර මහතාගේ පෙළපත් නාමය හොඳහැටි තේරුම් ගැනීම සිංහල පෙළපත් නම් සහ වාසගම් තේරුම් ගැනීමේ හොඳම මගයි. යුරෝපයේ පැවතුන අන්දමේ ප්‍රවේණිදාස ක්‍රමයක් සිංහල සමාජයේ කවරදාවත් තිබුණේ නැහැ. හැම ශිල්පීය ශ්‍රේනියක්ම එකතුවෙලයි රට ගොඩ නැංවුවෙ, එම කාර්යයේදි රට, ජාතිය, ආගම වෙනුවෙන් හැම ශ්‍රේනියක්ම උසස් සේවාකර තිබෙනව. එහිදි තමතමන් ලැබූ ගෞරව සම්මාන පටබැඳි නම්ගැන හැම ශ්‍රේනියක්ම ආඩම්බර වුනා. ඔවුන් උචිතා ස්ථානවලදී තමන්ගෙ ශ්‍රේනියට අයත් ගෞරව නාම භාවිතා කළා. යුරෝපා වැඩවසම් සමාජයේ ප්‍රවේණි දාසයෙකුට කවරදාවත් සම්මානයක් ලැබිල නැහැ. ඔවුන්ට කථා කළේ වෘත්තීය නාමය යමග පාදිලිවරයා පැවරූ ක්‍රිස්තියානි නාමය කියලයි, වංශාධිපතියටයි හැම නම්බු එක්ම ලැබුණේ. නමුත් සිංහල සමාජයේ වෘත්තීය නාමයෙන් කෙනෙකුට කථා කරල නැහැ. ඒට හේතුව වෘත්තියක් පහත්කර නොසැලකීමයි. වෘත්තියක් නොකිරීමයි පහත් කාර්ය වුනේ. එම නිසා පුරාණ සිංහල ගමේ කිසිම ශ්‍රේනියක් තමා උසස් යයි හෝ පහත් යයි කියා හිතුවෙ නැහැ.

පුංචි බණ්ඩාර මහතාගේ නමට අයිති හැම සම්මානයකටම ඉතිහාස කථාවක් තියෙනව. එපරිද්දෙන් ලංකාවෙ හැම ශිල්පීය ශ්‍රේනියකටම විවිධ පෙළපත් නාම තිබුණ. ඒ හැම පෙළපත් නාමයක්ම සම්මාන එක්වෙමින් හැදුන වාගේම හැම සම්මානයකටම ඉතිහාස කථාවක් පැවතුනා.

ගම්ගොඩ පාලනය වුනේ ශ්‍රේනි නායකයින්ගෙන් සැදුනු ග්‍රාම සභාවක් මගිනුයි. ඒට කොවිලය කියා කිව්ව ග්‍රාම සභාවේ නායකයා මුල් කාලයේ ග්‍රාමණිවරයා පසුකලක ගමරාල නමින් හැඳින්වෙන්ඩ ගත්ත. පැරණි සිංහල ග්‍රාම සභාව ව්‍යවහාර්ථයෙන්ම

ප්‍රජාතන්ත්‍රවාදී සභාවක්. ගැමියෝයි තමාගෙ ගම පාලනය කර ගත්තෙ. මෙවැනි ප්‍රජාතන්ත්‍රවාදී ග්‍රාම සභා යුරෝපයේ කවරදාක වත් තිබිල නැහැ.

ගැමියෙකුට ගමෙන් පිට යන්ඩ කාගෙන්වත් අවසර පත්‍රයක් ගන්ඩ උවමනා වුනේ නැහැ. අන්තර් ශ්‍රේනි විවාහ වලට විශේෂයෙන් ඇවැස්ස විවාහ වලට කාගෙන්වත් අවසරය ගන්ඩ අවශ්‍ය වුනේ නැහැ. ශ්‍රේනි අතර විවාහ සඳහා විශේෂයෙන් විවාහ සිදු කෙරෙන ශ්‍රේනිවල අවසරය අවශ්‍යවුනේ රටේ ආර්ථික සංවිධානය රැක ගැනීමට අවශ්‍යවූ නිසයි.

පෙර අසා ඇති නිසාවත්, පාරම්පරික චාරිත්‍ර මගෙහි ඇති නිසාවත්, මෙය මෙසේයැයි ඉතිහාසයෙහි සඳහන්ව ඇති නිසාවත්, පිටකයෙහි තිබෙන නිසාවත්, තර්කයට ගැළපෙන නිසාවත්, න්‍යායට ගැළපෙන නිසාවත්, විචාරයට හසුවන නිසාවත්, පිළිගත් මතයට අනුකූල නිසාවත්, කෙනෙකුගේ දක්ෂතාවය නිසාවත්, ඒ තෙමේ අපේ ආචාර්යවරයා යයි ගත හැකි නිසාවත් යමක් පිළිගතයුතු නොවේ. තම බුද්ධියෙන් විමසා බලා සත්‍යයි තමන්ට වැටහෙතොත් පමණක් පිළිගත යුතුය.

කාලාම සූත්‍රය

බර්ලින් ශ්‍රී ලංකා මානව හිමිකම් සුරැකීමේ සංවිධානයේ ප්‍රකාශනයකි.

Human Rights in Sri Lanka
Warther str: 58
12051 Berlin
Germany

ISBN - 955 - 95572 - 0 - 3